සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2557ක් වූ මැදින් මස (ව්‍යවහාරික වර්ෂ 2014 මාර්තු)

29 වෙනි කලාපය



## අමනුෂ්‍යයින්ගෙ වග තුග...

රු. 20/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# අපමණ පෙරත් සසරේ එදා...





අපමණ පෙරත් සසරේ එදා සිත් අන්ධ වී බැඳුනෙන් තදින්
කොපමණ කළත් කිව්වත් හොඳයි කියනා ලොවේ මිදුමට දුකින්
අද එතෙර වී නැත ඒ බලෙන් මේ මන්ද ඒ අඩු කාරණා
ඇසුවත් කෙනෙක් නැත තේරෙනා.....



මහ මුනි දෙසූ තුම් දම් කඳින් සුන් වී ගියා තුන් දෝසයෙන්
නැහැ කිසි සැකක් ඒ ගැන එදා ලෝ වැඩ විසූ මහ අරිහතුන්
එනමුත් මෙදා කෝ ඒ ගුණෙන් සව් සතට දුන් බණ භාවනා.....
නෑ නිම වෙලා දුක් වේදනා.....

හටගත් දෙයක් පැවතී කලක් යළි වැනසෙනා දම් නියමයෙන්
දහමත් වෙලී පෙර යටගියෙන් යුගයක් උදා විය අඳුරුවෙන්
දවසක් යළිත් දම් බබළමින් සැනසෙන්න එනවා දේසනා.....
ලෝ සව් සතුන් වෙත වාසනා.....



මෙකලත් එවන් දම් රැළි නැගී වැනසෙන්න පෙර ලැබූ මනු භවින්
වරලත් දමින් පින්වන්තයෙක් ලෙස එතෙර වන්නට තුන් ලොවින්
කප් කෙල ගියත් නැති බණ අසන් සව් සතට දෙන මේ ආරාධනා.....
මොක් පුර රුවන් දම් වැහෙනා.....

ගී පද රචනය : නිහිඳු චන්දන සිරිවර්ධන
තනු නිමැවුම සහ සංගීතය : නවරත්න ගමගේ
ගායනය : වී. එම්. ජයරත්න









# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුලින්...

**9 වන කොටස**



මෙයින් කල්ප ලක්ෂයකට පෙර හිමාලයේ තිබුන එක්තරා අසපුවක තාපසවරයෙක් හිටියා. එතුමා දැක්කා, එක්තරා විශේෂ උත්තමයෙක් හිමාලය අසල සමාධි සුවයෙන් වැඩ ඉන්නවා. මේ තාපසතුමාට, ඒ කියන්නෙ මෙකල චුල්ලපන්ථක මහරහතන් වහන්සේට මේ උත්තමයව හඳුනගන්න මහ ලොකු වෙලාවක් ගියේ නෑ. ලොව අති දුර්ලභව පහළ වෙලා ඉන්න මහා උත්තමයෙක් කියල එවෙලෙම අඳුන ගත්තා. ඒ කියන්නෙ මෙයින් කල්ප ලක්ෂයකට පෙර ලොව පහළ වූ පදුමුත්තර බුදුපියාණන් වහන්සේ. ඉතින් මේ තාපසතුමා මල් වට්ටියක් අරන් ගිහින් උන් වහන්සේ ළඟ හිටියා. නමුත් උන්වහන්සේ සමාධියෙන් වැඩ සිටිය නිසා ඒකට බාධා කරන්න ගියේ නෑ. පදුමුත්තර බුදුපියාණන් වහන්සේ සමාධියෙන් නැගිටින කල්ම බලාගෙන හිටියා.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇයි බාධා නොකළේ කියල. බුදුන් වහන්සේ නමක් කවදාවත් අහිතක් හිතන්නෙ නෑ. නමුත් ඇයි බාධා නොකළෙ? ඇත්තටම ඒක උතුම් ගුණයක්. බුද්ධ දේශනාවෙ මෙහෙම දෙයක් පෙන්වා තියෙනවා.

''බෞද්ධයාට බොජ්ජංග ධර්ම හැර, තපෝ ගුණය හැර, නිවන හැර වෙනත් සුවයක් මා නොදකිමි.''

තපෝ ගුණය කියන්නෙ රාග, ද්වේශ, මෝහ යටපත් කරපු මොහොතක්. ඒ වගේම මේ තාපස තුමාට ඒ සුවය ගැන අත්දැකීම් තියෙනවා. නමුත් ආර්ය විනයේ තපෝ ගුණය කියන්නෙ රාග, ද්වේශ, මෝහ යටපත් කරපු ගුණයට වඩා එහා ගිය ක්ෂය කරපු ගුණයක්. ඒ සැනසීමේ තරම එතුමා දන්නවා. ඒ වගේ අවස්ථාවක බාධා කළොත් ඒ අයටත් ඒ හා සමාන විපාකයකට මුහුණ දෙන්න තියෙන ඉඩකඩ වැඩියි. සමහර විට බණ අහන්න යන්න තියෙන අවස්ථාවක් වැළකෙන වැඩක් වෙන්න පුළුවන්. බණ වැටහී ගෙන එනකොට, කෙනෙක් ඇවිල්ල පිටට තට්ටු කරල ඒ අයටත් බාධාවක් කරන්න පුළුවන්. කෙනෙක් ලෞකිකව හෝ ලෝකෝත්තරව නොයෙක් ආකාරයෙන් තව කෙනෙකුට බාධා පමුණුවන්න පුළුවන්. විභාගයකට කෙනෙක් පාඩම් කරන කොට තව කෙනෙක් ඒ ගෙදරම හයියෙන් කතා බහ කරනවා, එක්කො සින්දුවක් අහනවා. ඒක ලෞකික පැත්ත. ඒ වගේම කෙනෙක් බණ අහන්න යන්න ලැස්ති වෙන කොට ඒකටත් බාධා වෙන විදිහෙ වැඩ කරන්න පුළුවන්. මේක නොයෙක් ආකාරයෙන් වෙන්න පුළුවන්. එක්කො ගෙදර අඩුපාඩුකමක් කියල ඒ ගමන නතර කරල, අර අඩු පාඩුව මකා ගන්න යවන්න පුළුවන්. එහෙම නැත්නම් බනින්න පුළුවන්. ''ඉන්නෙත් එක දවසයි, නිවාඩුවකටවත් ගෙදර ඉන්නෙ නෑ, අදත් යන්නද හදන්නෙ?''... මේ විදියෙ නොයෙක් ආකාරයේ බාධා කිරීම් කරන්න පුළුවන්. මේකට ස්ත්‍රී පුරුෂ භේදයක් නෑ. අම්ම බණ අහන්න යනකොට ළමයි බාධා කරන්න පුළුවන්. ''අම්ම ගියාම කවුද පොඩි එකා බලාගන්නෙ, අපිට වැඩට යන්න තියෙනවා. අපි වැඩට නොගියොත් මාසෙ ජීවත් වෙන්නෙ කොහොමද?'' මේ විදියෙ නොයෙක් ආකාරයේ ප්‍රශ්න. ඒවායෙ බරපතලකම නොදැන මේ වගේ බාධා කරන්න පුළුවන්. පිට අය බාධා නොකළත් සමහරු තමන් තමන්ටම බාධා කර ගන්නවා. ඇත්තටම ඒ ජාතියේ බාධා නම් බොහෝ විට විපාක වශයෙන් එන ඒවා කියල අනුමාන කරන්න පුළුවන්. ''එක්කො ඕන නෑ ලබන සතියෙත් බණ කියනවනෙ, එතකොට යනවා. පෝයට සෙනග වැඩියි, මාසෙ පෝයට යනවා, එතකොට සෙනග අඩුයි.'' මේ තමයි තමන් තමන්ටම දාගන්න බාධා.

චුල්ල පන්ථක හාමුදුරුවන්ටත් මේ ජාතියේම වෙනත් කෙනෙකුට කරපු බාධාවක විපාකයක් තමයි අවසාන අත්බැවේ ආවෙ. ඒ ගැන පහළින් විග්‍රහ කරල තියෙනවා. ඉතින් අර කලින් කියපු තාපසතුමා සුපුරුදු පරිදි අර මල් වට්ටිය බුදුන් වහන්සේ පාමුල තියල මහා ගෞරවයෙන් උන්වහන්සේට පූජෝපහාර කළා. අදින් කල්ප ලක්ෂයකට පසු පහල වෙන ගෞතම නම් බුදුන් වහන්සේ අභියස මනෝමය ශරීර මවන්න පුළුවන් අය අතරින් අග තනතුර ලබල චුල්ල පන්ථක නමින් අරිහත් වෙනව කියල පදුමුත්තර බුදුපියාණන් වහන්සේ අනුමෝදනාව කරල විවරණ දුන්නා. ☞

උන්වහන්සේට ගිහි කළ මහා පන්ථක නමින් වැඩිමහල් සහෝදරයෙක් හිටියා. මේ දෙන්නම මහ මග, එනම් පන්ථයේ උපන් නිසා පන්ථක කියල නම ලැබුණා. වැඩිමහල් සහෝදරයාට මහා පන්ථක නමිනුත්, බාල සහෝදරයාට චුල්ල පන්ථක නමිනුත් නම් ලැබුණා. මහා පන්ථක, ගෞතම බුද්ධ සාසනයේ පැවිදි වෙලා නොබෝ කලකින් අරිහත්වයට පත් වුණා. උන්වහන්සේ මහා පන්ථක රහතන්වහන්සේ නමින් හැඳින්වුවා. ඒ වගේම චුල්ල පන්ථක දරුවත් ඒ විදියට මහණ වුණා. උන්වහන්සේ චුල්ල පන්ථක තෙරුන් යන නමින් හැඳින්වුවා. පැවිදි වෙච්ච දවසෙම උන්වහන්සේට පෙර සසරෙ කරපු කර්මයක් විපාක හැටියට ලැබුණා. පැවිදි වුනා නොවුනා කියල ඒකෙන් ගැලවීමක් නෑ. කළ කම් පළ දෙනවා. අන්තිමට කිසිම දෙයක් මතක තියාගන්න බැරි තත්වෙට පත්වුණා. කොටින්ම කියනව නම් පේළි හතරක ගාථාවක එකම එක වචනයක්වත් මාස හතරක් ගිහිල්ලත් මතක තියාගන්න බැරි වුණා. මේ තියෙන්නෙ බුදු ගුණ ගැන කියපු ගාථාවක්

> පදුමං යථා කොකනදං සුගන්ධං
> පාතෝ සියා ඵුල්ලමවීත ගන්ධං
> අඞ්ගීරසං පස්ස විරෝචමානං
> තපන්තමාදිච්චමිවන්තලික්ඛෙති

මේ ගාථාව පිංගියා කියන බ්‍රාහ්මණයෙකුට බුදුන් වහන්සේ ඉදිරියේ එවෙලෙම සමාධියෙන් නැගුණු ගාථාවක්. (පිංගියානි සූත්‍රය - අංගුත්තර නිකාය 3 - 13 පිටුව) මේ ගාථාවට ත්‍රිපිටකයේ දී ඇති සිංහල තේරුම නම්,

උදාසන්හි පිපි නොහළ සුවඳැති කොකනද සංඛ්‍යාත සුවඳවත් රත් පියුමෙක් යම් සේ වේ නම්, එසේ වූ අහස්හි තෙවුනා හිරු මෙන් වොරදනා අංගීරස (සිරුරු රැස් විහිදෙන) බුදුන් බලව. ධම්ම පද අට්ඨ කතාවේ තේරුම තියෙන්නෙ මෙහෙමයි. (චුල්ල පන්ථක තෙරුන්ගේ කතා වස්තුව, අප්පමාද වග්ගය)

> කොකනද නම් ලද පියුම් සුවඳ ඇති
> උදේ පිපි සුවඳත් විහිදුන වැනි
> තවන හිරක් මෙන් අහස් කුසේ
> බලනුව අංගීරස මහ මුනි දෙස

ඉතින් මේ ගාථාව තමයි චුල්ල පන්ථක තෙරුන් වහන්සේට පාඩම් කරගන්න බැරි වුණේ. දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, උන්වහන්සේට ඇයි මේ වගේ පුංචි ගාථාවක්වත් මතක තියාගන්න බැරි වුනේ, ඇයි ඒ විපාකය මහණ වුන දවසෙම ආවෙ කියල. මේ කාරණය තේරුම් ගන්න, මුලින්ම උන්වහන්සේ කරපු පෙර කර්මය දිහා බලන්න ඕන. කාශ්‍යප බුදුන් වහන්සේගෙ කාලෙත් ඔය විදිහට ගාථා පාඩම් හිටින්නෙ නැති ස්වාමීන් වහන්සේ නමක් හිටියා. එතකොට චුල්ල පන්ථක හාමුදුරුවොත් කාශ්‍යප බුදුන් වහන්සේගෙ ශාසනයේ පැවිදි වෙලා හිටපු නුවණැත්තෙක්. නමුත් අර ගාථා මතක හිටින්නෙ නැති ස්වාමීන් වහන්සේට උසුළු විසුළු කළා, අවමන් කළා. ඉතින් මේකෙන් සිත් තැවුලට පත් වෙච්ච, ඒ පාඩම් මතක හිටින්නෙ නැති ස්වාමීන් වහන්සේ පසුබට වුනා, ලැජ්ජාවට පත්වුණා. ඒ නිසා ගාථා පාඩම් කරන එක අතහැරියා. මේක තමයි උන්වහන්සේ කරපු කර්මය. නමුත් ඇයි එතකල් විපාකය ඵල නොදී පැවිදි වුන ගමන් ඵල දුන්නෙ?

බලන්න කර්මය කරපු තැන සහ පරිසරය. ඒ පරිසරයෙ ඉඳගෙන ගොඩ නගපු ශක්තිය තමයි ඒ ආකාරයෙන් ගැබ් වුනේ. මේකට ධර්මයේ කියනවා අනන්තරය කියල. හරියට හොඳට පැළ වෙන්න පුළුවන් බීජ ටිකක් පසුව පැළ කරන්න අරන් තියනව වගේ. දැන් ඒ බීජ පැළ කරගන්න නම් ඒවා නෙලා ගත්ත පරිසරයට සමාන පරිසරයක් තියෙන්න ඕන. උදාහරණ විදියට වී බීජ ගත්තොත් ඒව අරගන්නෙ කුඹුර නමැති පරිසරයෙන්. නැවත පැළ වෙන්නෙත් ඒ හා සමාන පරිසරයක. ඉතින් ඒ ගැලපෙන පරිසරයට කියනව සමනන්තරය කියල. මේ ගැලපෙන පරිසරය ලැබුන ගමන්, අර අරන් තියපු බීජ පැළ කරන්න පුළුවන්. ඒකට කියනව සමනන්තර - අනන්තර ප්‍රත්‍යය කියල. ඉතින් චුල්ල පන්ථක හාමුදුරුවන්ටත් ඒකමයි සිද්ධ වුණේ. සුදුසු පරිසරයට ආවා. ඒ කියන්නෙ පැවිදි ජීවිතය. ඒත් එක්කම අර කලින් කරපු කර්ම බීජ ඇදිල ආවා. බීජ පැළ වුනා වගේ කරපු කර්මයට විපාක දුන්නා. කිසිම ගාථාවක් මතක තියාගන්න බැරි වුනා. එතකොට බුද්ධ සාසනයේ පියා සහ මව තමයි බුදුන් වහන්සේ. අනෙක් සියලුම ශ්‍රාවකයන් වහන්සේලා සහෝදර සහෝදරියො. ඉතින් පෙර කාශ්‍යප බුදුන් වහන්සේගෙ කාලෙ අර ජාතියේ අවමානයක් කළේ, තමන්ගෙම සහෝදරයෙක් වගේ කෙනෙකුට. ඒකට විපාකය ආවෙත් ඒ වගේමයි. තමන් වහන්සේගෙම සහෝදරයා වුන මහා පන්ථක හාමුදුරුවන්ගෙන්ම අවමානයට ලක්වුණා. ගාථා මතක තියාගන්න බැරිනම් උඹ කොහොමද පැවිදි වුන එකෙන් උපරිම ඵල නෙලා ගන්නෙ... ආදී වශයෙන් අවමන් කළා.

මෙතනදි මතක තියාගන්න ඕන තවත් කාරණයක් තමයි මහා පන්ථක හාමුදුරුවො කියන්නෙ අරිහතුන් වහන්සේ නමක්. ඒ නිසා ඒ වගේ අවමන් කරන්න ඇත්තෙත් චුල්ල පන්ථක හාමුදුරුවන්ගෙම යහපතට. මොකද පැවිදි වෙච්ච කාරණයක් තියෙනවා, ඒකට හේතුවක් තියෙනවා. ඒ තමයි උතුම් වූ නිවන් මාර්ගය සම්පූර්ණ කිරීම. ඒ කියන්නෙ අරිහත් ඵලයෙන් ගමන පූර්ණ කර ගැනීම. ඒක කරගන්න නම් ප්‍රඥාවක් අවශ්‍යයි. ඉතින් පේළි හතරක් තියෙන ගාථාවකින් දෙවනි පේළියට යනකොට පළමු පේළිය මතක නැති කරගන්න කෙනෙක් කොහොම නම් මාර්ගය පූර්ණ කරගන්නද? කොච්චර වැරදි සිද්ධ වෙන්න පුළුවන්ද? ගිහි කෙනෙක් වගේ නෙවෙයි සිවුරක ඉන්න භික්ෂූන් වහන්සේ නමකගෙන් වැරදි වුනොත් ඒක ලේසි පහසු දෙයක් නෙවෙයි. ඒ භික්ෂූන් වහන්සේ නිසා ගිහියොත් පාපයක් කරගන්න පුළුවන්. මේ වගේ අයද සාසනයේ ඉන්නෙ කියල සාසනයටත් දොස් කියන්න පුළුවන්. මොකද භික්ෂූන් වහන්සේ නමක් අනුන් දෙන සිවුපසයෙන් තමයි යැපෙන්නෙ. එතකොට ඒ පිංවත් පිරිස් සිවුපසය පිළිගන්වන්නෙ තෙරුවන් කෙරෙහි ගරුත්වය නිසා, ඒ තෙරුවන් ගුණ උන් වහන්සේලා ළඟත් තියෙනවයි කියන බලාපොරොත්තුවෙන්. ඒ නිසා තමයි සුළු වරදක් වුනත් බරපතල වෙන්නෙ. ඒ වගේම භික්ෂූන් වහන්සේ නමක් වරද වරද හැටියට දැකල ආයති සංවරයේ පිහිටා කටයුතු කිරීමෙන් ගිහි අය අභිබවා ඉක්මනින් නිවන් සාක්ෂාත් කරගන්නවා වගේම, ගිහියන් විසින් දෙන සිවුපසය ලබාගැනීමෙන් ඒ ගිහි පින්වතුනට මහත් ඵල මහානිසංස ලබාදෙනවා. ඉතින් මේ වගේ විවිධ හේතු නිසා තමයි මහා පන්ථක අරිහතුන් වහන්සේ චුල්ල පන්ථක හාමුදුරුවන්ට අවමන් කරන්න ඇත්තෙ. ඒක අනුකම්පාවෙන්ම කරපු දෙයක් කියල තේරුම් ගන්න ඕන. මොකද අරිහතුන් වහන්සේ නමක් කවදාවත් රාග, ද්වේශ, මෝහ සහිතව කෙනෙකුට දොස් කියන්නෙ නෑ, අවමන් කරන්නෙ නෑ.

දැන් මෙහෙම කාලයක් යනකොට එක්තරා බමුණෙක් දානයකට ආරාධනා කරන්න උන්වහන්සේලා වැඩ හිටපු පන්සලට ආවා. මහා පන්ථක හාමුදුරුවො, චුල්ල පන්ථක හාමුදුරුවන්ට හැර අනෙක් සියලු දෙනා වෙනුවෙන් දානය භාර ගත්තා. මේකෙන් කළකිරුණු කුඩා චුල්ල පන්ථක හාමුදුරුවො පන්සලෙන් යන්න තීරණය කළා. එහෙම ගිහින් ගිහිවතේ ඉඳගෙන පින් දහම් කරන්න තීරණය කළා. සියලු දේ මහා කරුණාවෙන් දකින බුදුපියාණන් වහන්සේ මේ කාරණය දැක්කා. එහෙම දැකල පන්සල දොරකඩ අසල චුල්ල පන්ථක හාමුදුරුවන් එන මග සක්මන් කරමින් හිටියා. ඉතින් චුල්ල පන්ථක හාමුදුරුවො මේ උදේම කොහෙද යන්නෙ කියල විස්තර ඇහුවා. මම ☞

ගිහි වෙන්න යනව ස්වාමීනි, මහා පන්ථක හාමුදුරුවො මම සුදුස්සෙක් නෙවෙයි කියල පන්සලෙන් යන්න කිව්වා... ආදී වශයෙන් මේ කුඩා චූල්ල පන්ථක හාමුදුරුවො උත්තර දුන්නා. මහා කරුණාව ඇති බුදුපියාණන් වහන්සේ මේ කුඩා සාමණේරයන් වහන්සේගෙන් වැදගත් ප්‍රශ්නයක් ඇහුවා. ''චූල්ල පන්ථක ඔබේ පැවිද්ද මා සතුය, සොයුරා එලවා ගත් කල මා ළඟට නාවෙ ඇයි?''

මෙතන ඉතාමත් වැදගත් කියමනක් තියෙනවා. ''චූල්ල පන්ථක ඔබේ පැවිද්ද මා සතුය.'' එතකොට පැවිද්දට යන කෙනෙක්ගෙ පැවිද්දෙ අයිතිය තියෙන්නෙ කාටද? කවුරු වෙනුවෙන්ද පැවිදි වෙන්නෙ කියන කාරණය බොහොම පැහැදිලියි. ඇයි පැවිද්ද මා සතුයි කිව්වෙ? කවුද මේ ''මා'' කියල කිව්වෙ. ඒ තමයි තිලෝගුරු සම්මා සම්බුදු පියාණන් වහන්සේ. උන්වහන්සේ දකින ක්‍රමය උන්වහන්සේගෙම දේශනාවලින් පෙන්වා තියෙනවා. යමෙක් පටිච්ච සමුප්පාදය දකීද හේ ධර්මය දකී, යමෙක් ධර්මය දකීද හේ මා දකී. ඉතින් මේ බුද්ධ දේශනාවට අනුව ඒ පැවිද්දේ අයිතිය සම්පූර්ණ වෙන්නෙ ධර්මය දක්ක දාට. මේ හේතුවෙන් තමයි මහා පන්ථක හාමුදුරුවොත් චූල්ල පන්ථක කුඩා හාමුදුරුවන්ට යමක් පෙන්වන්න හැදුවෙ, ඒ සඳහා අවමන් කළේ. ඉතින් බුදුන් වහන්සේ මොකද කළේ, මේ කුඩා සාමණේරයන් වහන්සේගෙ අතින් අල්ල ගෙන පන්සල වටේ ගිහින් පොකුණක පිපිල තිබුණ නෙලුම් මල් පෙන්වල ලෝකය ගැන පහදල දුන්නා. කොටින්ම උන්වහන්සේට පාඩම් කරන්න දුන්න ගාථාවෙ අර්ථය පහදල දුන්නා. ඊට පස්සෙ පිරිසිදු රෙදි කැල්ලකට කුණු පැල්ලමක් මවල දීල සූර්යා දිහා බලාගෙන ''රජෝ හරනං රජෝ හරනං'' (සරල තේරුම තමයි මේ කුණු පැල්ලම ඉවත් වේවා ඉවත් වේවා යන්න) කියල අතින් පිරිමැදල පිරිසිදු කරන්න කිව්වා.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇයි උන්වහන්සේට මේ ජාතියේ වැඩක් කරන්න දුන්නෙ, මේක මහ පුදුම කර්මස්ථානයක්නෙ කියල. ඇත්තටම මෙතනදි චූල්ල පන්ථක හාමුදුරුවන්ට පෙර සසරෙ තිබුණ අත්දැකීමක් නැවත මතක් කරල දීමක් තමයි කළේ. මොකක්ද ඒ අත්දැකීම? පෙර අත් බැවක රජෙක් වෙලා හිටපු කාලෙ නුවර සංචාරය කළා. ඒ යන අතරෙ අව්ව නිසා නලලින් දහදිය දැම්මා. ඉතින් ඒ රජතුමා ඒ වෙලාවෙ තමන්ගෙ පිරිසිදු සලුවෙන් නලල පිහිදැම්මා. ඒ පිහිදැමීම නිසා අර පිරිසිදු සලුව කිළුටු වුණා. අනේ මගේ ශරීරය මේ තරම් අපිරිසිදුද කියල සිතිවිල්ලක් ආවා. ඒකම තමයි නැවත මතක් කරල දුන්නෙ. මෙතනදි සූර්යා දිහා බලාගෙන කර්මස්ථානය වඩන්න දුන්නෙ හේතු කිහිපයක් නිසා. එකක් ඉක්මනට දාඩිය දමන නිසා. ඒ වගේම සසරේ වඩල තිබ්බ ඕදාත ආලෝක කසින නිසා ඉක්මනින් සමාධියට උපනිශ්‍රය ලබාදෙනවා. දැන් චූල්ල පන්ථක හාමුදුරුවො සූර්යා දිහා බලාගෙන මේ කුණු පැල්ලම ඉවත් වේවා කිය කියා සුදු රෙදි කැල්ල අතින් පිරිමදිනවා. නමුත් කුණු ඉවත් වෙනව වෙනුවට, අතින් දහදිය වැගිරිලා අතේ තියෙන කුණුත් එකතු වෙලා, සුදු රෙදි කැල්ල තවත් අපිරිසිදු වෙනවා. ඔහොම යන කොට අර පෙර සසර පුරුද්ද මතකයට ආවා. ''මේ පිරිසිදු රෙදි කැල්ල මගේ අතේ තියෙන කුණු නිසා තවත් අපිරිසිදු වෙනවා.'' මෙහෙම අදහස් එනකොට හිත වැඩෙන්න පටන් ගත්තා.

ඉතින් තමන් වහන්සේගෙ ශ්‍රාවකයන් වහන්සේ නමකගෙ හිත අවශ්‍ය තැනට වැඩීගෙන එනකොට බුදුපියාණන් වහන්සේ නමකට ඒ බව වැටහෙනවා. මේ අවස්ථාවෙදි උන්වහන්සේ කොහේ හිටියත් ඍද්ධියෙන් එතනට වැඩම කරල ධර්ම දේශනාවක් සිද්ධ කරනවා. මේ දේශනාවට කියනවා සාමුක්කංසික දේශනාව කියල. චූල්ල පන්ථක හාමුදුරුවො තමන්ගෙ අතේ තිබ්බ කුණු ගැන හිත හිතා හිටියෙ. බුදුන් වහන්සේ ඒ කාරණය පැහැදිලි කරල දුන්නා. හිත හරියට අර සුදු රෙද්ද වගේ. බාහිර කෙලෙස් නිසා අපිරිසිදු වෙනවා. කිසිම දෙයක් ඊට පස්සෙ වැටහෙන්නෙ නෑ. මේ තමයි කෙලෙස් දූවිලි. රාගය එක කෙලෙස් දූවිල්ලක්, ද්වේශය එක කෙලෙස් දූවිල්ලක්, මෝහය එක කෙලෙස් දූවිල්ලක්. මේ කෙලෙස් දූවිලි නිසා අර සුදු රෙද්ද වගේ තියෙන හිත අපිරිසිදු වෙනවා. රාග, ද්වේශ, මෝහ ක්ෂය කළාම ගැවෙන්න දූවිලි නෑ. සිත නිවනට යොමු වෙනවා. ඉතින් මේ දේශනාව අවසානයේ චූල්ල පන්ථක හාමුදුරුවො සිවුපිළිසිඹියා සහිත අරිහත් ඵලයට පත් වුණා.

ධම්ම පදට්ඨ කතාවෙන් උපුටා ගන්න ලද ගාථාවක සිංහල තේරුම පහතින් දක්වෙනවා.

රජස නම් රාගයයි ඒ දූහුවිලි නම් නොවේ
රාගයටම කියන තව නමකි රජස යයි
මහණෙනි මේ රජස දුරැර
බුදු සසුනෙහි ඔබ විසිය යුතුය

රජස නම් ද්වේශයයි
ඒ දූහුවිලි නම් නොවේ
ද්වේශයටම කියන තව නමකි රජස යයි
මහණෙනි මේ රජස දුරැර
බුදු සසුනෙහි ඔබ විසිය යුතුය

රජස නම් මෝහයයි ඒ දූහුවිලි නම් නොවේ
මෝහයටම කියන තව නමකි රජස යයි
මහණෙනි මේ රජස දුරැර
බුදු සසුනෙහි ඔබ විසිය යුතුය

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාලිය 1- චූල්ලපන්ථක ථේරාපදානය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# සැනසුම.......

**මස් කටු හපන බල්ලෙකු සිහියට ගන්න**
**එහි ඇති නිසරු බව හරි හැටි දැන ගන්න**
**උපමාවක් ලෙසින් විදසුන් නැණ ගන්න**
**සසරේ දුක් ගින්න සසඳා දැක ගන්න**

**අවිදුව තණ්හාව මේ ලෙස ඇති වෙනවා**
**සසරට වැටෙනු මිස නොම එතෙරට යනවා**
**සැනසුම සොයන මුත් සැනසුම නොම වෙනවා**
**දුක් කඳ දෙවන සසරේ බැඳෙමින් යනවා**

**සැනසුම ලබන්නට ලොව පොර කන ඇත්තෝ**
**ලොව මස් කටුව වගෙ බව නොම දැන ගත්තෝ**
**සොයනා මුත් සුවය ලොව සැනසුම නැත්තෝ**
**වැටහුන අය වේද ඒ හැම ජය ගත්තෝ**

**නොපෙලී සැනසෙන්න ලොව මොනවද ඇත්තේ**
**සැප පෙන්වමින් දුක් දෙන සැම නොවැ ඇත්තේ**
**වටිනාකමක් දුන්නොත් එහි සැප නැත්තේ**
**අත හැර නොඇලි මිදුනම සැනසුම ඇත්තේ**

පබැඳුම: **මුරුතමුරේ ධම්මින්ද හිමි**

# පැන්, භෝජන, දැහැත් සහ බෙහෙත් පූජා නිවැරැදිව සිදු කරන අයුරු...

පෙර හිටපු බොදුනු පිංවතුන් නිවැරැදි ආකාරයට පැන්, භෝජන... ආදිය පූජා කරල ප්‍රතිඵල ලබාගත් ආකාරයෙන් අදත් ඒ පූජා කටයුතු සිද්ධ කරන හැටි තමයි මේ විස්තර කරන්නෙ. සාම්ප්‍රදායිකව අද වෙන කොට සිද්ධ කරන පූජෝපහාරවලදි නමස්කාරයෙන් පසුව තිසරණ සමාදානය, තෙරුවන් ගුණ කීම, ශික්ෂා සමාදානය ආදිය සිද්ධ කරල ඉන් පසුව පැන්, භෝජන, දූහැත්, බෙහෙත් ආදී පූජෝපහාර විදි සිද්ධ කිරීම තමයි සාමාන්‍යයෙන් කරන්නෙ. නමුත් ආගන්තුක පින්වෙතක්, භික්ෂූන් වහන්සේ නමක් ගෙදරට වැඩම කළාට පස්සෙ පළමුව කරන්න ඕන වත් පිළිවෙත්. මේ අනුසාරයෙන් ජීවමාන තුනුරුවන් ඉදිරිපිටදී මෙන් පළමුව සිද්ධ කරන්න ඕන ගෞරව උපහාර කරල වත් පිළිවෙත් සිද්ධ කිරීම.

පැන්, භෝජන, දූහැත් සහ බෙහෙත් පූජා කියන මේවා ජීවමාන කාලයේ වගේ මනෝමය වශයෙන් පූජා කිරීමෙන් හද පත්ලෙන් නැගෙන ගෞරව ප්‍රසාදය පිහිටන්න හේතු වෙනවා. **මේ හැම පූජාවකදිම අනුකූල ගුණවලට සසඳල කරන පූජාවලින් තමන්ගෙ චිත්ත ප්‍රසාදය වගේම ඥාන සම්ප්‍රයුක්ත බවත් දියුණු වෙන්න හේතු වෙනවා.** ''ඒවං උපසංහරති'' කියන එසේ උපමා සංසන්දනයෙන් මේ පූජා කටයුතු සිද්ධ කිරීම තමයි මෙතනදි සිද්ධ වෙන්නෙ. ඒ වගේම මේ හැම පූජාවක්ම භෞතිකව ද්‍රව්‍ය වස්තු විදියට පූජා කරන්න පුළුවන් නම් වඩා හොඳයි. බුදු පියාණන් වහන්සේලා අප්‍රමාණ වූ කරුණා මෛත්‍රිය, හරියට සිසිල් ජලාශයක් පතුරන්නාක් මෙන් ලොවට විහිදා පෑවා. ඒ කරුණා මෙත් සිසිල් ජලයෙන්, හදවත් තෙමිල සිසිල් වෙලා දාහ ගිනි දුරුවෙනවා. නාලාගිරි හස්ති රාජයා, ආලවක යක්ෂයා, අංගුලිමාල වගේ සැඩ ගතියෙන් දැවුණු හදවත් බලා ඉදෙද්දිම සිසිල් වුනේ ඒ මහා ගුණස්කන්ධය නිසා. කෙලෙස් ගින්නෙන් දැවෙමින් තිබ්ච්ච හදවත්වලට සදහම් අමා ජලාශය තමයි ඒ විදියට විහිද වුණේ. සදහම් අමා පානය ලැබූ අයගෙ හදවත්වල කෙලෙස් ගිනි නිවිල ගිහින් ශාන්ත පද නම් වූ නිවන් සුවයෙන් නිවී සැනසුණා. මහා සංඝ රත්නයත් ඒ බුදු මග අනුගමනය කරමින් කරුණා මෛත්‍රී සිසිල් ජලාශය ලොවට විහිදුවමින් සදහම් අමා පානය පතුරුවා හරිමින් කරන සේවය අප්‍රමාණයි.



මේ වගේ අනන්ත ගුණ විහිදුවන බුදු පියාණන් වහන්සේලාට වගේම සංඝ රත්නයටත් මනෝමය වශයෙන් මහා ජලාශයක් මවල උපහාර පූජාවක් කරමි, සැමගේ දැත පිරිසිදු වේවා, දැතින් සිසිල් පැන් බඳුන්, රස පැන් බඳුන් අඩු නැතිව මැවිල බුදු පියාණන් වහන්සේලා අග්‍ර කොට මහා සංඝ රත්නය වෙත විහිදේවා, පූජා වේවා.... කියල බුද්ධ ප්‍රමුඛ මහා සංඝයා වහන්සේලා අභියස මනෝමය වශයෙන් සිතින් මවමින් මේ විදියට පූජා කරන්න ඕන. ඒක සංකේතමත් කරන්න පිරිසිදු පැන් බඳුනක් තියන්න පුළුවන් නම් වඩා හොඳයි. තැන්පත් ප්‍රසාද ජනක මනසකින් මේ වගේ පූජාවක් කරන කොට මනස ප්‍රබෝධ වෙලා සසුන් කෙතට අවතීර්ණ වෙන්න පිටිවහලක් වෙනවා. ඒකෙන් ලැබෙන චිත්ත ප්‍රසාදයේ පුණ්‍ය බල මහිමය අප්‍රමාණයි. සියලු ලෝ සතුන් කෙරෙහි දයාවෙන් මේ පුණ්‍ය කුසල ප්‍රවාහය විහිදුවල පිං පෙත් දෙන්න ඕන. හදවතේ තියෙන විස දාහ ගිනි නිවිල ගිහින් දහම් රසය පෙවිල, කෙලෙස් ගිනි නිවිල, නිවනින් සැනසුම ලැබේවා කියල සෙත් පතන්න ඕන. ඊළඟට පැන් පූජා කරන ගාථාව කියල පූජා කරන්න ඕන.

සුගන්ධං සීතලං කප්පං
- පසන්න මධුරං සුභං
පානීය මේතං භගවා
- පතිඝං හාතු මුත්තං

සුගන්ධ වූ, සිසිල් වූ, කැප වූ, ප්‍රසන්න වූ, මධුර වූ, සුභ වූ මේ පැන් මහා බුද්ධෝත්තමයන් වහන්සේලාට පිළිගන්වනව කියන අදහස තමයි මේ ගාථාවෙන් කියන්නෙ. එතකොට මේ පූජාව එක බුදුන් වහන්සේ නමකට විතරක් නෙවෙයි සියලු බුදුවරයන් වහන්සේලාට කරන පූජාවක්.

මේ විදියට කරන පැන් පූජා ක්‍රමයෙන් තමන්ගෙ හදවත්වල තියෙන දාහ ගිනි නිවිල ගිහින් චිත්ත සමාධියටත්, කෙළෙස් ගිනි නිවන විදර්ශනා ප්‍රඥාවටත් මහා උපනිශ්‍රයක් වෙනවා.

ඊළඟට සිද්ධ කරන්නෙ මනෝමය භෝජන පූජාව. පළමුවෙන්ම බුදු පියාණන් වහන්සේලා සහ මහා සංඝ රත්නය ජීවමාන කාලයේ අප්‍රමාණ ගුණ තමන්ට වැටහෙන ප්‍රමාණයෙන් සිහි කරන්න ඕන. ඒ වගේම ඒ ගුණ අනන්ත බවත් හිතන්න ඕන. තුන් ලොව බබළවන, දස දහසක් සක්වල දිව්‍ය, බ්‍රහ්ම ආදී සවු සතුන්ට මහා මිණි පහන් ටැඹක් වගේ සදහම් ආලෝකය පතුරුවන බුදු පියාණන් වහන්සේලාගේ අනන්ත ජීවමාන ගුණ තමන්ට වැටහෙන ප්‍රමාණයෙන් සිහි කරන්න ඕන. ඒ වගේම මහා මිණි පහන් ටැඹක් වගේ සදහම් එළි පතුරුවන ජීවමාන සංඝ රත්නයේ අප්‍රමාණ ගුණත් වැටහෙන ප්‍රමාණයෙන් සිහි කරන්න ඕන. ඒ ජීවමානත්වයට අවශ්‍ය වන ආයුෂ, වර්ණය, සැපය, බලය, පටිභාන නුවණ කියන මේ කාරණා 5 කැටි කරන පූජාවක් ලෙස සිහි කරල මනෝමය වශයෙන් සියලු භෝජන අඩු නැතිව මනසින් මවල පූජා කරමියි කියල ☞

සිහි කරන්න ඕන. ඒ භෝජන පූජාව සංකේතමත් කරන්න භෝජන පූජාවක් තියන්න පුළුවන් නම් වඩාත් හොඳයි.

සැමගේ දෝත පිරිසිදු වේවා, හැම අතටම හිතු පැතු සියලු භෝජන මැවේවා, බුදු පියාණන් වහන්සේලා අග්‍ර කරගෙන මහා සංඝ රත්නය ඉදිරියේ මේ පූජාව සිද්ධ වේවා කියල, අභියස ඉඳගෙන කරන විදියට ගෞරවයෙන් මනසින් මවල පූජා කරන්න ඕන. ප්‍රධාන භෝජන පූජා, පළතුරු, කැවිලි, කිරි පැණි ආදී අනේක විදි පූජා සුරතින් මැවී විහිදෙමින් බුදු පියවරුන්ට, මහා සඟුනට පූජා වෙන විදියට සිතින් මෙනෙහි කරන්න ඕන. මේ ක්‍රමය කාලයක් හුරු වෙන කොට ජීවමාන කාලයක පූජා කරනව වගේ මැවිල පෙනෙන්න පටන් ගන්නවා. ඒකෙන් ඇතිවන චිත්ත ප්‍රසාදය මහා බලවත්. ඒ පුණ්‍ය බල මහිමය අප්‍රමාණයි. අනන්ත ලෝක සත්වයින් සමග එකතු වෙලා කරන පූජාවක් වගේ වැටහෙන්න වෙනවා. ඒ විදියට ගාථා කියල පූජා කරන්න ඕන.

අධිවාසේතු නෝ භන්තේ
- භෝජනං පරිකප්පිතං
අනුකම්පං උපාදාය
- පතිසන්හාතු මුත්තමං

ස්වාමීනි භාග්‍යවතුන් වහන්ස, පිළිවෙලට සකස් කරන ලද කැප වූ මේ භෝජන පූජාව අනුකම්පා පෙරදැරිව ඉවසා වදාරන සේක්වා, පිළිගනිත්වා කියන අදහස තමයි මේ ගාථාවෙන් කියන්නෙ.

''පූජකෝ ලභතේ පූජං - වන්දකෝ පටි වන්දනං - පුදන්නා පිදුම් ලබනවා, වඳින්නා ප්‍රති වැඳුම් ලබනවා'' කියන ශ්‍රේෂ්ඨ බුද්ධ භාෂිතය පරිදි, හේතුඵල ධර්මතා පරිදි, තමන්ටත් නිවන් දකින තුරු ගෞරව පූජා සත්කාරවලින් කිසි අඩුවක් වෙන්නෙ නෑ. වැපිරූ දේට අනුව අස්වැන්න ලැබෙනවා වගේ තමයි යම් කිසි දෙයක් කළා නම් ඊට අනුකූල ප්‍රතිඵලයක් ලැබෙනවා. තුනුරුවන් ගුණයට වන්දනාමාන පූජා කිරීම උපරිම පිං කෙතේ වපුරනවා හා සමානයි. ඒ වගේ පිං කෙතක වැපිරුවාම ඊට අනුකූලව මහා අස්වැන්නක්, මහා සම්පත්තියක් ලබන්න හේතු වෙනවා. ඒ නිසා මේ භෝජන පූජාවලින් එන පුණ්‍ය සම්භාරය සියලු ලෝ සතුන් වෙත ලැබේවා කියල ආසිරි පතුරුවල, මේ චිත්ත ප්‍රසාද බලයෙන් අනන්ත ලෝ සතුන් දුගතිවලින් මිදිල සුගතියට පත් වේවා කියල ආයු, වර්ණ, සැප, බල, නුවණ ලැබිල අමා මහ නිවන් ශාන්තිය සැමටම උදා වේවා කියල අධිෂ්ඨාන කරන්න ඕන.

ඊළඟට තියෙන්නෙ දැහැත් පූජාව. බුදු පියාණන් වහන්සේලා ලෝකය දහම් සුවඳින්, ගුණ සුවඳින් සුවඳවත් කරමින් හදවත් සුවඳ කරන දහම් පද දේශනා කළා. ඒ බුද්ධ මුඛ සුවඳ ගුණය තමයි මෙතනදි සිහි කරන්නෙ. මහා සංඝ රත්නයත් ඒ දහම් ගුණ සුවඳ විහිදෙන දහම් පද, මුඛ සුවඳින් ලෝකයට දේශනා කරමින් ගෙන එන අනන්ත ගුණ (මුඛ සුවඳ ගුණය) සිහි කරන්න ඕන.

මේවා ගුණයට උපහාර පූජාවක් විදියට, මුඛ සුවඳ කරන ඖෂධීය දැහැත් සියතින් මවල බුදු පියාණන් වහන්සේලාට, මහා සංඝ රත්නයට ජීවමාන කාලයේ අභියස පූජා කරනව වගේ මවමින් විහිදුවා පූජා කරන්න ඕන. ඒ සඳහා සංකේතයක් වශයෙන් දැහැත් විට (බුලත්, පුවක්, හුණු, එනසාල්, කරාබුනැටි, සූකිරි... ආදිය සහිතව) ඒ පූජාවට තියන්න පුළුවන් නම්



වඩා හොඳයි. මනස ප්‍රසාදයෙන් නැගී සිටින කොට, පෙනි පෙනී මැවී ගිහින් අඩු නැතිව විහිදෙමින් ජීවමාන බුදු සඟුනට පූජා වෙන ආකාරයත් මැවී පේන්න පටන් ගන්නවා. මෙතනදි ඇති වන චිත්ත ප්‍රසාදය අප්‍රමාණ පිනක්.

අනන්ත ලෝක සත්වයාටත් මේ පින් බල මහිම හේතු කොට ගෙන මුඛ රෝග දුරු වේවා, පාප දුගඳ වඳන් පිට නොවේවා, දහම් සුවඳ, ගුණ සුවඳ වදන්ම පිට වේවා, ඒ හේතුවෙන් ලෝකයට සාම හඬ නැගේවා, සාම දහම් පද ශ්‍රවණය කරල සාමයෙන් සුවයෙන් නිවන් ප්‍රත්‍යක්ෂ කරත්වා කියල ආසිරි පතන්න ඕන. මේ සියල්ලම සිහි කරල නැවත ඒ විදියටම මනසින් මවල පිදෙන විදියට ගාථා සජ්ජායනා කරන්න ඕන.

නාගවල්ලී දලූපේතං
- චුන්න පූග සමායුතං
තාම්බූලං පතිසන්හාතු
- සතං පූජේමි දං ජිනෝ

බුලත්, පුවක්, හුණුවලින් කරන මේ දැහැත්විට පූජාව පිළිගන්න සේක්වා, ඉතාමත් යහපත් සේ මේ පූජාව ජිනරාජයාණන් වහන්සේට පූජා කරනවා කියන අර්ථය තමයි මේ ගාථාවෙන් එන්නෙ.

ඊළඟට තියෙන්නෙ ඖෂධ පූජාව. බුදු පියාණන් වහන්සේලා දේශනා කරපු ශ්‍රී සද්ධර්මය මේ ලෝකෙ තියෙන සියලු ඖෂධ අභිබවා යන, හිත ගත දෙකම නිරෝගී කරන මහා වටිනා ඖෂධයක්. අනන්ත සංසාර රෝගය සඳහටම සුව කරන දහම් ඖෂධයක්. ඒ හා සමාන ඖෂධයක් ලෝකෙ තවත් නෑ. ඒ වගේ උතුම් දහම් ඖෂධ, ගුණ ඖෂධ දුන් බුදු පියාණන් වහන්සේලාගේ ඒ ගුණ අනන්තයි. මහා සංඝ රත්නයත් ඒ මහා ඖෂධ ගුණ ලෝකයට පතුරුවාගෙන එනවා. මේ අනන්ත ගුණ සිහි කරන්න ඕන. මේ අනන්ත ගුණ කඳට ඖෂධ මවා උපහාර පූජාවක් කරමියි කියල සිහි කරන්න ඕන. දොහොත් පිරිසිදු වේවා, හිතු පැතු ඖෂධ මැවේවා කියල අධිෂ්ඨාන කරන්න ඕන. බුදු පියවරු අග්‍ර කරමින් මහා සංඝ රත්නයට විහිදිලා ගිහින් පූජා වේවා කියල කියන්න ඕන. චිත්ත ප්‍රසාදය තුලින් නැගෙන සමවත් සිතට මේ පූජාවන් මැවී පේන්න පටන් ගන්නවා. එයින් ඇති වන චිත්ත ප්‍රසාදය අප්‍රමාණයි. මේ පින සියලු ලෝ සතුන් අනුමෝදන් වෙත්වා කියල ආසිරි පතන්න ඕන.

සියලු සත්වයෝ දුගතිවලින් මිදෙත්වා. අට අනූවක් රෝග, නව අනූවක් ව්‍යාධි, දෙසිය තුනක් අන්තරා යැයි කියන සියලු රෝග දුරු වේවා, සදාකාලිකව ලෙඩ දුරු වුණා වගේ නිවන් සුවය අත් වේවා කියල අධිෂ්ඨාන කරන්න ඕන. මේ සියල්ල සිහි කරල ගාථා සජ්ජායනා කරල, සංකේතාත්මකව බෙහෙත් පූජාවක් තියල පූජා කරන්න පුළුවන් නම් තවත් හොඳයි.

දැන් මේ මනසින් වැඩම කරවපු බුද්ධ ප්‍රමුඛ මහා සංඝ රත්නය උදෙසා කරන්න ඕන මූලික වතාවත් කොටස තමයි මේ විදියට න්‍යායානුකූලව සිද්ධ කළේ. මෙතනදි පිරිනිවන් පෑ බුදු පියාණන් වහන්සේලා ඇතුළු මහ රහතන් වහන්සේලා මනසින් වැඩම වේවා කීම වරදවා තේරුම් ගත්තම ඒ වගේ තර්කවාදීන්ට ගැටළුවක් මතු වෙන්න පුළුවන්, පිරිනිවන් පෑවම කොහොමද නැවතත් වඩම්මවන්නෙ කියල. නමුත් මෙතනදි සිද්ධ වෙන්නෙ උද්දේසික (උදෙසා කරන) පූජෝපහාරයක්. අපදාන පාලියේ බුද්ධාපදානයේ එන

තිලෝක විජය චක්‍රවර්තී රජතුමා විදියට උපන් සිදුහත් මහ බෝසතාණන් වහන්සේ ඒ කාලෙ කරපු මේ වගේ පූජා විධි ගැන කියවල බලල සැක හැර ගෙන මේ මහා ශාන්ති පූජාවේ ප්‍රතිඵල නෙලාගන්න උත්සාහ කරන්න. ඒකට තවත් රුකුලක් විදියට ''නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාලිය තුලින්'' කියන ලිපි පෙළක් මේ සඟරාවෙ පළවෙනවා.

දැන් මේ වතාවත් පූජාවෙන් පස්සෙ ගුණ උපහාර පූජාව ආරම්භ කරනවා. මහ බෝසතාණන් වහන්සේලා ශ්‍රී මුඛ විවරණ ලැබූ තැන් පටන් සාරා සංඛ්‍ය, අටා සංඛ්‍ය, සොළොසා සංඛ්‍ය කල්ප ලක්‍ෂ ගණන් දස පාරමිතා, දස උපපාරමිතා, දස පරමත්ථ පාරමිතා ආදී වශයෙන් සම තිංසත් පාරමී ධර්මයන් සම්පූර්ණ කරල නිසි කාලයේ ලොව්තුරා බුද්ධත්වයට පත්වීමට, ඒ මහා බුදු බව දරන්නට සුදුසු ශ්‍රී දේහයකින් ලෝකයට පහළ වෙනවා. දෙතිස් මහා පුරුෂ ලක්‍ෂණ, අසූ අනු ව්‍යංජන (කුඩා අනු ලකුණු 80 ක්) සහිත දේහ ලක්‍ෂණ, දෙසිය සොළොස් ශ්‍රී පාද ලක්‍ෂණ සහිතව දේහ ධාරීව පහළ වෙන ඒ ශ්‍රී දේහය බුදු බවටම ආවේණිකයි.



අධ්‍යාත්මික ආයතන පහළ වෙච්ච පමණින් බුදු වෙන්න බෑ. බාහිර ආයතන වගේම ලෝකයේ සුදුසු ප්‍රදේශයකුත් ඒ සඳහා බිහි වෙන්නම ඕන. අධ්‍යාත්මික ආයතන කියන්නෙ ඇස, කන, නාසය, දිව, ශරීරය, මන. බාහිර ආයතන කියන්නෙ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියල බාහිරින් ගන්න ඒවා. ඒ කියන්නෙ චක්ඛායතනය වගේම රූපායතනයත් තියෙන්න ඕන. සෝතායතනය වගේම ශබ්දායතනයත් තියෙන්න ඕන. මොකද ඇස, කන, නාසය ආදී ඉන්ද්‍රියන්ට තමයි මේ බාහිර ආයතන සියල්ල ගෝචර වෙන්නෙ. මහල්ලෙක්, ලෙඩෙක්, මළමිනියක්, පැවිදි රුවක් ගෝචර වෙලා පූර්ව නිමිත්තක් ඇසට මුල් වෙන්න ඕන. පෙර නිමිති දකින්නම ඕන. ඒක අත්‍යවශ්‍යයි. ඒ නිසා ඇස තිබුනට මදි. මහා ප්‍රඥාව, නුවණ තිබුණට මදි. ඇසට ගැලපෙන, ගෝචර වෙන දේකුත් තියෙන්න ඕන. නිරෝගී බව ලබන්න බාහිර ඖෂධ ප්‍රත්‍ය වෙනව වගේ, ලොව්තුරා බුදු බව ලබන්න මේ කියපු අධ්‍යාත්මික, බාහිර ආයතනවලට අමතරව ජම්බුද්වීපයේ මධ්‍ය දේශය, බෝමැඩ බිම් ප්‍රදේශය, ජය ශ්‍රී මහා බෝ රජාණන් වහන්සේ කියන මේ ස්ථාන 3 බුදු වෙන මොහොත වෙන කොට මහා උපනිශ්‍රයක් ලබා දෙන ස්ථානයන් වෙනවා. මේ ස්ථාන අනුකූල ලෙස බල ගැන්විලා සකස්වීම අහම්බෙන් සිද්ධ වෙන දෙයක් නෙවෙයි. බුදු දහමේ උගන්වන්නෙ හැම ආකාරයකම ඵලයක් යම් හේතුවක් නිසාම හට ගන්න බව. ඒ නිසා මේ හැම එකකටම හේතුවක් තියෙනවා.

**ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ ලොව්තුරා බුදු බව ප්‍රධාන කොට ගෙනම පාරමිතා බලයෙන් සැකසුන සප්ත සහජාත වස්තූන්ගෙන් (බෝසතාණන් වහන්සේ ඉපදිච්ච දවසෙම පහළ වෙච්ච වස්තු 7 ක්) ප්‍රධාන එකක් බව දහම් පොත්වල සඳහන් වෙනවා.** නොපෙනෙන පාරමිතා පුණ්‍ය ශක්තිය, ලෝකය තුළ විද්‍යමාන වෙන මහා ශක්ති කදම්භය විදියට ජය ශ්‍රී මහා බෝධි රාජයාණන් වහන්සේ වෙතින් විහිදෙනවා. ඒ පරිසරය තුළ දස මාර බලයන් දුර්වල වෙනවා. බාධක දෝස බිඳ හැරෙනවා. අප්‍රමාණ සියලු සමාපත්තිවලට සම වදින්න ලෝකයේ පිහිටි නියම පරිසරය එතනින් විද්‍යමාන වෙනවා. ඒ බෝධි රාජයාණන් වහන්සේගෙන් විහිදෙන්නෙ අප්‍රමාණ ගුණ බල තියෙන මහ බෝසත් පාරමී බල ශක්තිය. ලෝ සතුන්ට කරුණා දයාවෙන් පුරපු පාරමිතා බලය නිසා ඒ උතුම් ශක්ති කදම්භ ශාසන ගුණ වඩන ශ්‍රාවක පිරිස් වෙතත් විහිදෙනවා. ඒ ගුණ ශක්ති බල මහිමයට වන්දනාමාන පුද සත්කාර කරන මනසට, සමාන ගති ගුණ ආකර්ශනය වෙලා ඒ ශක්තිය ශ්‍රාවක ගුණ පූර්ණයටත් මහෝපකාරී වෙනවා. ඒ වගේම පෙර පහළ වූ මහා බෝධි බල මහිමයන් ඇදිල ඇවිත් ඒ ආශිර්වාද සලසනවා.

දැන් එහෙනම් කරුණු තේරුම් අරගෙන ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේලා තම තමන් සිතින් මවාගෙන තෙල්, මල්, පහන්, සුවඳ, කොඩි, සේසත්, වියන්, වට තිර, පැන් කල ආදියත් තමන්ගෙ මනසින් මවාගෙන ඒ සියලු දේ ජය ශ්‍රී මහා බෝධි රාජයාණන් වහන්සේ අභියස විහිදුවමින් පූජා කරමියි කියල ගෞරව සිතින් කරන්න ඕන. මේ අනුකූලතාවය හේතු කොට ගෙන බෝධි ආශිර්වාද ලබන්න හේතු පහළ වෙමින් නිරන්තරයෙන් නැමී සිටින්න හේතු වෙනවා. දහම් ගුණ වැඩෙන මනස සිසිල් වෙමින් සමාධියට බර වෙන ආකාරය තමන්ටම අත් දකින්න පුළුවන්.

බුද්ධ කියන්නෙ චතුරාර්ය සත්‍යය අවබෝධ කිරීමෙන් භවය සහමුලින්ම උදුරා දැමූ අනන්ත ගුණස්කන්ධයට කියන නමක්. බෝධි කියන්නෙ ඒ අවබෝධය පූර්ණ වෙන්න තිබිය යුතු පාරමිතා ගුණ කඳට කියන නමක්. (බෝ + ඇදි - බෝධි - බුද්ධත්වය කරා ඇදී හිටීම) ඒ පාරමිතා පුණ්‍ය ශක්තිය අදෘෂ්‍යමානයි. ඒ කියන්නෙ මස් ලේ ඇහැට පේන්නෙ නෑ. ලෝකයට දෘෂ්‍යමාන වෙන්නෙ බෝධීන් වහන්සේ විතරයි. මේ බුද්ධ බෝධි ආශිර්වාදය බෞද්ධයාට විශාල ආරක්‍ෂාවක්, ආශිර්වාදයක්. මේ ගුණ කඳට නැමිල ඒ ආසිරි ලබන්න මේ ගාථා 2 ත් සජ්ජායනා කරන්න ඕන.

යේ බ්‍රාහ්මණා වේදගු සබ්බ ධම්මේ
- තේ මේ නමෝ තේච මං පාලයන්තු
නමත්ථු බුද්ධානං නමත්ථු බෝධියා
- නමෝ විමුත්තානං නමෝ විමුත්තියා

වේදය හෙවත් විද්‍යාවේ පරතෙරට පත් බුදු පියාණන් වහන්සේට කරන්නා වූ නමස්කාරය හේතුවෙන් මට රැකවරණයක් වේවා, ඒ බුද්ධත්වයටත් බෝධියටත් මම නමස්කාර කරමි. බුදු පියාණන් වහන්සේ පෙන්වා දුන් විමුක්ති මාර්ගයට අනුව මම කටයුතු කරමි. ඒ මට රැකවරණයක් වේවා.

ජයෝ මුනින්දස්ස සුබෝධි මූලේ
- අහෝසි මාරස්ස පරාජයෝහි
උග්ගෝසයුං දේව සනා පසන්නා
- ඒත්තේන සච්චේන සුවත්ථි හෝතු

මහා මුනින්ද්‍රයන් වහන්සේ ජයසිරි මහා බෝධි මූලයේදී සියලු මාර බල පරාජය කොට ජය ලැබුවා. එයින් සතුටට පත් වූ දේව සමූහයා මහත් සේ ජය ඝෝෂා කරන්නට වුණා. ඒ සත්‍ය බලයෙන් සැමට යහපතක්ම වේවා.

***වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :***

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ගිහි වතක සිට නිවන් මග...

ගිහි වතක ඉඳන් කටයුතු කිරීමේදී නිවන් මග වඩා ගන්න හැකියාවක් තියෙනවද කියන කාරණය පිළිබඳව විමසා බලන කොට, බොහෝ දෙනෙක්ගෙ හිතට නැගෙන ප්‍රශ්නයක් තමයි, මහණ දම් පුරන්නෙ නැතුව මොන නිවන්ද කියන කාරණය. ඒක ඇත්තටම එහෙමද? නෑ, ගිහි වතේ ඉඳගෙන නිවන් දැකපු අයත් අතීතයේ ඕන තරම් හිටියා. අඹු සැමි පවුල් ජීවිත ගත කරල, දරු මල්ලො හදා වඩාගෙන සෝවාන්, සකෘදාගාමී, අනාගාමී ඵලවලට විතරක් නෙවෙයි, ගිහි වතේම ඉඳගෙන අරිහත් ඵලයට පත් වෙච්ච අවස්ථාත් බුද්ධ ශාසනයේ තියෙනවා. එහෙනම්, අතීතයේදී ගිහිව ඉඳලත් නිවන් මග අවබෝධ කර ගත්තු උත්තමයන් හිටිය නම්, අද පැවිදි වෙලත් නිවන් අවබෝධ කර ගන්න අය දුලබ ඇයි? ඒ කියන්නෙ මොකක් හරි අඩුපාඩුවක් තියෙනවා.

ඥාන සම්පන්නව, අත්දැකීම් සහිතව නිවන් වඩන ස්වාමීන් වහන්සේ කෙනෙකුගෙන් මාර්ග ඵල හෝ ධ්‍යාන ලබන්න ක්‍රමයක් ලැබිල තියෙනවද කියල ඇහුවොත්, අපි තවම වඩනවා, එහෙම නැත්නම් තවම ඒ මාර්ග ඵල බලාපොරොත්තු වෙනවා වගේ පිළිතුරක් මිසක්, යමක් ලබාගත් බව හැඟෙන පිළිතුරක් නම් ලේසියෙන් අහන්න ලැබෙන්නෙ නෑ. නමුත් මාර්ග ඵල ලබල තියෙනව කියල නොයෙක් තර්ක වාද ඉදිරිපත් කරන ස්වාමීන් වහන්සේලා වගේම ගිහි අයත් ඉන්නවා. හැබැයි රාග, ද්වේශ, මෝහ දුරු වෙලා තියෙන බව ප්‍රත්‍යක්ෂද කියල උන් වහන්සේලාගෙන් හෝ ඒ ගිහි පින්වතුන්ගෙන් ඇහුවොත් පිළිතුරු නොදෙන ස්වභාවයත්, සුළු දේටත් කිපෙන, ගැටෙන ගති ඇති බවත් බොහෝකොට පෙන්නුම් කරනවා. එහෙනම් ඇලීම, ගැටීම තියෙනව නම් මුලාවත් එහෙම්ම තියෙනවා. ඒ නිසා බාහිරින් යම් දෙයක් දැන ගත්තු පලියට යම් මාර්ග ඵලයක් ලබපු බවක් එක පාරටම නිගමනය කරන්න බෑ.

එහෙම මාර්ග ඵලයක් ලැබුව නම් ඇලීම, ගැටීම, මුලාව ගින්නක් හැටියට වැටහිලා තියෙන්න ඕන. ඉස්සෙල්ලම ඇලීම ගින්නක් හැටියට අවබෝධ කර ගන්න ඕන. එතකොට ගැටීමකුත් නෑ, මුලාවකුත් නෑ. මොකද ඇලීම ගින්නක් හැටියට අවබෝධ වුනාම ගැටීම සහ මුලාවට හේතු කාරක නැති වෙනවා. යම් ක්‍රමයක් තුළින් මේ ඇලීම ක්‍රමයෙන් දුරු කර ගන්නකොට මේ කියන්නා වූ මාර්ග ඵල වඩා ගන්න උපනිශ්‍රයක් වෙනවා. නමුත් ඇලීම දුරු කරනව කියල ප්‍රතිපත්ති



පුරල, වත පුරල හරි යන්නෙ නෑ. සිල් වතක පිහිටියා කියල ඇලීම, ගැටීම දුරු වෙන්නෙ නෑ. නමුත් වත් පිළිවෙත් පිරීම ඇලීම ගැටීම දුරු කර ගන්න උපනිශ්‍රය වෙනව තමයි. ඒ නිසා ඒව බොහොම වැදගත්. නමුත් මේ කියන්නෙ ඒ ක්‍රමවලින් විතරක් නිවන් අවබෝධ වෙන්නෙ නෑ කියන එක. **බුදුරජාණන් වහන්සේ ළඟට පැමිණි දාමරිකයින් පවා උන් වහන්සේට හිංගි හිංසා කිරීමේ අරමුණින් ඇවිත්, පසුව දමනය වුනේ සිල් අරගෙන නෙවෙයි. බණ පද කීපයක් අහන කොටම ඔවුන්ට මුලධර්මය අවබෝධ වුණා. ඊට පස්සෙ තමයි සංවරත්වයට පත් වුණේ.** එහෙනම් සිල් වතක ඉඳල නෙවෙයි ඒ අයට ධර්මය අවබෝධ වුණේ, යම් මූලධර්මයක් අවබෝධ කර ගත්ත නිසා. ඒ අවබෝධයත් එක්කමයි සංවරත්වය තුළින් සීලය ඇති වුණේ. යං සමාදානං තං වතං කියන්නෙ, යම් සමාදානයක් වේද එය වතකි කියන කාරණය. සංවරට්ඨේන සීලං කියන්නෙ, සංවරත්වයේ පිහිටීමක් ඇත්ද එය සීලයකි කියන කාරණය. නමුත් වර්තමානයේ මේ කාරණය වරද්ද ගෙන වත, සීලය විදියට ගන්නවා. ඒ නිසා ඒක නිවැරදිව තේරුම් ගන්න ඕන. **සීලය කියන්නෙ සමාදන් වෙන දෙයක් නෙවෙයි, පිහිටන දෙයක්.**

කිසියම් දෙයක් වැරදියි, ඒ දේ කළොත් පාපයක් කියල තමන් අවබෝධ කර ගෙන ඒ ක්‍රියාවෙන් මිදෙන්න යම් කිසි ක්‍රමයක් හදා ගෙන, ඒක නොකඩ කොට ආරක්ෂා කර ගන්නව කියල ප්‍රතිපත්තියක් අනුගමනය කරනව නම් ඒක වතක්. උදාහරණයක් විදියට කෙනෙක්, මම නම් කන්න නැතත් හොරකම් කරන්නෙ නෑ, බොරු කියන්නෙ නෑ, මත් පැන් බොන්නෙ නෑ කියල ඒ අකුසල මූල ක්‍රියාවන්ගෙන් වෙන් වෙලා ඉන්න පුළුවන්. නමුත් ඒක සීලයක් නෙවෙයි, වතක්. එතකොට යමෙක් කිසියම් අකුසල ක්‍රියාවක යෙදිල ඉන්නව නම් ඒකටත් හේතුවක් තියෙන්න ඕන. එහෙම යෙදිල ඉන්නෙ ඒක වටිනවා කියන දෘෂ්ටියේ (හේතුව) ඉන්න නිසා. තමන් කරන දේ වටින්නෙ නෑ, හරයක් නෑ කියල දැන ගත්ත දවසට ඒ පුද්ගලය ඒක අත් හරිනවා. එහෙනම් යමක වටිනාකමක් තියෙනවද නැද්ද කියල දැන ගන්නෙ කොහොමද? ''නහී සීල වතං හෝති උප්පජ්ජන්ති තථාගතා - අට්ඨක්කරා ථීනි පදා සම්බුද්ධේන ප්‍රකාසිතා''. බුදුවරයන් වහන්සේලා අකුරු අටක්, පද තුනක් දේශනා කරන්න පහළ වෙනව මිසක්, සිල් වතක් දෙන්න පහළ වෙන්නෙ නෑ. එහෙනම් මේ අකුරු 8 සහ පද 3 කියන්නෙ බැඳි අකුරු සමග එන අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ත්‍රිලක්ෂණය.

නමුත් මේ කාලෙ හැටියට ''වචනය අමතක වේවා, අදහස වැටහේවා'' කියල කාල සිටු පුත්‍රයාට ධර්මය දේශනා කරපු විදියට තමයි මේ අනිච්චතාවය කියන එකත් තෝර ගන්න ඕන. මොකද මේ කාලෙ වෙන කොට මේ ගැන විවිධ තර්ක මතවාද තියෙනවා.

නැතිවීම අනිච්චයි, වෙනස්වීම අනිච්චයි.... ආදී වශයෙන් අනිච්ච කියන එකට විවිධ අර්ථ නිරූපනයන් දෙනවා. එහෙම අදහස් දෙන්නෙත් බොහෝ කොටම සංස්කෘත වචනවලින්. නමුත් මේ අනිච්ච කියන වචනෙ අදහස, විශේෂයෙන් ප්‍රධාන අටුවාවලට සම්බන්ධ පටිසම්භිදා මග්ගප්‍රකරණයේ සහ නෙත්තිප්‍රකරණයේ විග්‍රහ කරල තියෙනවා. ඒ අනුව තමයි මේ කාරණය හරි හැටි විග්‍රහ කර ගන්න ඕන. ඒ විග්‍රහයට අනුව **යමක් ඇසුරු කරන කොට ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස නම් පහළ වෙන්නෙ, ඒවායින් නම් කෙළවර වෙන්නෙ, ඒ මුළු වැඩපිළිවෙලම අනිච්චයි.**

තවත් විදියකට කියනව නම් ඛෙනට්ඨේන අනිච්චා උප්පාද වයට්ඨේන අනිච්චා කියල තෝරන ක්‍රමයක් තියෙනවා. නෙත්තිප්‍රකරණයේ මේ කාරණය පටිච්ච සමුප්පාද ක්‍රමයට උදයව්‍ය ඥානයෙන් තෝරල තියෙනවා. ඒ වගේම පටිසම්භිදා මග්ගප්‍රකරණයේ 25 ආකාරයකටත්, 50 ආකාරයකටත් පංචස්කන්ධය ගොඩ නැගෙන හේතු 25 යි, නිරෝධ කරන හේතු 25 යි තෝරල තියෙනවා. එතකොට උදයව්‍ය ඥානයට අනුව ඒ කාරණය තෝර ගන්න ඕන. උදය ඥානයම දෙකට බෙදල තමයි උදය + වැය - උදයව්‍ය කියල අරගෙන තියෙන්නෙ. එතනදි ජරා, මරණවලට වැය කියල හඳුන්වන්නෙ දන් වරද්දගෙන. ඊළඟට ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන ඒව උදය කියල හඳුන්වල තියෙනවා. නමුත් ජරා, මරණ කියන ඒවත් උදා වෙනවා. එතකොට ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන මේවා යමක් නිසා උදා වෙනවද ඒක දකින නුවණ තමයි උදය ඥානය කියන්නෙ.

ඒ වගේම ජරා, මරණ, සෝක, පරිදේව... ආදිය නැවත නොඑන්නම යම් ක්‍රමවේදයකින් නිරෝධ වෙනවද, ඒ ක්‍රමවේදය දකින නුවණ තමයි වැය ඥානය කියන්නෙ. මේ ක්‍රම 2 ම දකිනවට උදයව්‍ය කියල කියනවා. නමුත් අද වෙන කොට ඇති වුනා - නැති වුනා, එහෙම නැත්නම් වෙනස් වුනා කියල උදයව්‍ය ඥානයත් පටලවා ගෙන තියෙනවා. නමුත් මේ කාරණය තෝර ගන්න නම් අදහස තෝර ගන්න ඕන. එතකොට තමයි අනිච්ච වැටහෙන්නෙ. නැත්නම් දහම් අවබෝධයක් එන්නෙ නෑ. යමක් හේතු කොට ගෙන ජරා, මරණ.... ආදිය පහළ වෙන යම් වැඩ පිළිවෙලක් ඇද්ද, ඒ වැඩ පිළිවෙල සදහටම නතර වෙන ක්‍රමය දන ගත්තම මේ ලෝකයේ අසාර බව වැටහෙන අනිච්චතාවය වැටහෙනවා.

එතකොට ජරා, මරණ... ආදිය පහළ වෙන යම් වැඩ පිළිවෙලක් නම් ඒක ඕනම නෑ, වැඩක්ම නෑ කියන අදහස එනවා. එතකොට අනිච්ච අදහස එනවා. අනිච්ච තෝර ගන්න පහසුම ක්‍රමය තමයි මේ ඉදිරිපත් කළේ.

දැන් මේ කාරණය අවශ්‍ය නම් වෙනත් විදියකට, වචනවලින් තෝරන්නත් පුළුවන්. නමුත් වචනවල එල්ලිලා භාෂා තර්කවාද ගොඩ නගන අයට ඒක ගැටලුවක් වෙන්න පුළුවන්. ඒ වුනත් දනගැනීම පිණිස ඒ ක්‍රමයත් මේ විදියට ඉදිරිපත් කරනවා. ඒ අනුව යමක් අපේ කැමැත්තට නැද්ද, අනිසිද, ඒ දේ දුකයි, හරයක් නෑ කියල යථාවබෝධයක් ලැබුණ නම්, මෙතක් කල් වටිනව කියල හිතාගෙන හිටපු හැම දේම නොවටිනා බව තමන්ටම ප්‍රත්‍යක්ෂ වෙනවා. බුදුන් වහන්සේ දේශනා කරපු ධර්මය තුලින් කවද හරි මේ අවබෝධය අපට ලැබුණ නම්, හොඳයි කියල අල්ල ගත්ත හැම දේකින්ම බැහැර වෙන්න පටන් ගන්නවා. ඒ කියන්නෙ වටිනවා, සාරයි කියල හිතාගෙන කරපු කියපු හැම දෙයක්ම මේ අවබෝධය තුළින් හරයක් නැති බව දකල, ඒවා බැහැර කරන්න මාර්ගය එළි පෙහෙළි කරල දෙනවා.

පෘතජ්ජනයාට මේ ලෝකෙ තියෙන දේවල් අසීමිතව වටිනවා. මේ ලෝකෙ වටින්නෙ නෑ කියල කිව්වට ඒ පුද්ගලය පිලිගන්නෙ නෑ. නමුත් දහම් අවබෝධය ලැබෙන කොට ටිකෙන් ටික මේ ලෝකෙ නොවටිනා බවක් අවබෝධ වෙන්න පටන් ගන්නවා. ඒත් සෝවාන් පුද්ගලයෙක් මේ ලෝකෙ අනිසි බව, දුක්ඛ බව, අසාර බව වටහා ගෙන තියෙන නිසා අත් හරින ලද වැරදි ප්‍රමාණයන්, කෙලෙස් ප්‍රමාණයන් කොච්චරද කියල අපට නිගමනය කරන්න බෑ. **මහා සාගරයට ඇඟිලි දෙකක් දාල ගත්තම, ඒ ඇඟිලි දෙකේ ගෑවෙන වතුර ප්‍රමාණය සෝවාන් පුද්ගලයෙක් සතු කෙලෙස් ප්‍රමාණයටත්, මහා සාගරයේ ඇති ඉතිරි වතුර ප්‍රමාණය සෝවාන් පුද්ගලයෙක් ගෙවා දැමූ, අත් හරින ලද කෙලෙස් ප්‍රමාණයටත් උපමා කරල බුදුන් වහන්සේ මේ කාරණය පෙන්වා තියෙනවා.** එහෙනම් සෝවාන් පුද්ගලයෙක් කොච්චර කෙලෙස් ප්‍රමාණයක් අත්හැරල තියෙනවද කියල අපට හිතා ගන්න පුළුවන්ද?

''සෝවාන් පුද්ගලයා අඹු දරුවන් හදාගෙන, ගෙවල් දොරවල් හදාගෙන, රැකී රක්ෂා ව්‍යාපාර කරගෙන මේ කාම ලෝකයේම පෘතජ්ජනයන් අතර ජීවත් වෙනවා. එහෙනම් ඉතිං ඒ පුද්ගලය කෙලෙස් අත හැරිය බවක් අපට පේන්නෙ නැහැනෙ! අසාරයි කියල අත් හැරපු බවක් පේන්න නැහැනෙ! සෝවාන් වෙච්ච සිටු කුමරියක් මස් වැද්දෙක් එක්ක පැනල ගිහින් ජීවත් වෙච්ච කතාවක් අපි අහල තියෙනවා. එතකොට ඇය මහා කෙලෙස් ප්‍රමාණයක් අත හැරල දාලද මේ මස් වැද්දෙක් එක්ක පැනල ගියේ? ඇය මොනවද අත් හැරල තිබුණෙ?'' මේ වගේ ප්‍රශ්න තමයි බොහෝ දෙනෙක්ගෙ මනසට මේ වෙන කොට දැනෙන්නෙ.

මේ ලෝක සත්වයා අල්ල ගෙන තියෙන දේවල්, ලෝක සත්වයාගෙ බලාපොරොත්තු, ලෝකෙට බැඳිල තියෙන බැඳීම් එක්ක බැලුවොත්, සෝවාන් වෙච්ච කෙනෙක්ගෙ ඉහත උපමාවේ සාගර ජලයට සමාන වූ අත් හරින ලද කෙලෙස් ප්‍රමාණය අපට හිතා ගන්න බැරි නොපෙනෙන කොටසක්. ඒ නිසා සෝවාන් ඵලයෙදි අත හැරිච්ච කෙලෙස් ප්‍රමාණය ඉහත උපමාව පරිදි දකිනව මිසක් අපට හිතා ගන්න පුළුවන්කමක් නෑ. අපි තුළම තියෙන ආසාවන්, බලාපොරොත්තු කොච්චරද කියල අපටම හිතා ගන්න බැරි තරම් විශාලයි. අපි එච්චරම මේ ලෝකෙට බැඳිලයි කටයුතු කරන්නෙ. කෙනෙක් කිව්වත්, තමන් කිසිම දේකට ආසා කරන්නෙ නෑ කියල, එහෙම කියන කෙනාගෙ ආසාවන්, බලාපොරොත්තු කොච්චරද කියල හොයල බැලුවොත් අසීමිතව තියෙනවා. නමුත් එච්චර බලාපොරොත්තු ඇතිවද තමන් ඉන්නෙ කියන කාරණය තමන්ටම අවබෝධ වෙන්නෙ නෑ. අපි මේ ලෝකෙන් බලාපොරොත්තු වෙන දේවල් ගොඩක් තියෙනවා. මේ විදියට බලාපොරොත්තු වෙන දේ තුළ අවිද්‍යා තණ්හා සහගත යම් ප්‍රමාණයක් ඇත්ද, ඒවා අපිව සසර ගමනට ඇදල දානවා. අවිද්‍යාව, තණ්හාව මුල් කරගෙන ඇති වන බලාපොරොත්තු බිඳ හැරපු දාට සසර ගමන ගෙනියන්න තිබුණු ආසාවත් බිඳිල යනවා. ඇලීම දුරු වෙනවා. එතකොට ගැටීමයි, මුලාවයි දෙකත් දුරු වෙනවා.

ලෝකය ගැන බලාපොරොත්තු වෙන කෙනෙකුට පවතින්නෙ අවිද්‍යා තණ්හා සහගත ඡන්ද රාගය. නමුත් නිවන බලාපොරොත්තු වෙන කෙනෙකුට පවතින්නෙ ඡන්ද සෘද්ධි පාදය හෙවත් නිවන් අවබෝධයට තියෙන කැමැත්ත. (සත් තිස් බෝධි පාක්ෂික ධර්මවල සතර සෘද්ධි පාදවලට අයත් දෙයක්) ඒ නිසා මේ වෙනස අවබෝධ කර ගන්න ඕන. ලෝකයට අයිති (ඇස, කන, නාසය, දිව, කය, මන), භුක්ති විඳින්න පුළුවන් දේවල් අපි සතුව තියෙනවා. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන දේවල් ලොවන්න අපි බලාපොරොත්තු වෙනව නම්

මේ ලෝකෙන් නික්ම යන්න බෑ. ලෝකෙ පැවැත්මට හේතු යම් ආගමකින් කිව්වත්, අපි හිතා ගෙන හිටියත්, කැමති වුනත් නැතත් ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන්ගෙන් යම් තාක් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන දේවල් අවිද්‍යා තණ්හාව මුල් කරගෙන බලාපොරොත්තු වෙනවද, ඒවා හොඳයි කියල බලාපොරොත්තු වෙනවා. එහෙනම් අවිද්‍යාව තණ්හාව මුල් කරගෙන පවතින සිතිවිලි, ක්‍රියා, වදන් තමයි සසර පැවැත්මට හේතු වෙන්නෙ.

ලෝක සත්වයා යමක් පතන්න, යමක් විඳින්න, යමක් රැස් කර ගන්න, යමක් දැන ගන්න බලාපොරොත්තු වෙනවා. ඒ දේවල් ලැබුනට පස්සෙ ඒව තමන්ගෙ කරගන්න බලාපොරොත්තු වෙනවා. තමන්ගෙ කර ගත්තට පස්සෙ ඒවා විඳින්න බලාපොරොත්තු වෙනවා. මේ ආකාරයට නානාවිධ බලාපොරොත්තු, අරමුණු නිසා ලෝක සත්වයා මේ සසර පැවැත්ම දික් කර ගන්නවා. ඒ කියන්නෙ යම් තරමක් බලාපොරොත්තු තියෙනවද, ඒ ප්‍රමාණය තමයි ඉවත් කර ගන්න තියෙන ප්‍රමාණය. යම් තරමක් බලාපොරොත්තු නැද්ද, එච්චර ප්‍රමාණයක් අත් හැරල තියෙනවා. සසර පිළිබඳ බලාපොරොත්තු සම්පූර්ණයෙන්ම අත් හැරීම අරිහත්වයේදි සිද්ධ වෙනවා.

යම් අයෙක් සෝවාන් ඵලයට පත්වුණු දාක, මේ ලෝකෙන් ලබා ගන්න තරම් වටිනා දෙයක් නෑ කියල අවබෝධ වෙනවා. ඇසෙන් රූප පේනවා, වින්දනය කරනවා විතරක් නෙවෙයි රැස් කිරීමත් කරනවා. නමුත් මේ දේවල් රැස් කරල කැමති විදියට තියා ගන්න පුළුවන්කමක් නැති බවත්, ඒවා සදාතනික සැනසීමක් දෙන වස්තු නොවන බවත් අවබෝධ කර ගන්නවා. ඒවායේ අවසානය ජරා, මරණ, සෝක, පරිදේව, දුක්, දොම්නස්, උපායාසයන්ගෙන් කෙළවර වන බවත් දකිනවා.

මෙබඳු රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මේ පංචකාමයන් සදාතනික, වටිනා, හරයක් ඇති වස්තු කියල හිතන දෘෂ්ටිය ඉස්සෙල්ලම බිඳෙනවා. ඒ කියන්නෙ, දහම් දර්ශනයෙන් ලබන්නා වූ පහ වීම හෙවත් දස්සනේන පහා තබ්බං කියන කාරණය මේ අවස්ථාවෙදි සිද්ධ වෙනවා. දර්ශනයෙන් පහ කළ යුතු කොටස පහ නොකර, භාවනාවෙන් පහ කළ යුතු කොටස පහ කර ගන්න බෑ. ඒ නිසා ඉස්සෙල්ලම දර්ශනයෙන් පහ කළ යුතු වෙනවා. ඒ කියන්නෙ බණ අහල තේරුම් අරගෙන දහම් දර්ශනයෙන් අත් හැරිය යුතු දේ අත් හරින්න ඕන. ඒ නිසා බණ අහන්නෙ නැතිව, දන් කියන විදියට භාවනා කරල සෝවාන් වෙච්ච කෙනෙක් ගැන ධර්මයේ කොතැනකවත් සඳහන් වෙන්නෙ නෑ. සෝවාන් වෙන්න අවශ්‍ය සත් පුරුෂ සංසේවනය, සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝමනසිකාරය සහ ධර්මානුධර්ම පිළිවෙත කියන සෝතාපත්ති අංග 4 පූර්ණ වුනාම සත්‍යය සහ හරයක් ඇති දේ පිළිබඳවත්, හරයක් නැති දේ පිළිබඳවත් අවබෝධය ලබනවා. මේ අවබෝධයත් එක්කම, පවතින අසීමිත බලාපොරොත්තු බිඳිල යනවා. කලින් සඳහන් කළා වගේ මේ සෝවාන් ඵලයෙදි ලොකු අත් හැරීම් ප්‍රමාණයක් සිද්ධ වෙන්නෙ ඒ ආකාරයට. නමුත් පංච කාමය විඳින බලාපොරොත්තු අවසන් කරල නැති නිසා කාම රාග, ව්‍යාපාද කියන ඒවායින් සතර අපාගත වීමට හේතු වන කොටස හැර ඉතිරිය තවමත් තියෙනවා. ව්‍යාපාද කියන්නෙ ලෝක සත්වයා කාමාතුරයන් වශයෙන් වැනසීමට හේතු වෙන ද්වේශ සහගත මානසිකත්වය. ඒ කියන්නෙ ලෝභ, ද්වේශ, මෝහ ආදී කෙලෙස් මුල් කරගෙන ඒවා නිසා ඇති වන මානසික පිරිහීම. ඒකෙන් සම්පූර්ණයෙන්ම ඉවත් වෙන්න නම්, අනාගාමී ඵලයට පත් වෙන්න ඕන බව ලොවුතුරා බුදු පියාණන් වහන්සේ විසින් පෙන්වා දෙනවා. ඇලීම දුරු කර ගත්තෙ නැත්නම් ගැටීමත් තියෙනවා. ඇලීම දුරු කර ගන්න තමයි බුදුන් වහන්සේ සතර සතිපට්ඨානය පෙන්වා දුන්නෙ. එතැන් පටන් භාවනාවෙන් පහ කළ යුතු දේවල් පහ කර ගන්න පුළුවන්.



දන් පැහැදිලි වෙනව, අර සිටු කුමාරිය මස් වැද්දෙක් එක්ක පැනල ගියත් දර්ශනයෙන් පහ කළ යුතු දේවල් පහ කරලයි පැනල ගියේ කියල. මේ විදියට දර්ශනයෙන් පහ කරන කොට, බුදුන් වහන්සේ උපමාවකින් පෙන්වා දුන්න වගේ, මහා සාගරය තරම් කෙලෙස් කොච්චර නම් ප්‍රමාණයක් පහ වෙනවද? රාග, ද්වේෂ, මෝහ ක්ෂය කරන යම් මගක් ඇත්ද, ඒකට ඒකායන මාර්ගය හෙවත් නිවන් මාර්ගය කියල කියනවා. ඒ මාර්ගයට එන්න නම් තමන් ඉන්න විවිධ දෘෂ්ටි තුරන් කරගෙන එන්න ඕන. එක එක සත්වයා එක එක දෘෂ්ටිවල ඉන්නවා. මේ විදියට අසූ හාරදහසක් දෘෂ්ටිවල ලෝක සත්වයා ගැවසෙන බව බුදුන් වහන්සේ පෙන්වා දෙනවා. එතකොට **මේ අසූ හාරදහසක් ධර්මස්කන්ධය කිව්වෙ ලෝක සත්වයා ගැවසිලා ඉන්න මේ අසූ හාරදහසක් දෘෂ්ටිවලින් බැහැර වෙලා මාර්ගය පාදා ගන්න අවශ්‍ය වන්නා වූ ධර්මයන්.** බුදුන් වහන්සේ එක් එක් ලෝක සත්වයා ඉන්න දෘෂ්ටි දැන ගෙන, ඒ දෘෂ්ටිය ඉවත් වන දෙයක් පළමුවෙන්ම දේශනා කළා. ඒ දේශනා තුළින් තමන් හිටපු දෘෂ්ටිය බිඳ ගත්තට පස්සෙ, ඒ පුද්ගලයාට තමන් හිටපු දෘෂ්ටිය වැරදි බව අවබෝධ වෙනවා. ඊට පස්සෙ නිවැරදි මග මොකක්ද කියන තැනට පාර කැපෙනවා. එතැන තමයි ඒකායන මාර්ගයට මුල පිරීම සිද්ධ වෙන්නෙ.

මේ අවස්ථාව වෙන කොට රාගක්ෂය, ද්වේෂක්ෂය, මෝහක්ෂය තෝර ගන්න ''යද නිච්චං තං දුක්ඛං යං දුක්ඛං තදනත්ථා'' කියන කාරණය බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. මේ කිව්වෙ අර අකුරු අටයි, පද තුනයි ගැන. අනිච්ච, දුක්ඛ, අනත්ත කියන කොට පද තුනක් බව පෙනුනට අකුරු අටකට වැඩියිනෙ කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. වර්තමානයේ සිංහල භාෂාව තුළ බැඳි අකුරු නැති වුනාට මෙතන බැඳි අකුරුවලින් ලියන කොට අනිච්ච සහ අනත්ත කියන පදවල ගැබ් වෙන්නෙ අකුරු තුන බැගින්. දුක්ඛ යන පදයට ගැබ් වෙන්නෙ අකුරු දෙකයි. එතකොට ඔක්කොම අකුරු අටයි. මේ විදියට අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් ධර්මය දේශනා කරල ඒක විග්‍රහ කරල දුන්නම, ඉස්සර හිටපු හේතු වාසනා තිබ්බ උදවිය සෝවාන් වුණා. ඒකට අද කාලෙ වගේ මාස ගණන්, අවුරුදු ගණන් බණ අහගෙන හිටියෙ නෑ. ඒ බුදුන් වහන්සේ වැඩ හිටපු කාලෙ. බුදු දහම ගැන කිසිම දෙයක් නොදන්න කෙනෙක්, බුදුන් වහන්සේගෙන් හෝ ආර්ය උතුමන්ගෙන් බණ අහල පැයක දෙකක කාල සීමාවක් ඇතුළත මග ඵලවලටත් පත් වුණා. **ඒ කාලෙ බණ පදයක් ඇහිච්ච පමණින් යම් මාර්ග ඵලයකට පත් වෙච්ච අය ඕන තරම් හිටියා. නමුත් අද කාලෙ මාස ගණන්, අවුරුදු ගණන් බණ ඇහුවත් මාර්ග ඵල නෑ.**

නිවන් දකින්න ගොඩක් බණ අහන්න ඕන නෑ. නමුත් අද වෙන කොට නිවන් දකින්න ඕන කරන බණ ටික වැහිල ගිහින්. ඒ නිසා අද නිවන් දකින පිරිස අඩුයි. එහෙනම්, නිවන් දකින්න අවශ්‍ය වෙන්නෙ මේ අකුරු අටයි, පද තුනයි හරියට තෝරා ගෙන කටයුතු කිරීම. සීලයෙන් තොරව සමාධියක් නෑ, සමාධියෙන් තොරව ප්‍රඥාවක් නෑ. හැබැයි සීලය කියන්නෙ වත නෙවෙයි. කාමඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්දච්ච කුක්කුච්ච, විචිකිච්ඡා කියන්නා වූ නීවරණ යම් තැනක පවතිනවද, දස අකුසලයෙන් යමක් එතැන තියෙනවා. සිතෙන්, කයෙන්, වචනයෙන් යම් අකුසලයකට චේතනාවක් පහළ වෙන යම් මොහොතක් ඇත්නම්, ඒ මොහොත තුළ ඒ පුද්ගලයා රැඳී ඉන්නෙ පංච නීවරණ තුළ. පංච නීවරණවලට කියන තවත් නමක් තමයි දස අකුසල්. එහෙනම් මේ දස අකුසලයෙන් වෙන් වෙච්ච වෙලාවක (පංච නීවරණවලින් බැහැර වෙච්ච වෙලාවක) කියන බණ වැටහෙනවා. දස අකුසල් චේතනාවකින් බණ ඇහුවට (පංච නීවරණ සහිතව) තේරෙන්නෙ නෑ. යම් කෙනෙක් පහන් සිතින්, ඕනෑකමින්, ගෞරවයෙන් බණ පදයක් අහන්න, ධර්මාවබෝධය ලබා ගන්න චිත්තප්‍රසාදයෙන් ඉන්න මොහොතක්, පංච නීවරණ දුරු වෙලා තදංග ප්‍රහාණය කරල ඉන්න මොහොතක් විදියට බුදුන් වහන්සේ පෙන්වා දෙනවා. ඒ කියන්නෙ පංච නීවරණයෙන් තොර වූ චිත්ත ස්වභාවයක් ඒ මොහොතේදී තියෙනවා. මේ අවස්ථාවෙදී පත් වෙන්නෙ තදංග සමථයට. එතැන සමථයක් මිසක් ධ්‍යානයක් නෑ. නීවරණ සමථයකට පත් කරන නිසයි සමථ කිව්වෙ. ධ්‍යානලාභීන්ට තියෙන්නෙ විෂ්කම්භන සමථය. මග ඵල ලාභීන්ට තියෙන්නෙ සමුච්ඡේද සමථය. විදර්ශනාවට නගාගන්න සුදුසු අවස්ථාවක් තමයි තදංග සමථය. විදර්ශනාවට නගාගන්න කොට ලෝක යථාර්ථය විශේෂයෙන් දකින්න ඕන. අපි දූන් දකින ක්‍රමය විද්‍යා සහගතව දකින්න ඕන. ඒ කියන්නෙ ලෝකය අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල දකින්න ඕන. එහෙනම් විදර්ශනාවට අනිච්ච, දුක්ඛ, අනත්ත තේරුම් ගැනීම අවශ්‍ය වෙනවා.

ගිහි අයෙකුට අනාගාමී මාර්ග ඵලයට පත් වෙනකල්ම ගිහි ගෙදර ඉන්න අවස්ථාව තියෙනවා. ඒ කියන්නෙ අනාගාමී ඵල තත්වය ගිහි වතේ අයටත් දරන්න පුළුවන්. නමුත් අරිහත් ඵලයට පත් වුනාම ගිහි වත ඔරොත්තු දෙන්නෙ නෑ. ඒ කියන්නෙ අරිහත් ඵලය ලැබුවට පස්සෙ පැවිද්දට යන්න වෙනවා. නැත්නම් ගිහි වතේ දින 7 යි ඒ විදියට ඉන්න පුළුවන් වෙන්නෙ. ඊට පස්සෙ පිරිනිවන් පානවා. එහෙම නැත්නම්, ගිහි වතක ඉන්න සමහර අයෙක් අනාගාමී ඵලයේ හිටියොත් මරණාසන්නයට ආවම සම සී සී වෙනවා. ඒ කියන්නෙ චුත වෙන මොහොත වෙන කොට නැවත ගිහි වතක ඉන්න තියෙන හේතු ප්‍රහීන වෙලා අරිහත්වයට පත් වෙලා පිරිනිවන් පානවා. ඒ කියන්නෙ මරණාසන්න මොහොතෙ අරිහත්වයට පත්වෙලා පිරිනිවන් පාන්න අවස්ථාව තියෙනවා. එහෙම නැත්නම් පංච සුද්ධාවාසවල ගිහින් උපදිනවා.

ලොව්තුරා බුදු රජාණන් වහන්සේ ජේතවනාරාමයේ වැඩ හිටපු එක් අවස්ථාවක, මිනිස්සු අතු පතු ගාල විසි කරල දාන කොළරොඩු පෙන්වල, ඒවා දකින කොට දැනෙන දේ ගැන භික්ෂූන් වහන්සේලාගෙන් විමසනවා. එතකොට උන් වහන්සේලා, ඒවා තුළ ගන්න හරයක් නැති බව සහ තමන්ට ඒවායින් වැඩක් නැති බව පවසනවා. ඊළඟට බුදුන් වහන්සේ මෙහෙම පෙන්වා දෙනවා. තම තමන්ගෙ කයත් මේ ආකාරයටම තව කෙනෙක් අරගෙන ගිහින් විනාශ කරල දැම්මොත්, අර කොළ රොඩු අහක දානව වගේ අහක දාන්න පුළුවන් වුනොත් එදාට අරිහත්වය පූර්ණ වෙනවා. මනස පිරිසිදු වෙලා සියල්ල අත් හැරී ගියා නම් ඒ තත්වයට පත් වෙන්න ඕන කියල පෙන්වා දෙනවා.

එහෙනම් මේ අරිහත්වයට පත්වීම කියන්නෙ එසේ මෙසේ දෙයක් නෙවෙයි. මානසිකත්වය තුලින් ඒ තරමට සුද්ධ වෙනව කියන්නෙ බොහොම ඉහළ තත්වයක්. ඉතිං මේ නිවන් මග පූර්ණ කිරීම ක්ෂණිකව කරන්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒ සඳහා අනුපූර්ව ක්‍රමයට මාර්ගය වැඩීම කරන්න ඕන. මාර්ගය වඩන කොට සුදුසු කාලෙ ඵල ලැබෙනවා. නමුත් මේ අත්භවයෙදිම ලැබෙනව කියල නිශ්චිතවම කියන්න බෑ. ඒකට දිගින් දිගටම මාර්ගය වඩන්න ඕන. පොල් පැළයක් හිටෙව්වම ගෙඩි ලැබේවා කියල ප්‍රාර්ථනා කරන්න දෙයක් නෑ. නමුත් අපිට ඕන වෙලාවට ඒ ගහෙන් පොල් ගෙඩි හට ගන්නෙත් නෑ. ඒ නිසා ඒකට පොහොර, වතුර ආදිය දාල සාත්තු සප්පායම් කරන්න ඕන. එතකොට නිසි කලට ගහ ලොකු වෙලා සුදුසු කාලෙ ආවම පොල් මල් ඇවිත් ගෙඩි හට ගන්නවා. ඒ වගේ තමයි මාර්ග ඵල අවබෝධයත්. අවශ්‍ය ප්‍රතිපත්ති පූර්ණ කිරීම පොල් ගහට කරන සාත්තුව වගේ. එහෙනම් ධර්මානුකූලව ජීවත් වෙලා අවශ්‍ය කරුණු විදර්ශනාත්මකව වටහා ගෙන කටයුතු කරනව නම්, ගිහි වතක ඉඳගෙනත් නිවන් දකින්න පුළුවන් බව තේරුම් ගන්න ඕන.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ප්‍රසාද් ද සිල්වා**
**පරිපාලන නිලධාරී**
**ශ්‍රී ලංකා පරිගණක හදිසි ප්‍රතිචාර සංසදය**

# නිවනට වදන්

## මා අකමැතිම දේ

**කෙනෙකුගේ සිත රිදෙන සේ කටයුතු කිරීම හා ඒමගින් සිත් තැවුල් ඇතිකර ගැනීම. එය අනාර්ය භූමියයි.**

## මා කැමතිම දේ

**කෙනෙකුගේ සිත නිවෙන සේ කටයුතු කිරීම හා ඒමගින් සියල්ලෝම සමාදානව සතුටින් විසීම. එය ආර්ය භූමියයි.**

**- වහරක අභයරතනාලංකාර හිමි -**

# ද්‍රව්‍ය පදාර්ථ ඥානයට හසුවන විවිධ ශාකවල සැඟව ගිය ඖෂධ ශක්තීන්

4 වන කොටස

ප්‍රසුගිය කලාපයෙන් විවිධ පළතුරු වර්ගවල සැඟවෙච්ච, විවිධ ගතිගුණයන්ට අදාල ශක්තීන් ගැන විග්‍රහ කළා. මේ ලිපියෙන් හෙළිදරව් කරන්නෙ විවිධ බෙහෙත් ශාකවල සැඟවෙච්ච ශක්ති විශේෂයන් ගැන.

ඉස්සර හිටපු මිනිස්සු ගමනක් යන කොට ඇඟේ පතේ හයිහත්තිය නැති අයට, වාරු නැති අයට උදව් කරන සිරිතක් තිබුණා. විශේෂයෙන් කඳු, හෙල්, ගල් තලා වගේ බාධක උඩින් යන කොට, ඒ වගේ අයට කෝ අත දෙන්න, හෙමින් බහින්න ... ආදී වශයෙන් කියල උදව් දෙන ගති ලක්ෂණයක්. නමුත් පසු කාලෙක මිනිස්සු ඒ විදියට උදව් දෙන්නෙ නැතිව තමන්ගෙ වැඩේ විතරක් කරගෙන ඉන්න පුරුදු වුණා. ඒකෙන් වාරු නැති අය දුර්වල වෙලා වැහැරිලා ගිහින් තවත් දුකට පත් වුණා. එතකොට ඒ විදියට ඇඟේ පතේ වාරු නැති අයට උදව් නොකිරීමත් යම්කිසි අගුණයක්. මේ විදියට කෝ අත්තල, හිමින් බටු කියන ගති ලක්ෂණය ගිලිහිලා ගිහින් තමයි ඒකට හිමි ශක්තිය කොතල හිඹුටුවල තැන්පත් වුණේ. කෝ අත දෙන්න කියන එක තමයි කෝ අත්තල - කොතල වුණේ. හෙමින් බහින්න, හෙමින් බටු කියන එක තමයි හිඹුටු වුණේ. අදත් ඇඟපත වැහැරීම නිසා ශරීරයේ එන දුර්වලකම්වලට කොතල හිඹුටු හොඳ ඖෂධයක් වෙනවා. ඒකෙ අර අත දුන්නු ශක්තිය තියෙනවා.

ඒ වගේම මුල් කාලෙ හිටපු මිනිස්සුන්ට අත පය හොල්ලන්නෙ නැතිව, වැඩක් පළක් කරන්නෙ නැතිව නිකං සැහැල්ලුවෙන් ඉන්න පුළුවන් ශක්තියක් තිබුණා. ඒ කියන්නෙ මිනිස්සු ළඟ තිබ්ච්ච ගුණය නිසා ජීවත් වෙන්න අවශ්‍ය සම්පත්තිය ඇති තරම් තිබුණා. අන්‍යෝන්‍ය සහයෝගයෙන් සමගියෙන්, සම්පත්වලට පොර කන්නෙ නැතිව බොහොම සුඛෝපභෝගීව පහසුවෙන් ජීවත් වෙන්න පුළුවන්කමක් තිබුණා. එතකොට ඒ මුල් කාලෙ අස්ථි ක්‍රියාකරවන්න ඕන වුනේ නෑ. ඒ නිසා අස්ථි අක්‍රිය වෙලා තිබුණෙ. මොකද වැඩක් පළක් කරන්න අවශ්‍ය වුනේ නැති නිසා. නමුත් පසු කාලෙක මිනිස්සු ගුණයෙන් හීන වෙන කොට අර තිබ්ච්ච සම්පත්තිය පිරිහෙන්න පටන් ගත්තා. එතකොට කලින් වගේ නිකං ඉඳගෙන සුඛෝපභෝගීව ජීවත් වෙන්න බැරි වුණා. අස්ථි ක්‍රියාත්මක කරල වෙහෙස මහන්සි වෙලා වැඩ පළ කරන්න සිද්ධ වුණා. එතකොට අර මුලින් තිබ්ච්ච අස්ථි අක්‍රිය කියන ගතිය නැති වෙලා ගියා.

මෙතනදි අස්ථි අක්‍රිය වෙලා තිබුණයි කියන්නෙ ඒ වෙන කොට තිබ්ච්ච හොඳ ශක්තියක්. මොකද සුඛෝපභෝගීව



ඉන්න තියෙනව නම් අස්ථි ක්‍රියාත්මක කරන්න ඕන නෑ. උදාහරණ විදියට කෝටිපතියෙකුට අතපය හොල්ලල වැඩක් පළක් නොකර නිකං ඉන්න පුළුවන්. නමුත් සම්පත් හිඟ වෙලා අහේනියට පත් වුණාම අස්ථි ක්‍රියාත්මක කරන්න වෙනවා. එතකොට මුල් කාලෙ අස්ථි අක්‍රිය වෙලා, සම්පත්තිය තියෙන කොට තිබ්ච්ච ශක්තිය තමයි පිටවෙලා ගිහින් අත්ථි + අක්ක - අත්තික්කා විදියට තැන්පත් වුණේ. ඊළඟට එහෙම අහේනියක් තියෙන කාලයක් ආවම අත පය හොල්ලල වැඩ කරන්න සිද්ධ වුණා. නමුත් මිනිස්සු ඒ වගේ කාලෙකදි එහෙම නොකර ඉන්න කොට, පසු කාලීනව ඒකට විපාක විදියට හන්දිපත් අමාරුකම් ආදිය එන්න පටන් ගත්තා. අදත් අතපය තියෙද්දි වැඩක් පළක් නොකර ඉන්න කොට, අතපය කොර වෙලාද කියල අහනවා. එහෙම කළාම සසරෙ කවද හරි අත පය හොල්ලන්න බැරි වෙන්න හන්දිපත් අමාරුකම්, කැක්කුම් එන්න පුළුවන්. දන් මොනව කළත් පෙර කරපු කර්ම විපාක ඒ විදියට එන්න පුළුවන්. ඒ වගේ එන කර්ම වේගයක ප්‍රතිඵලයක් තමයි ආතරයිටීස් කියන රෝගී තත්ත්වය. **අත්තික්ක ගහේ පොතු අරගෙන තම්බල හෝ අමුවෙන් හෝ ලුණු වතුර පොඩ්ඩක් දාල තලල හන්දිපත්වල බැන්දම ඒ විස ඔක්කොම ඒකට අදිනවා. එහෙම දවස් කිහිපයක් උදේට පැය 3 ක් විතර බැඳල තිව්වම ප්‍රමාණවත්. ඒක ආතරයිටීස්වලට ඖෂධයක් වෙනවා.**

ඊළඟට මුල් කාලෙ හිටපු මිනිස්සුන්ට සමාජයේ පොදු වැඩ කටයුතු නිසා තමන්ගෙ ගෙදර ගැනවත් බලන්න වෙලාවක් තිබුණෙ නෑ. මොකද අනුන්ට පිහිටක් වෙන්න ගියාම, සමාජයේ පොදු හොඳ වැඩවලට සම්බන්ධ වුනාම, ඒවට මුල් තැන දුන්නම තමන්ගෙ ගෙදර කටයුතුවත් බලන්න වෙලාවක් නැතුව ගියා. එතකොට තමන්ගෙ ගෙදර පේන්නෙත් නැති තත්ත්වයක් තමයි ආවෙ. ඊට පස්සෙ මිනිස්සු ආත්මාර්ථකාමීත්වයට පත් වෙලා, අනුන්ගෙ ඒව බලල හරි යන්නෙ නෑ, අපි අපේ ඒව රකින්න එපැයි කියල ගෙදර දාල යන්නෙ නැති කාලයක් ආවා. ඊළඟට අර කලින් තිබ්ච්ච ගේ පේන්නෙ නැති ශක්තිය හෙවත් පරාර්ථ ශක්තිය පිට වෙලා ගිහින් ගේ + අඳ - ගෙඳ කියල ශාකයක පිහිටියා. ගේ පේන්නෙ නැති හෙවත් අඳ බව තමයි ගේ අඳ කිව්වෙ. මේකත් ලුණුවිල වගේ ඖෂධීය ශක්තියක් තියෙන ශාකයක්. ඒක ව්‍යංජනයක් වශයෙන් හදල ආහාරයට ගන්න පුළුවන්. හැබැයි හැදෙන්නෙ දිය සීරාවෙ නෙවෙයි, සාමාන්‍ය පොළවෙ.

ඒ වගේම ඉස්සර මිනිස්සු ළඟ ප්‍රබෝධමත්ව වැඩ කටයුතු කරන්න පුළුවන්, ඉරියව්වලින් වාරුව ගන්න පුළුවන් ශක්තියක් තිබුණා. නමුත් පසු කාලෙක කම්මැලිකමට ඉන්න පටන් ගත්තම ඒ විදියට වැඩ කටයුතු කරන, ඉරියව්වලින් වාරුව ගන්න ශක්තිය නැතිවෙලා ගියා. ඉරියව්වල වාරුව ☞

නැති වෙනව කියන්නෙ යම්කිසි විදියකින් ඉන්ද්‍රියන් ක්‍රියාත්මක කරන ශක්තිය අක්‍රිය වීම. ඒ විදියට ඉරියව්වල තිබිච්ච වාරුව ගන්න ශක්තිය පිට වෙලා ගිහින් තමයි ඉරිවේරිය හැදුණෙ. අදත් ඒ ශක්තිය ඉරිවේරියවල තියෙනවා.

ඊළඟට ඉරියව් මුහු කරගන්න ගති ලක්ෂණයකුත් පෙර කාලෙ තිබුණා. ඒ කියන්නෙ අනික් අයගෙ ඉරියව්වලට තමන්ගෙ සම්බන්ධවීම, උදව් දීම තිබුණා. එහෙම තිබිල පසු කාලෙක අනික් මිනිස්සුන්ට උදව් නොදී පැහැර හැරියා. ඒ කියන්නෙ ඉරියව්වලට මුසු වීමේ ගති ලක්ෂණයෙන් ඉවත් වුණා. ඒ ගති ලක්ෂණයට අදාල ශක්තිය තමයි ඉරමුසු විදියට ශාකයක පිහිටියේ. අනුන්ට උදව් නොකළ ගති ලක්ෂණයෙන් ඇති වෙච්ච අඩුපාඩුවට අදාල ශක්තිය අදත් ඉරමුසුවල තියෙනවා.

ඒ වගේම ඉස්සර හිටපු මිනිස්සු ළඟ කෙනෙක් පෝෂණයෙන් අල්ලල ආලය පාන ගති ලක්ෂණයක් තිබුණා. ඒ කියන්නෙ කන්න බොන්න දීල ආලය කරන ගති ලක්ෂණයක්. ඒක පැවැත්මට උදව් දෙන ශක්තියක්. ඒකත් ඒ කාලෙ තිබිච්ච ගුණයක්. නමුත් පසු කාලයක ආලය කෙරුවත් කන්න බොන්න දීල පෝෂණය කරන ගති ලක්ෂණය ඉවත් වුණා. ඒ කියන්නෙ අයුතු විදියට කපටිකමට ආලය ලබල පැනල යන ගති ලක්ෂණයට ආවා. එතකොට කලින් තිබිච්ච පෝෂණයෙන් අල්ල ගෙන ආලය පාන ගති ලක්ෂණය ඉවත් වෙලා ගිහින් පෝ + අල් + පා + ආල - පොල්පලා විදියට පිහිටියා.

ඒ වගේම අර මුලින් විස්තර කරපු, කෝ අත්තල හිමින් බටු කියන ගති ලක්ෂණය වගේ ආ අත, හා අත දෙන්න කියල නැති බැරි අයට ඉරියව් පවත්වන්න වාරුව ගන්න අත දීමේ ගති ලක්ෂණයක් මුල් කාලෙ තිබුණා. මං අත දෙනව, ඉරියව් ක්‍රියාත්මක කරන්න වාරුව ගන්න කියන එක තමයි ඒකෙන් කියන්නෙ. එහෙම කියල අනිත් අයට උදව් දෙනවා. නමුත් පසු කාලෙක ඒ ගති ලක්ෂණයත් ඉවත් වුණා. ඒකෙන් තමයි හා + අත + වා +ඉරිය - හාතවාරිය හැදුනෙ. අදත් ඇඟපත දුර්වල අයට හාතවාරිය කැඳ හොඳ ඖෂධයක් වෙනවා. දැන් මේ විස්තර කරපු ශාකවල තියෙන්නෙ පොදුවේ එදා තිබිච්ච ළඟ ළඟ ගති ලක්ෂණවලට අදාල ශක්තිය.

ඒ වගේම මුල් කාලෙ හිටපු මිනිස්සු ළඟ පිළිකුල් දේවල්වලට තිත තියන ගති ලක්ෂණයක් තිබුණා. තිත තියනවා, තිත් කරනවා කියන්නෙ යම්කිසි දෙයක් නැවැත්වීම. පිළිකුල් දේවල් නවතා තබන ශක්තියක් තමයි මුල් කාලෙ තිබුණෙ. නමුත් පසු කාලෙක පිළිකුල් දේවල්වලට ලැජ්ජාවක් බයක් නැති තත්වයට පත් වෙලා ඒවට තිත තබන ගති ලක්ෂණය නැති වෙලා ගියා. ඒකට අදාල ශක්තියෙන් තිත්පිලි හට ගත්තා. අදත් යම්කිසි අජීර්ණ, මුත්‍රා අමාරු ආදියට තිත්පිලි විශේෂයෙන් ගුණයි. ඒ වගේම මේ **තිත්පිලි කරල්** බැදල, **කුඩු කරල අරගෙන ඒ කුඩු පැසවපු තුවාලවලට දැම්මම ඒ තුවාල වේලිලා සමනය වෙනවා.**

ඒ වගේම අසම වූ දේවල් උදා කර ගන්න, ඔසව ගන්න ගති ලක්ෂණයක් මුල් කාලෙ මිනිස්සු ළඟ තිබුණා. ඒ කියන්නෙ බුදු දහම වගේ විශේෂ, උතුම් දේවල් තමයි ඒ විදියට උදා කරගත්තෙ, ඔසව ගත්තෙ. වෙනත් විදියකින් කියනව නම් තමන්ගෙ ජීවිතයට ගුණ උදාකර ගත්තා. නමුත් පසු කාලෙක ඒ ගති ලක්ෂණයත් ගිලිහිලා ගියා. එතකොට ඒකට අදාල ශක්තිය ගිහින් අසමෝදගම්වල පිහිටියා. අදත් මේ අසමෝදගම්වල ඇඟට අගුණ දේවල් අහක් කරල ගුණදායක දේවල් ඉතිරි කරල දෙන ශක්තියක් තියෙනවා. ඒ නිසා උදකය හෙවත් උදරය අසම වුනාම ගන්න ඖෂධයක් වෙනවා. බඩේ අජීර්ණවලට ගන්නෙත් ඒ නිසා තමයි. ඒ වගේම විශේෂයෙන් මොළේ වැඩෙන ශක්තියකුත් මේ අසමෝදගම්වල තියෙනවා.






ඊළඟට මුල් කාලෙ හිටපු මිනිස්සු ළඟ, ගෙදරට අමුත්තෙක් ආවම සාදරයෙන් පිළිගන්න ගති ලක්ෂණයක් තිබුණා. පත් ආ වඩ ගන්නවා කියන්නෙ ගෙදරට සැපත් වෙච්ච කෙනාට, එන්න ඇවිත් වාඩිවෙන්න කියල පා අඩක් පිළිගන්න ගති ලක්ෂණය. පා අඩක් ගත්තම අඩක් බිම තියෙනවා, අනික් අඩ පුටුවෙ තියෙනවා. කකුල් දෙක දණ හිසෙන් පහළට එක අඩක්, දණ හිසෙන් උඩ අනික් අඩ. ඒ කියන්නෙ ඉඳ ගන්න දෙනවා. ආගන්තුක සත්කාරය තමයි මේ කියන්නෙ. නමුත් පසු කාලෙක ඒ ගති ලක්ෂණයත් ඉවත් වෙලා ගිහින් ඒකට හිමි ශක්තිය තමයි පත් + පා + අඩගම් - පත්පාඩගම් කියන ශාකයේ තැන්පත් වුණේ.

ඒ වගේම මුල් කාලෙ මිනිස්සු තවත් කෙනෙක් දැක්කම පන්න ගත්තෙ නැ. ඒ පුද්ගලයගෙන් ගන්න යම්කිසි වැදගත් ඵල ප්‍රයෝජනයක් තිබුණ නම්, ඒ පුද්ගලය තමන්ට වැදගත් කියල හොයල බලල එකතු කර ගන්න ගති ලක්ෂණයක් තිබුණා. ඒ කියන්නෙ තමන්ගෙ ඇසුරට මුහු කරගත්තා වැනි කෙනෙක් වුණා. නමුත් පසු කාලෙක ඒ ගති ලක්ෂණයත් අහක් වෙලා ගිහින් ඒකට හිමි ශක්තිය මුස්සැන්නවල තැන්පත් වුණා. ඒ වගේම එහෙම ඇසුරට මුහු කර ගන්න කොටත් සුදුසු කෙනා හොයල බලල, නුසුදුසු කෙනා අස් කරන ගති ලක්ෂණයක් තිබුණා. නමුත් කාලයක් යද්දි සුදුසු කෙනා අස් කරල නුසුදුසු අයව ගන්න පටන් ගත්තා. අස් කළ යුතු කෙනා අහක් නොකර හැරියා. ඒ ශක්තිය ගිහින් අස්වැන්න කියන ශාකයේ පිහිටියා.

ඊළඟට සහ ආලේ හෙවත් සහලේ කියන්නෙ තමන්ගෙ පිරිස. ඒක තමයි කාලයක් යද්දි ව්‍යවහාරයෙන් සහල - සහල් - හාල් බවට පත් වුණේ. ඉස්සර හිටපු මිනිස්සු ළඟ තමන්ගෙ හිතවතුන්ට ඇලිල ගැලිල උදව් උපකාර කරන ගති ලක්ෂණයක් තිබුණා. උලනවා කියන්නෙ යම්කිසි තැනක ඇලී ගැලී ඉඳීම. අවංකව ආලය කරන, ඇලිල ගැලිල කටයුතු කරන පිරිසක් හිටිය නම් ඒ අය ආවෙ ගියේ, වැඩ කටයුතු කළේ එකට. නමුත් පසු කාලෙක අසමගිය වැඩිවෙලා ඇලිල ගැලිල ආලය කියන එකත් ආත්මාර්ථකාමීත්වයෙන් ගන්න ගියාම, ඒ ගති ලක්ෂණය ඉවත් වුණා. එතකොට උදව් උපකාර කරන, එකට වැඩ කටයුතු කරන ගති ලක්ෂණයත් නැති වෙලා ගියා. ඒකෙන් වෙහෙස මහන්සිය වැඩි වුණා. ඒ ගති ලක්ෂණයට අදාල

ශක්තිය තමයි උළුහාල්වල පිහිටියේ. අදත් වෙහෙස මහන්සිය වැඩි වුනාම ඇගේ පතේ මහන්සියට උළුහාල් තම්බල දෙනවා.

ඒ වගේම යම්කිසි යහපත් දෙයක ඉන්දුවනවා, නවත්ව ගන්නවා කියන ගති ලක්ෂණයක් මුල් කාලෙ මිනිස්සුන්ට තිබුණා. ඒ වගේම කෙනෙක් නැගිට ගන්න බැරිව, ඇවිද ගන්න බැරිව ඉන්න කොට පහසුවෙන් ඉන්න සලස්වන ගුණයක් තිබුණා. පසු කාලෙක ඒ ගතිගුණත් ඇත් වෙලා ගිහින් ඒකට අදාල ශක්තිය උඳුවල පිහිටියා.

ඊළඟට යම්කිසි වැඩ කටයුත්තක් කරන්න ගියාම ඒක ධර්මානුකූලව තාලයකට කරන ගති ලක්ෂණයක් මුල් කාලෙ මිනිස්සුන්ට තිබුණා. ඊට පස්සෙ ඒ වැඩේ තහවුරු වුනාම ඒකට ආලය කරනවා. නමුත් පසු කාලීනව වැඩ කටයුතු අවුල් කරගෙන ඒ ධර්මානුකූල තාලයත් නැති වෙලා ගියා. ඊට පස්සෙ තහවුරු වෙච්ච දෙයක් නැති නිසා ආලයත් අත හැරියා. ඒකට අදාල ශක්තිය තමයි තලවල පිහිටියේ.

ඒ වගේම තහවුරු කළ යුතු දේට ආලය කරන තත්ත්වය එහෙම්ම නතර කර ගෙන ස්ථාවරව තබා ගැනීමේ ගති ලක්ෂණයකුත් තිබුණා. අල් කරනවා කියන්නෙ යමක් අල්ලගෙන නතර කරගෙන හිටුවා තබා ගැනීම, හෙල්ලෙන්නෙ නැතිව තබා ගැනීම. ඒ කියන්නෙ තහවුරු කරල ගේන ඒව නතර කරගෙන විනාශ වෙන්න නොදී පවත්වාගෙන හිටියා. අකුරක් වුනත් අල් කළොත් එතනින් එහාට ඒකෙ ශබ්දය ඇදල ගෙනියන්න බෑ. උදාහරණ විදියට ''ල'' යන්න අල් කළොත් ඒක ලා... කියල කියවෙන්නෙ නෑ. ''ල්'' කියල එතනින් නතර වෙනවා. එතනින් අල්ල ගන්නවා. මේ වගේ අර කලින් තහවුරු වෙච්ච දේට කරපු ආලය තවත් ස්ථාවර කළා. ආලය කරගත්තු එක අල්ලගෙන හිටියා. ඒ ගති ලක්ෂණය පසු කාලීනව පිට වෙලා ගිහින් ඒක තමයි තහ + අල් - තල් වුණේ. එතකොට තහවුරු කර ගත්තෙ ධර්මය.

තහවුරු කරල ආලය කරන තල කියන එකෙත් අවස්ථා දෙකක් තියෙනවා. එකක් අධ්‍යාත්මික පැත්ත. අනෙක බාහිර පැත්ත. ඒ ධර්මයට ආලය කරන කොට තල කැරළි, තල තෙල් වගේ දේවල් සංග්‍රහ කරන්න, පූජා කරන්න ගන්නවා. ඒක තමයි අධ්‍යාත්මික පැත්තෙන් බිහි වෙච්ච දේ. බාහිර ලක්ෂණයෙන් අල්ල ගත්තු එක තමයි තල මාගල ආදී වශයෙන් හිඳින්න, නිදාගන්න පැදුරුවලට ගන්නෙ. ඒ කියන්නෙ බණ අහන්න යම්කිසි තැනක ඉඳගන්න යොදා ගන්නවා. ඊළඟට ඒ ධර්මය අල්ල ගෙන ස්ථාවරව තබා ගත්තු ගති ලක්ෂණය ගිලිහිලා ගිහින් හැදිච්ච තල් ගහේ කොළත්, පැදුරු හදල යම් යම් දේවල් ඔතන්න පාවිච්චි කරනවා. එතකොට තල මාගල, තල් පැදුර කියල වර්ග 2 ක් තියෙනවා. මොකද ඒ ගති ලක්ෂණයට අදාලව තල් කොළවලත් යම්කිසි විදියකට ස්ථාවර බවක්, ශක්තියක් තියෙනවා. ඒ කියන්නෙ යම් කිසි දෙයක් යම්කිසි තැනක නතර කිරීම තහවුරු කරල ස්ථාවර කරනවා. තල් පැදුරු ඒකට පාවිච්චි කරනවා. තහවුරු කරල අල්ල ගත්තු ශක්තිය ඒකෙ තියෙනවා. එතකොට තහවුරු කරපු දේට ආලය කිරීමේ ගති ලක්ෂණය තල වුණා, ඒක අල්ලගෙන ඉඳීමේ ගති ලක්ෂණය තල් වුණා. එකක් අනිකට උපනිශ්‍රය වුණා.

ඒ වගේම මුල් කාලෙ හිටපු මිනිස්සු ළඟ කිළිටි, තුච්ඡ දේවල් හලා දමන ගති ලක්ෂණයක් තිබුණා. කිතු



හලනවා කියන්නෙ ඒකට. නමුත් පසු කාලෙක කිළිටි තුච්ඡ දේවල් හැලීමේ ගති ලක්ෂණය ගිලිහිලා ගිහින් ඒකට හිමි ශක්තිය කිතුල් කියන ශාකයේ තැන්පත් වුණා. ශරීරය ඇතුලෙ කිළිටි දේවල් හැදුනම විවිධ අසනීප අමාරුකම් එනවා. කිතුල් පිටි කැඳ දුන්නම ඒ අමාරුකම් අහක් වෙනවා. විශේෂයෙන් රක්තවාත ආබාධ, ලේ දෝසවලට කිතුල් පිටි ගුණයි.

ඒ වගේම මුල් කාලෙ මිනිස්සු ළඟ තමන්ගෙ වේණිය වැළඳගෙන ගැට ගැහෙන ගති ලක්ෂණයක් තිබුණා. වේණිය කියන්නෙ පරම්පරාවෙන් ආපු යහපත් ගති ලක්ෂණ. ඒකෙන් අහකට යන්නෙ නැතිව ගැට ගැහිල ඉන්න ගති ලක්ෂණයක් තමයි මුල් කාලෙ තිබුණෙ. නමුත් පසු කාලෙක පර වැඩවලට හිත ගියාම තමන්ගෙ වේණිය වැළඳගෙන ගැට ගැහිල ඉඳීමේ ගති ලක්ෂණයත් ඉවත් වුණා. තමන්ගෙ පරම්පරාවෙන් ගෙනාපු සිරිත් විරිත් අත හැරල දැම්මා. එතකොට ඒ පරපුර කඩ වෙලා ගියා. ඊට පස්සෙ නිකං බාහිර කරදරවලින් තැලෙන්න, බැට කන්න පටන් ගත්තා. ඒ විදියට ගිලිහිලා ගියපු ශක්තිය තමයි වෙණිවැල්ගැටවල පිහිටියේ. අදත් ශරීරයේ ඇති වන්නා වූ කැක්කුම්, තැලීම්, බැට පහරවල්වලට හොඳ ඖෂධ ශක්තියක් වෙණිවැල්ගැටවල තියෙනවා.

ඒ වගේම ඉස්සර හිටපු මිනිස්සු ළඟ හොඳ යහපත් දේවල් තෝර තෝර ගන්න ගති ලක්ෂණයක් තිබුණා. ඒ ගති ලක්ෂණය ඇත් වෙලා ඒකට හිමි ශක්තිය තමයි තෝර කියන ශාකයේ පිහිටියේ. එතනදිත් යහපත් ගුණ ධර්ම වගේ ප්‍රණීත දේවල් තෝරා ගැනීමේ ගති ලක්ෂණය ඉවත් වෙලා ගිහින් පැණිතෝර හට ගත්තා. ඇති දේවල් හෙවත් මිල මුදල්, ධන ධාන්‍ය ආදී සම්පත් නිවැරදිව තෝර ගන්න ගති ලක්ෂණය ඉවත් වෙලා ගිහින් ඇත්තෝර හට ගත්තා.

ඒ වගේම තමන්ට උදව් උපකාර කරන තමන්ගෙ හිතවතුන් කෝ කියල හොයල බලන ගති ලක්ෂණයක් මුල් කාලෙ මිනිස්සු ළඟ තිබුණා. අඹ කියන්නෙ හිතවත්කම. කොහේ හරි ගමනක් ගියාමත් ඒ තියෙන හිතවත්කමට කෝ කෑවද, බිව්වද, කොහෙද ... ආදී වශයෙන් හොයල බලනවා. නමුත් ඒ ගති ලක්ෂණයත් පසු කාලෙක අහක් වෙලා ගිහින් ඒකට හිමි ශක්තිය තමයි කෝ + හෝ + අඹ - කොහොඹ කියල ශාකයක තැන්පත් වුණේ.

ඒ වගේම ඉස්සර කවුරු හරි හොඳ දෙයක් කියන කොට ඒ හඬට ඇහුම්කන් දීල ඒක හුරු කරගන්න පුරුද්දක් මිනිස්සුන්ට තිබුණා. ඒ ගති ලක්ෂණය ඒ කාලෙ හිටපු වැඩිහිටියො තමන්ගෙ දරුවන්ට පවා හුරු පුරුදු කරල තිබුණා. නමුත් පසු කාලෙක හොඳ හඬක් ඇහුනත් ඒක ගණන් නොගෙන හුරු නොකර හැරියා. එතකොට ඒ හඬ හුරු කරගන්න ගති ලක්ෂණය ගිලිහිලා ගිහින් ඒකට අදාල ශක්තිය එඬරුවල පිහිටියා.

ඒ වගේම කලාත්මක දේවල්වලට අවශ්‍ය ආහාරයක් මුල් කාලෙ තිබුණා. අන් කියන්නෙ ආහාරය. ඒ ආහාරය තමයි හිතේ තිබිච්ච සැනසුම, ප්‍රියමනාපය. ද්වේශ සහගත මනසකින් ඒක ගන්න බෑ. එතකොට කලාත්මක මනසක් කියන්නෙ යම් කිසි පුණ්‍ය ශක්තියක්. ඒකට අවශ්‍ය චිත්ත ප්‍රසාදය තමයි ඒකට ආහාරයක් වෙන්නෙ. ඒ කියන්නෙ මනසට සම්බන්ධ කලාත්මක දේවල් අගය කරන

ශක්තිය. ඒ කලාත්මක දේවල්වලට අවශ්‍ය ආහාරය පසු කාලෙක දුරු වෙලා ගියා. ඒ ශක්තිය තමයි කලා + අන් + දුරු - කලාඳුරුවල පිහිටියේ. උදාහරණ විදියට කෙනෙක් කොහේ හරි කොටුවෙලා අසහනයට පත් වෙලා ඉන්නවා. ''අපිට යන්න විදියක් නෑ, කිසිම නිදහසක් නෑ, චිත්‍රපටියක් නැටුමක් බලන්න යන්න විදියක් නෑ...'' මේ ආදී වශයෙන් ලතැවෙන කොට ශරීරයේ දොස් ඇති වෙනවා. එතකොට හිත් අමනාපකම් ඇති වෙලා මූණ නරක් වෙන කොට මූණ අඳුරු වෙලා කුරුළෑ ලප කැළැල් බිබිලි ආදිය එනවා. ඒ දෝසවලට ශක්තිය කලාඳුරුවල තියෙනවා. **කලාඳුරු දෙහි ඇඹුලින් ගල ගාල මූණෙ ගෑවම ඒ කුරුළෑ, ලප, බිබිලි ආදිය පිච්චිලා යනවා. මූණෙ අඳුරු ගතිය දුරු වෙලා කලාත්මක බව එනවා.**

ඒ වගේම යම්කිසි යහපත් ගුණයක් හඳුනන ගති ලක්ෂණයක් ඉස්සර හිටපු මිනිස්සු ළඟ තිබුණා. ඒ කියන්නෙ යහපත් දේවල් දැන ගන්නවා. ඒ විදියට කෙනෙක්ගෙ දුකකදි කරදරයකදි ඒක හඳුන ගෙන හදවත රත් වෙන ගතිය තිබිල, ඒක ඉවත් වෙලා ගියාම ඒ ශක්තියෙන් රත් හඳුන් හැදුනා. ඒ වගේම සුද්ධ භාවය හඳුනන ගති ලක්ෂණය තිබිල පසු කාලෙක ඒක ඉවත් වුනාම ඒ ශක්තිය සුදු හඳුන්වල තැන්පත් වුණා. යම්කිසි විදියක කෙනෙක්ගෙ මානසිකත්වය වික්ෂිප්ත වෙලා චිත්ත අප්‍රසාදයක් ඇති වෙන කොට මේ හඳුන් වර්ග දෙකම ඒකට ගුණයි. හොඳට යමක් දැනගන්න, කල්පනා ශක්තිය වැඩි කර ගන්න උපකාරී වන ගුණයක් මේ හඳුන්වල තියෙනවා. සම්මා සතිය නිසා තමයි සුදු ගතිය සහ රත් ගතිය හඳුනන්නෙ. සම්මා සතියක් නැත්නම් ඒව හඳුන ගන්න බැරි වෙනවා. ලෞකික වශයෙන් ගත්තත් මෙතනදි සම්මා සතිය කියන්නෙ ලෞකික සිහි නුවණ. ඒකට ඖෂධීය ශක්තියක් මේ හඳුන් වර්ග දෙකේම තියෙනවා. විශේෂයෙන් හඳුන් තෙල් ඖෂධයක් වශයෙන් පාවිච්චි කරනවා. ඒ වගේම සුදු හඳුන් කොළ මැල්ලුම ආහාර වශයෙන් ගන්නවා.

ඒ වගේම යම්කිසි විදියකින් හොඳින් අභිමානවත්ව ඉන්න පුළුවන් ගතියක් මුල් කාලෙ මිනිස්සු ළඟ තිබුණා. මදය කියන්නෙ ඒ අභිමානය, ශක්තිය, බලය. අන්න ඒ මද ගතිය පසු කාලෙක ඇට වෙලා ගිහින් ඒකට හිමි ශක්තිය මදටියවල තැන්පත් වුණා.

ඊළඟට මුල් කාලෙ මිනිස්සු යම්කිසි වටිනා දෙයක් ලැබුනම හදිසි අවස්ථාවකදි ප්‍රයෝජනයට ගන්න ඒක අරගෙන වේලල කොටල තැන්පත් කරගන්න ගති ලක්ෂණයක් තිබුණා. අන් කියන්නෙ ඒ විදියට තියා ගන්න ආහාරය. නමුත් ඒ ආහාරය වේලල කොටල තැන්පත් කරල තියාගන්න ගති ලක්ෂණය පසු කාලෙක ගිලිහිලා ඒව නිකං අපතෙ ගියා. ඒකට හිමි ශක්තිය තමයි කොට්ටංවල පිහිටියේ.

ඊළඟට නිකාන්තිය හෙවත් නික කියන්නෙ ආලෝකමත් ගතිය, ප්‍රබෝධමත් ගතිය. මුල් කාලෙ මිනිස්සුන්ගෙ හිත්වල ප්‍රසාදය තිබිච්ච නිසා එහෙම ආලෝකමත් ගතියක්, ප්‍රබෝධමත් ගතියක් තිබුණා. නමුත් පසු කාලෙක ඒ ගතිය නැතිවෙලා ගිහින් නිකං මලානික බවක් එන්න පටන් ගත්තා. ඒ ශක්තිය ගිහින් නික කියන ශාකයේ තැන්පත් වුණා.



ඒ වගේම තමන්ට සහ තමන්ගෙ හිතවත් පිරිසට ආස්වාදය, සුන්දරත්වය හදල දෙන යහපත් ගති ලක්ෂණයක් මුල් කාලෙ මිනිස්සු ළඟ තිබුණා. නමුත් ඒ ගති ලක්ෂණයත් පසු කාලෙක ඉවත් වුණා. ඒකට අදාල ශක්තිය තමයි ස්ව + අස් + සඳ - සස්සඳ කියල ශාකයක පිහිටියේ.

ඒ වගේම මුල් කාලෙ හිටපු මිනිස්සු ළඟ අමෘත රසය පානය කරන ගති ලක්ෂණයක් තිබුණා. ඒ කියන්නෙ මොන දේක හෝ හොඳම සාරවත්ම කොටස ගන්න ගති ලක්ෂණය. නමුත් පසු කාලෙක ඒ අමෘත රසය පානය කරන ගති ලක්ෂණය ඉවත් වෙලා ගිහින් ඒ ශක්තිය ර + අම් + පේ - රම්පෙ විදියට පිහිටියා. ර අම් කියන්නෙ අමෘත රසය. පේ කියන්නෙ පානය කරනවා. අදත් රම්පෙවල ඒ රසය තියෙනවා. ඒ කියන්නෙ ශරීරය දුර්වල වෙන කොට අවශ්‍ය කරන ජීවන ශක්තියක් ඒකෙ තියෙනවා.

ඊළඟට කර බව හෙවත් කෲර බවේ පිහිටීම කෙළවර කරන හෙවත් අංච කරන ගති ලක්ෂණයක් මුල් කාලෙ තිබුණා. ඒ කියන්නෙ කෲර බවට පත් වෙන්න ඉඩ දෙන්නෙ නෑ, ඒ ගතිය නැගී හිටින කොටම විනාශ කරල දානවා. නමුත් පසු කාලෙක මිනිස්සු කෲර බවට පත් වෙන කොට ඒකට හිමි ශක්තිය ඉවත් වෙලා ගිහින් කරපිංච විදිහට පිහිටියා.

ඒ වගේම සේයාවට අනුව ආරෙට යන ගතියක් මුල් කාලෙ හිටපු මිනිස්සුන්ට තිබුණා. ඒ කියන්නෙ යහපත් පැත්තෙ සේයාවට අනුකූලව යනවා. යම් කිසි විදියකින් යහපත් විදියට දීල තිබිච්ච දර්ශනය හෙවත් ඒ ආරය දිගටම ගෙනියනවා. ඒ විදියට සේයාවට අනුකූලව ආපු ආරය නැති වුනාම ඒකට හිමි ශක්තිය සේරවල තැම්පත් වුණා.

ඒ වගේම කෲර බවට පත් කරන ශක්තිය හින්දවන හෙවත් නවත්වන ගති ලක්ෂණයක් මුල් කාලෙ සමාජයේ තිබුණා. ඒ කියන්නෙ කෲර බව නැගී හිටින්න දෙන්නෙ නෑ, තරහක් එන කොට නැගෙන්න දෙන්නෙ නෑ. එතනම හින්දවනවා, නවත්වනවා. නමුත් කාලයක් යද්දි කෲර බවක් ආවම ඒකට නැගී හිටින්න ඉඩ දුන්නා. එතකොට පෙර තිබිච්ච හොඳ ශක්තිය පිට වෙලා ගිහින් කුරුඳු කියන ශාකයේ පිහිටියා. **අදත් ඉවසීමේ ශක්තියට කුරුඳු හරි විශේෂයි.**

ඊළඟට සෝර ගතිය කියන්නෙ සැඩ පරුෂ ගතිය. ගෝරනාඩු කියන්නෙත් ඒකයි. ඒ වගේ සැඩ පරුෂ ගතිය කා දමන, ක්ෂය කර දමන ගති ලක්ෂණයක් මුල් කාලෙ ජන සමාජයේ තිබුණා. ඒ කියන්නෙ ඒ වගේ සෝර සැඩ පරුෂ ගතියක් ආවම ඒකට පහර ගහනවා. කවුරු හරි සැඩ පරුෂ වෙනව නම් ඒකට ඉඩ දුන්නෙ නෑ. නමුත් පසු කාලයකදි මිනිස්සු සැඩ පරුෂ වෙන කොට ඒවට උදව් දීල වර්ධනය කරන තත්ත්වයක් ආවා. එතකොට අර සෝර ගතිය කා දමන හොඳ ගති ලක්ෂණය ගිලිහිලා ගිහින් ගොරකවල පිහිටියා. ඒ සෝර ගතිය සමනය කරන යම්කිසි ඖෂධීය ශක්තියක් ගොරකවල තියෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 29**

# අමනුස්සයන්ගේ වගතුග....



(පසුගිය කලාපයෙන් - අමනුස්ස උපද්‍රවවලින් වැළකීමට අනුගමනය කළ යුතු ධර්මානුකූල ක්‍රමය වැඩිදුරටත්...)

**- වහරක අභයරතනාලංකාර හිමි**

අමනුස්ස උපද්‍රවවලින් වැළකීමට පෙරේත තටුවක් සමග සාංඝික දානයක් දීල නිවැරදි පුණ්‍යානුමෝදනාවක් සහ පැන් වැඩීමක් සිද්ධ කරන ආකාරයත්, ඒ සම්බන්ධ සත්‍ය අත්දැකීම් කිහිපයකුත් තමයි පසුගිය කලාප දෙකින්ම විග්‍රහ කළේ. ඒ සම්බන්ධව පින්වතුන් බොහෝ උනන්දුවක් දක්වන ආකාරයක් පෙනී යන නිසාත්, ප්‍රායෝගිකවම තමන්ට තිබිච්ච අමනුස්ස කරදර දුරු කර ගැනීමට ඉවහල් වෙලා තියෙන නිසාත්, මේ සම්බන්ධව තවත් අත්දැකීම් සමග අමතර කරුණු කිහිපයක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ.

මේ වගේ එක්තරා තැනක පෙරේත තටුවක් තියන කොට එතනට සම්බන්ධ වයසක මවු කෙනෙක්ගෙ ඇගේ අමනුස්සයෙක් හිටියා. ඒ මවුට බොහොම තදින් පපුවෙ සෙම් අමාරුව, කකුලෙ අමාරුව ආදී විවිධ අමාරුකම් තිබුණා. දැන් අර පෙරේත තටුව දීපු වෙලාවෙ මම යොමු කරල බලන කොට, තනිකරම මස් වැදැල්ලක් වගේ ප්‍රේතියක් ඒ තටුවෙන් ආහාර ගන්නවා. හරියට එළුවෙක් හම ගහල වගෙයි, තනිකරම මස් වැදැල්ලක් විතරයි. සිවියක් නෑ. බොහොම අමාරුවෙන් තමයි ගෑවෙන්නෙ නැතිව ගිහින් ඒ තටුවෙන් ආහාර ගත්තෙ. ඊට පස්සෙ ආහාර අරගෙන නිකං එළියෙ ඉන්න බැරි නිසා නැවතත් අර මවුගෙ ඇඟ ඇතුලට රිංගුවා. මොකද පිට සිවියක් නැති නිසා තනියෙන් ඉන්න බෑ, ආධාරයක් අවශ්‍යයි.

දැන් මෙහෙම ආහාර ගත්තට පස්සෙ එක්තරා මට්ටමකට ඇවිද ගන්න පුළුවන් ශක්තියක් ඒ මස් වැදැල්ල වගේ ප්‍රේතියට ලැබුණා. ඒ කියන්නෙ පුණ්‍යානුමෝදනාවට ගිහින් පින් ගන්න පුළුවන් මට්ටමක් ආවා. ඒත් තවමත් තනියෙන් ඉන්න බැරි නිසා තමයි නැවතත් ඇඟ ඇතුලට රිංග ගත්තෙ. ඊට පස්සෙ නැවතත් ඇඟෙන් අහක් වුනේ පුණ්‍යානුමෝදනාව සිද්ධ කරල පැන් වඩන කොට. ඒ විදියට පැන් වඩල පින් දෙන කොට, ඒ අමනුස්සයගෙ අර මස් වැදැල්ල වගේ තිබිච්ච ශරීරය මෝරන්න පටන් ගත්තා. අර මවුගෙ ඇඟෙන් අහක් වුනාට පස්සෙ නැවතත් ඒ අමනුස්සයගෙ ශරීරය කලින් තිබිච්ච වගේ හොඳට වැඩුණා. ඒ කියන්නෙ ඉස්සර රිදී වළල්ලක් අතේ දාගෙන හිටපු ආච්චි කෙනෙක්. දැන් අර ජීවත් වෙලා ඉන්න කොට හිටපු විදියටම චිත්තජ රූපයෙන් තමයි නැවතත් මතු වුණේ. අර තිබිච්ච අසනීප ගතිත් නැති වෙලා හංකඩෙත් හොඳට වැඩිල ආවා. අත්වලට රිදී වළල්ලක් මැවිල ඇඳුම් ලැබිල, පෙර මනුස්ස වෙලා හිටපු විදියටම චිත්තජ රූපයෙන් සම්පූර්ණ වෙලා, අර මවුගෙ මනුස්ස ශරීරයෙන් අහක් වුණා. ඊට පස්සෙ තවත් කෙනෙක්ගෙ ශරීරයට රිංග ගන්නෙ නැතිව තනියෙන් ඉන්න පුළුවන් වුණා. ඒත් එක්කම අර මවුට තිබිච්ච අසනීප ගතිත් ඔක්කොම නැති වෙලා ගියා.

දැන් අර නිදහස් වෙච්ච ප්‍රේතිය (අමනුස්ස ගන්ධබ්බය) තමන් පෙර මනුස්ස වෙලා හිටපු කාලෙ හංගල තිබිච්ච මොනව හරි කාසි වගයක් හොයනවා. මොකද ඒ කාලෙ සමහරු රිදී කාසි වගේ දේවල් මුට්ටිවල දාල පොළව යට වළලන සිරිතක් තිබුණා. අන්න ඒ වගේ දෙයක් තමයි මේ හොයන්නෙ. ''තුනුරුවන් ගුණේ පිහිටයි මගෙ කෙල්ලට, මටත් උදව් කළාට මාත් උදව්වක් කරන්නම් ...'' මෙහෙම කිය කියා කලින් ජීවත් වෙලා හිටපු ඉඩමෙ අර හංගපු දේවල් හොයනවා. දැන් මේ කලින් නැගිට ගන්නවත් බැරිව මස් වැදැල්ලක් වගේ හිටපු ගන්ධබ්බ අමනුස්සයා. අර පෙරේත තටුවෙන් කාල පුණ්‍යානුමෝදනාවට සම්බන්ධ වෙලා ශක්තිය ලැබුනම, දැන් මේ තමන්ට ඒ තත්වෙට එන්න උදව් කරපු ඥාතීන්ට ප්‍රතිඋපකාර කරන්නයි හොයන්නෙ. ඉතින් මේ වගේ ඥාති ගන්ධබ්බ ප්‍රේතයො විවිධාකාර ස්වරූපයන්ගෙන් ඉන්නවා. සමහර අය විවිධ අමාරුකම්වලින් පෙළෙනවා. අර වගේ පිට හමවත් නැතිව තුවාල හැදිච්ච, කුණු වෙච්ච ගන්ධබ්බයොත් ඒ අතර ඉන්නවා.

මේ වගේ කාරණා බොහොමයක් ප්‍රේත වස්තු, විමාන වස්තුවලත් විග්‍රහ කරල තියෙනවා. විශේෂයෙන් මුගලන් මහ රහතන් වහන්සේ දැකපු සිද්ධි බොහොමයක් ඒවායේ සඳහන් වෙනවා. එතකොට ඒ වගේ කාරණා බොරු නෙවෙයි කියන්න මමත් දැකපු අත්දැකීම් තියෙනවා. අපි මේ දකින සමාධි ක්‍රමයට, ගුප්ත ක්‍රමයට ඒ කාරණා ඇත්තයි කියල පැහැදිලිවම ඔප්පු වෙලා තියෙනවා. මීට අවුරුදු 25 - 30 කට විතර උඩදී හිටපු එක්තරා ස්ත්‍රියක් වයසට යන කල්ම වෙසඟනක් වගේ තමයි ජීවත් වුණේ. ඒ වගේ අනාචාර ගති ලක්ෂණ තමයි ඒ ස්ත්‍රියට තිබුණෙ. පවුල් කඩා කප්පල් කරල දාල, දරුවො හදල, තැනින් තැන කාලයක් ජීවත් වෙලා ඉඳල අන්තිමට අපි දන්න කියන ගමකට ආවා. ඒ ගමේ ඉන්න කොට අහල පහළ කිසි කෙනෙක්වත්, දරුවොවත් සැලකුවෙ නෑ. නමුත් කවුරු හරි, ඉන්න හිටින්න විතරක් පාර අයිනක පුංචි කඩ කාමරයක් වගේ තැනක් දීල තිබුණා. කවුරු හරි මග තොටේ යන කොට අත පෑවම, දන්න හඳුනන කෙනෙක් නම් කීයක් හරි දීල ගියොත් මිසක් වෙනත් ජීවත් වෙන්න ක්‍රමයක් තිබුණෙ නෑ. ඒකෙන් තමයි පුළුවන් විදියට ජීවත් වුණේ. වෙනත් කිසි කෙනෙක් උදව්වට ආවෙ නෑ.

ඔහොම කාලයක් ඉඳල මේ මනුස්සය මළා. සමාධියට යොමු කරල බලන කොට මට පේනවා, හරියට හම ගහපු එළුවෙක් බිම පැත්ත දාල තියෙනව වගේ මස් ගුලියක්. බලන කොට ඒ මස් ගුලිය තමයි අර ස්ත්‍රිය. ප්‍රේතියක් ☞

වෙලා ඒ ගේ ඇතුලෙම ඉස්තෝප්පුවේ ඉපදිලා. යන්න එන්න නැගිට ගන්න පුළුවන්කමක් නෑ. පැත්ත වැටිච්ච ගමන් එහෙම්මමයි. ඇගේ හමක් නෑ. තනිකරම සිවිය නැති මස් වැදැල්ලක්. මේක දකල ඒ වෙලාවෙ මටත් ලොකු කම්පනයක් ඇති වුනා, අනේ මේ ලෝකෙ හැටි කියල. ඉතින් මේ වගේ දේවල් බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙත් මේ ලෝකෙ තිබුණනෙ කියල, අර ප්‍රේත වස්තු විමාන වස්තුවල කරපු විග්‍රහ ගැන මට විශ්වාසයක් ඇති වුණා. ඒ කතා ඇත්තනෙ කියල ඔප්පු වුණා.

ඒ වගේම මේ ගන්ධබ්බ ලෝකෙ නිරුවත්ව, ලැජ්ජාවෙන් ඉන්න අමනුස්සයො ගැනත් පසුගිය කලාපයෙන් විග්‍රහ කළා. විශේෂයෙන් **මේ විදියට නිරුවත්ව උපදින්නෙ, වෙසගනන් වශයෙන් කටයුතු කරල, මෙලොව ඉන්න අය කාමුක ක්‍රියාවන්වලට පොළඹවගෙන සමාජය දූෂිත කරන්න කටයුතු කරපු උදවිය. ස්ත්‍රීන් විතරක් නෙවෙයි ඒ වගේ කටයුතුවල යෙදිච්ච පිරිමි අයටත් ඒ වගේ තත්ත්වයන්ට පත් වෙන්න සිද්ධ වෙනවා.** ඒකෙ විපාකය තමයි අර ගන්ධබ්බ ලෝකෙදි ක්‍රියාත්මක වෙන්නෙ. මේ මනුස්ස ලෝකෙ ඉන්න කොට වගේම ගන්ධබ්බ වෙලත් විවිධ ආබාධ, දුර්වලතා, අභේනි අප්‍රමාණයි. ඒ අය ප්‍රේත ගති ලක්‍ෂණවලින් නොයෙක් දහදුක් විඳගෙන ඉන්නවා. ඒ අතර යන්න එන්න බැරි අමනුස්ස ගන්ධබ්බයො ඉන්නව නම්, ඒ වගේ අය තමන්ට සම්බන්ධයක් තියෙන, ගනුදෙනුවක් තියෙන මනුස්ස ශරීරවලට ඇතුල් වෙනවා. ඊළඟට එහෙම ඇතුල් වෙච්ච ගන්ධබ්බයන්ගෙ ගති ලක්‍ෂණ ඒ මනුස්සයින්ටත් එනවා. ඒ කියන්නෙ ඒ අමනුස්සයින් යන්න එන්න බැරිව කොර වෙලා හිටිය නම්, ඒ මනුස්සයොත් යන්න එන්න බැරිව කොර වෙනවා, අතේ පයේ නොයෙක් අමාරුකම් එනවා. සමහරු ඉන්නව යන්න බෑ කොර ගහනවා, කකුල් කපල. එහෙම අමනුස්සයෙක් හිටියොත් කාගෙ හරි ශරීරයකට රිංගගෙනමයි ඉන්නෙ. මොකද එහෙම අයට නිකං එළියෙ ඉන්න බෑ. කාගෙ හරි ආධාරයක් ඕන වෙනවා. ඒ නිසා තමයි බොහෝ කොටම ශරීරවලට රිංග ගන්නෙ. එහෙම ශරීරයට රිංග ගත්තම ඒ පුද්ගලයත් කොර ගහන්න ගන්නවා. එක්කො අත පයේ අමාරුකම් එනවා.

දැන් මේ විදියට අමනුස්සයෙක් ඇඟට ඇතුල් වුනාම ඒ ශරීරය හිමි කෙනා පෝෂණය ලබන කොට, ඒ භෞතික ආහාරයෙනුත් ඕජස වශයෙන් කොටසක් අමනුස්සය ඇදල ගන්නවා. ඒ වගේම මේ විදියට දානයක් දීල පුණ්‍යානුමෝදනාවක් කරන කොට ඒ අමනුස්සය පිනෙන් පෝෂණය වුනොත් තනියෙන් ඉන්න පුළුවන් හැකියාව ලැබෙනවා. මේ ක්‍රම දෙකෙන්ම පෝෂණය වෙනවා. නමුත් වැදගත් වෙන්නෙ පිනෙන් පෝෂණය වීම. එතකොට ඇඟෙන් අහක් වුනාම ඒ මනුස්සයට ඒ නිසා තිබිච්ච අසනීපත් සුව වෙනවා. දැන් මේ තියෙන අරින්න බැරි හුඟක් අසනීප අමනුස්සයින් නිසා හැදිච්ච ඒවා. විශේෂයෙන් දැන් තියෙන ලියුකේමියාව වගේ රෝග බොහෝකොටම ඇතිවෙන්න හේතු වෙලා තියෙන්නෙ අමනුස්ස දිෂ්ටිවල බලපෑම. ඒ වගේ වැඩි හරියක් රෝග, අමනුස්ස බලපෑම් නිසා සුව නොවී තියෙනවා. නමුත් ඒවා වෛද්‍ය විද්‍යාවට අහුවෙන්නෙත් නෑ. ඒ නිසා පිටින් බෙහෙත් කරන කොට කාලයකදි යට ගිහින් කාලයකදි නැවතත් මතු වෙනවා. නමුත් උන් අයින් වුනාට පස්සෙ බෙහෙත් නැතිව නිකම්ම ඒ අසනීප සුව වෙනවා.



එහෙම නැත්නම් බෙහෙතක් ගත්තත් ඉතාම සුළු බෙහෙතකින් සනීප වෙනවා. කලින් මහ බෙහෙත් කරල සනීප කරන්න බැරි වෙච්ච රෝග ඒ විදියට සුව වෙනවා. ඒ වගේ අවස්ථාවල මේ පෙරේත තටුවක් එක්ක සාංඝික දානයක් දීල පැන් වඩන ධර්මානුකූල ක්‍රමය ඒ අමනුස්ස කොටස්වලටයි, මේ ජීවත් වෙලා ඉන්න මනුස්සයින්ටයි දෙගොල්ලන්ටම විසාල සහනයක් සලසල දෙනවා. නමුත් ඒ කාරණය අද හුඟ දෙනෙක් දන්නෙ නෑ.

දැන් මේ කියන්න යන්නෙ තවත් ඒ වගේ අමනුස්ස කතන්දරයක්. ඒ දවස්වල මම මහණ වෙන්න කලින් කලගෙඩිහේන ප්‍රදේශයේ නැවතිලා පූජා කටයුතු, සෙත් ශාන්ති කටයුතු ආදිය සිද්ධ කරන කොට අපි නැවතිලා හිටපු කිට්ටුව තවත් ගෙයක් තිබුණා. මුල් කාලෙ ඒ ගෙදර උදවිය අපි කරපු මේ පූජා, සෙත් ශාන්ති කටයුතු ආදිය ගණන් ගත්තෙ නෑ. මොකද ඒ කටයුතු ගැන විශේෂ දැනීමක් ඒ අයට තිබුණෙ නෑ. සාමාන්‍ය පිරිසක් ඔය මොනව හරි කරනව ඇති කියල තමයි ඒ අය හිතුවෙ. මෙහෙම ඉන්න කොට ඒ ගෙදර ගැහැණු ළමයෙක් වැඩිවියට පත් වුණා. පස්සෙ ඉතින් පොඩි මගුලක් එහෙම අර ගන්න, ඒ වැඩ කටයුතුවලට ඒ ළමයගෙ අයිය කෙනෙක් බයිසිකලයක නැගල සොහොනක් ළඟින් තියෙන පාරක් දිගේ ගියා. එහෙම යන කොට සොහොනත් එක්කම කන්දක් තියෙනවා. දැන් මේ මනුස්සය බයිසිකලයෙ නැගල කන්ද පාගන කොට, කවුරු හරි පිටිපස්සෙන් දුව ගෙන ඇවිත් බයිසිකලයට නැග්ගා. මනුස්සයට අන්තිමට පාගගන්න බැරිව බයිසිකලය හිර වුණා. කකුල පැඩල් අතට තිබ්බම මනුස්සයත් වැටෙන ගානටම යන්න බැරි වුණා. ඊට පස්සෙ මේ මනුස්සයට යා ගන්න බැරිව බයිසිකලය නැවතිලා එතනම වැටුණා. හැබැයි වැටුණට පස්සෙ, අර පස්සෙන් ආපු කෙනා නෑ. දැන් මේ මනුස්සය සෑහෙන කම්පනයකට පත් වෙලා ගෙදර ඇවිත් මුකුත් නිච්චි නැතිව විවිධාකාර දේවල් දොඩවන්න පටන් ගත්තා. මොනව කියනවද දන්නෙ නෑ. අඬනවා, කෑ ගහනවා, බයයි කියනවා, විවිධාකාර දේවල් කියනවා. පස්සෙ කට්ටඩියෙක් ගෙන්වන්න බලන කොට ඒ වැඩේ කරන්නත් බෑ. මොකද කොටහළු ගෙදර කිල්ල නිසා. දේවාලෙකට ගෙනියන්න විදියකුත් නෑ, ගෙදර කිල්ල නිසා.

ඊට පස්සෙ මේ අයට මං ගැන ආරංචි වෙලා විගහට මාව හොයාගෙන ආවා. ඇවිත් මට විස්තරේ කිව්වා. මම ඉතින් මේ ළමයගෙ ඔළුවට ටිකක් වෙලා අත තියල තුනුරුවන් ගුණෙන් සිහි එන්න කියල අධිෂ්ඨාන කළා, එච්චරයි. ඊට පස්සෙ සිහිය ආවා. මම කිව්ව, පුතේ කිසිම අමනුස්ස දෝසයක් ඔයාට මීට පස්සෙ එන්නෙ නෑ, බය නැතිව නැගිටින්න කියල. මොකද ඒ වෙන කොටත් ඒ ළමය බයේ වෙව්ල වෙව්ල හිටියෙ. ඉතින් කියන කොටම හිනා වෙලා නැගිට්ටා. දැන් උඩ පනින්න කිව්වම හොඳට හිනා වෙවී උඩ පැන්නා. දැන් මුකුත් අමාරුවක් තියෙනවද ඇහුවම නෑ කිව්වා. පස්සෙ මේ ගෙදර අය, අනේ ඉතින් ලොකු දෙයක්නෙ කියල මාව වර්ණනා කරන්න පටන් ගත්තා. මම කිව්ව මාව වර්ණනා කරන්න එපා, මං ඔයගොල්ලන්ට යමක් කියල දෙන්නම් කියල. මේ මගේ බලයක් නෙවෙයි, තුනුරුවන් ගුණේ බලය. දැන් ඔයගොල්ලන්ට කිළි ගෙදර වෙන මොකුත් ක්‍රමයකට කිසිම දෙයක් කරන්න බලයක් නෑනෙ ! නමුත් මේ තුනුරුවන් ගුණයට කිළි නෑ. තුනුරුවන් ගුණයට ඒ කිසිම දෙයක් ප්‍රශ්නයක් වෙන්නෙ නෑ, ඒ තුනුරුවන් ගුණයේ ආශිර්වාදයෙන් තමයි මේ දේ ඔයගොල්ලන්ට කරල දුන්නෙ. මම මෙහෙම කිව්වම, මේ අය විගහට පඬුරු හොයන්න පටන් ගත්තා. නැවතත් මම මෙහෙම කිව්වා. ''පඬුරු නෙවෙයි මේ කරපු ආශිර්වාදයෙන් තුනුරුවන්

ගුණයෙ බලය අරගෙන, අර හැමදාම ඔයගොල්ලන්ට ඇහෙන්නෙ නැද්ද අපි පූජාවක් තියනවා, වන්දනා මාන කරනවා ? ඔයගොල්ලො එන්න, ඇවිත් මේ ළමයත් එක්ක ඒ වන්දනා මානවලට සහභාගි වෙලා බෞද්ධ කටයුතු කරගන්න, දැන් අත්දැකීම් තියෙනවනෙ.'' ඉතින් මම මෙහෙම කිව්වට පස්සෙ බොහොම සන්තෝසෙන් පහුවදා ඒ ළමයයි, ආච්චියි පූජා කටයුතුවලට ආවා. සිල් සමාදන් වෙන්නත් කිහිප දවසක්ම ආවා. හැබැයි ඉතින් ඒ දෙන්නට වැඩේ පවරල නිකං හිටිය මිසක් ගෙදර අනිත් අය පැත්ත පළාතෙවත් ආවෙ නෑ. ඒ අය මේ මොකකටවත් සම්බන්ධ වුනේ නෑ. හැබැයි අර ළමය බේරිච්ච නිසා ඒ ගරුත්වයට යම්කිසි බයක් තිබුණා. ඒ අය මේ වැඩ පිළිවෙල ගණන් ගත්තෙ නැතිවට මොකවත් විරුද්ධව කිව්වෙත් නෑ.

දැන් මේ කතාවෙන් පැහැදිලි වෙනව අමනුස්සයින්ගෙ හැටි. සොහොන් පිට්ටනියක් කියන්නෙ උන්ගෙ අධිරාජ්‍යය වගේ තැනක්. ඒ වගේ ස්ථානයකින් යන කොට, උන් පිටිපස්සෙන් ඇවිත් අර වගේ මනුස්සයින්ගෙ ඇඟට ගොඩ වෙනවා, නොයෙක් කොළොප්පම් කිරීම්, බය කිරීම් කරනවා. මනුස්සයෙක් යන කොට ඇඟට පනිනවා, කරේ නැගල යනවා, වාහනවල නැගල යනවා, බුදියන කොට ළංව බුදියනවා, හිඳින කොට ළංව හිඳිනවා.... ආදී වශයෙන් අමනුස්සයින් කරන මේ වගේ වැඩ ආටානාටිය සූත්‍රයෙත් පෙන්වා තියෙනවා. ඉතින් මේ වගේ විවිධ අමනුස්සයො විවිධ ස්වරූපයන්ගෙන් ඇවිත් මනුස්ස ශරීරවලත්, මනුස්සයින්ට සම්බන්ධ නොයෙක් ස්ථානවලත් අරක් ගෙන ඉන්නවා. සමහර වෙලාවට ඇස්වලට පේන්නම ඉන්නවා. උදාහරණයක් විදියට බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ නාග ලෝකෙන් කෙනෙක් ඇවිත් මනුස්ස වෙස් අරගෙන, හාමුදුරුනමක් විදියට මහණ වෙලා භික්ෂූන් වහන්සේලා අතරත් ඉඳල තියෙනවා. නමුත් මුල් කාලෙ කවුරුවත් දැන ගෙන හිටියෙ නෑ. පස්සෙ තමයි කාරණය අහුවුණේ. මනුස්සයො වගේම කතා බහ කරනවා, ඉරියව් පවත්වනවා. වෙනසක් හොයන්නත් බෑ. මනුස්සයො විශ්වාස නොකරන ඒ වගේ දේවලුත් මේ මනුස්ස ලෝකෙ තුලම සිද්ධ වෙනවා.

දැන් මේ වගේ අමනුස්සයෙක්-ගෙන් වැඩ ගත්තු අවස්ථාවක් මම දැනුවත්වම සිද්ධ වෙලා තියෙනවා. මේක මීට අවුරුදු 40 කට විතර උඩදි සිද්ධ වෙච්ච දෙයක්. එක්තරා මනුස්සයෙක් හිටියා, ඒ මනුස්සය කාසියක් අරගෙන වහල තියල වෙනත් පැත්තකින් තියෙන රවුම් වීදුරුවක් ඇතුලට ඒක ගන්නවා. ඔහු එක්තරා මායා කාරයෙක්. ඒකත් එක්තරා උපක්‍රමයකින් කරන්නෙ. ඒ විදියට කාසිය ගන්න හැටිත් ඒ පුද්ගලයා කියනවා. බැරි වෙලා හරි, දන්න කියන කෙනෙක් එහෙන් මෙහෙන් ඇවිත් බේරෙන්න බැරි වුනොත්, මේ මනුස්සය එක්තරා අමනුස්සයෙක් සිහි කරනවලු. එතකොට ස්වභාවයෙන්ම ඒ අමනුස්සය ඒ කාසිය වීදුරුව ඇතුලෙන් තියනවලු. හැබැයි එහෙම අමනුස්සයගෙන් වැඩ ගත්තු දවසට මොනව හරි පූජාවක් ඒ අමනුස්සයට දෙන්න ඕන. ඉතින් අර වගේ මැජික් පෙන්වන්න ගිහින් මනුස්සය කොටු වුනොත් එහෙම, ක්ෂණිකව අර අමනුස්සය සිහි කරනවා. එතකොට වැඩේ කෙරෙනව කාටවත් හොයන්නත් බෑ. ඊට පස්සෙ ගෙදර ඇවිත් පූජාවක් තියනවා.

මේ මනුස්සයගෙ ගේ ඉස්සරහ දෙහි ගහක් තිබුණා. ඒ දෙහි ගහ යට තමයි අර අමනුස්සය බැඳල හිටියෙ. දැන් මෙහෙම කාලයක් මේ වැඩේ කරගෙන යන කොට, දවසක් අර අමනුස්සය මේ මනුස්සයට කියනවලු, උඹ මාස 3 කින් මැරෙනව, ඊට කලින් මාව අහවල් දවසෙ නිදහස් කරපන් කියල. එහෙම නිදහස් කළේ නැත්නම් මනුස්සයට සාප වෙලා ඔත්පල වෙලා පණුවො ගහනව කියලත් කිව්වලු. ඒ නිසා නිදහස් කරන්නත් ඕන. ඔහොම කියල අන්තිම කාලෙ වෙන කොට දවස් ගණනක් තියා මනුස්සයට දැනුම් දුන්නලු, අහවල් දවසින් ඉස්සෙල්ල නිදහස් කරන්න කියල. දැන් මේ මනුස්සය කියනව, තමන්ට ගෙදරින් බැරි වෙලා හරි සැලකිලි අඩු කරපු දවසක් ආවොත් ඒ තමන්ගෙ අවසන් දවස කියල. ආයෙ ඔත්පල වෙලා මම එහෙම ඉන්නෙ නෑ කියලත් කිව්වලු. ඒ කියන්නෙ මනුස්සය දන්නව මේ කරපු වැඩවලට පණුවො ගහනව, ඉදිරියේදි එහෙම ඔත්පල වෙලා සැලකිල්ල අඩු වුනොත් තමන් අසරණ වෙනව කියල. මොකද මේ විදියට අමනුස්ස, භූත ආදී කොට්ඨාශ බැඳගෙන හිර කරල වැඩ අරගෙන, ලෝකයා රවට්ටල තමන්ගෙ බඩ වඩාගැනීමත්, ඒ වගේම නොයෙක් අණවින කොඩිවිණවලට යොදා ගැනීමත් මහ අපරාධයක් බවත්, ඒ වගේ අයට පණුවො ගහල මැරෙන්න සිද්ධ වෙන බවත් පාරම්පරිකව එන මන්ත්‍ර සාස්ත්‍රකරුවො ප්‍රකාශ කරල තියෙනවා.

ඉතින් ඔහොම ඉන්න කොට, දවසක් ගෙදර ළමයෙක් මේ මනුස්සයට මොනව හරි දොස් කියල තිබුණා. ඒ පාර මේ මනුස්සය මූණ වටේ පිටේ හිටපු කට්ටිය ගෙනත් අර අමනුස්සයව අයින් කරන බලාපොරොත්තුවෙන්, මෙතෙක් කලක් දාපු සෙල්ලම් ඔක්කොම එදා පෙන්නුවා. එහෙම පෙන්නල, මෙන්න මේ භූතය කරන්නෙ මේ වගේ වැඩ කියල, මීට පස්සෙ ඒ ඔක්කොම ඉවරයි කියල කිව්වා. ඊට පස්සෙ මේ මනුස්සය තමන්ගෙ මන්තර බලයකින් අර අමනුස්සය නිදහස් කළා. නිදහස් කළාට පස්සෙ දවසෙ ඉඳල මේ මනුස්සය ආගිය අතක් නෑ. බලන කොට වේයන්ගොඩට ගිහින් කෝච්චියට පැනල මැරිල. ඉතින් මේ මනුස්සය හරි පුදුමාකාර කටයුතු කර කර හිටපු කෙනෙක්. නමුත් අන්තිමට අර විදියට ජීවිතය අවසන් වුණා.

ඒ වගේම පසුගිය කලාපවලින් විග්‍රහ කරපු විදියට, පෙරේත තටුවක් දීල සාංඝික දානයක් දීමේ පුණ්‍ය කටයුත්තක් පසු ගිය දවසක වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයෙත් සිද්ධ කළා. ඒකට මේ විහාරස්ථානයේ වැඩ ඉන්න ස්වාමීන් වහන්සේලාත්, මේ ස්ථානයට සම්බන්ධ තවත් ස්වාමීන් වහන්සේලා කිහිප නමකුත් සම්බන්ධ වුණා. දැන් මේ වගේ පෙරේත තටුවක් දීල සාංඝික දානයක් දෙන්න ඕන කියන අදහස මගේ හිතට ඉස්සෙල්ලම ආවම, අපේ පරපුරට සම්බන්ධ පූගොඩ පැත්තෙ ඉඳල මියගිය තවත් අප්‍රධාන ගන්ධබ්බ අමනුස්සයො කොටසක්, අපටත් එක්කද, අපිට දෙන්නෙ නැද්ද ... ආදී වශයෙන් මගෙන් ඇහුවා. මොකද මෙහෙම දානයක් දෙන කොට ඒ ස්ථානයට ප්‍රධාන වශයෙන්ම සම්බන්ධ වෙලා ඉන්න පිරිස තමයි ඒකට ප්‍රධාන වෙන්නෙ. ඒ අය ප්‍රධාන කරගෙන අනිත් අය දෙවෙනියට තමයි එන්නෙ. ඒ නිසා ප්‍රධාන අයට තමයි ඉස්සෙල්ලම ඒ දානය අයිති වෙන්නෙ. මේ කාරණය ඒ අයත් දන්න නිසා තමයි අර විදියට ඇහුවෙ. ඉතින් ඔයගොල්ලන්ටත් එක්ක තමයි මේ දානෙ දෙන්නෙ කියල මම ඒ අයට කිව්වා. එතකොට ඒ අය බොහොම සන්තෝස වුණා. මොකද මේ විදියට දානයක් දෙන්න කතා කරන කොට මේ හැම තැනම ඉන්න අමනුස්සයො මොහොතකින් ඒ කාරණය දැන ගන්නවා. අන්න අපිට දානයක් දෙන්න කතා කරනව, කවදද දන්නෙ නෑ දෙන්නෙ, ඔක්කොම විස්තරේ අහගන්නකො ... ආදී වශයෙන් ඒ අය කතා වෙලා එදා ඉඳන් කෙළ හල හලා බලාගෙන ඉන්නවා. බැරි වෙලා හරි දුන්නෙ නැත්නම්, අපිට දෙනව කිව්වට දුන්නෙ නෑනෙ! අපි රවට්ටනව... ආදී වශයෙන් අඬ අඬා හුඟක් දුක් වෙනවා. ඒ නිසා මේ වගේ දෙයක් නිකං ආවට ගියාට කියල බොරුවට රවට්ටන්න හොඳ නෑ. එහෙම වුනොත් අනිටු ප්‍රතිඵල එන්නත් පුළුවන්.

දැන් අර විදියටම පෙරේත තටුව තියල, ඒ ස්ථානයට උරුමකම් කියන යම් තාක් අය ඉන්නව නම් ඇවිත් භුක්ති විඳින්න කියල ආරාධනා කරන කොට, ඒ අවස්ථාවෙ මමත් සමාධියෙන්

යොමු කරල බලාගෙන හිටියා. එහෙම ඉන්න කොට ඒ කාලෙ හිටපු අපේ ආතත් මේකට සම්බන්ධ වුණා. හැබැයි ආත ඒ වෙන කොටත් දේවත්වයක හිටපු නිසා මේ තටුවෙ තියෙන ආහාර ගත්තෙ නෑ. නමුත් ආතගෙ නමත් විශේෂයෙන් සඳහන් කරපු නිසා, සුදු වතකින් ඇවිත් අර තටුවෙ තියෙන ආහාර අරගෙන අනිත් අමනුස්ස කොටස්වලට බෙදල දුන්නා. අනිත් අයට උදව්වක් වශයෙන් තමයි එහෙම කළේ. ඒ වගේම මියගිය අපේ තාත්තත් බොහොම අමාරුවෙන් දුක්ඛිත තත්ත්වයක ගන්ධබ්බ ලෝකෙ ඉඳගෙන මේකට සම්බන්ධ වුණා. ඒකත් හරි පුදුම දෙයක්. මොකද තාත්ත මියගියාට පස්සෙ මීට පෙර කිහිප අවස්ථාවකම මම යොමු කරල බලන කොට සතර අපාගත ස්ථාන කිහිපයක තමයි හිටියෙ.

එතකොට කෙනෙක් මිනිස් කයකින් ඉඳල මැරිල ගන්ධබ්බ වෙලා හදිසියේ බල්ලෙක්, බළලෙක් වගේ තිරිසනෙක් වෙලා උපන්නොත්, එතනිනුත් මැරිල චුත වෙලා ගිහින් නැවතත් මිනිස් අවස්ථාවකට එන්න හේතු තියෙනවා. එහෙම අයට නැවත මනුස්ස වෙලා උපදින්නත් ඉඩකඩ, කාල වේලා තියෙනවා. නමුත් මේ තිරිසන් ලෝකෙන් තවත් පහළට ගියොත් එහෙම ගියා ගියාමයි. නැවත කල්ප කාලාන්තරය-කටවත් ලේසියෙන් ගොඩ එන්න බෑ. ඒ කියන්නෙ **බලු, බළල්, හරක් වගේ තිරිසන් සතෙකුට නැවත මනුස්ස වෙන්න ඉඩකඩ තියෙනවා. නමුත් ඊටත් පහළ ක්‍ෂුද්‍ර තත්ත්වයන්ට පත් වුනොත් ලේසියෙන් උඩට එන්න බෑ. කල්ප විනාස වෙනකල්ම ක්‍ෂුද්‍ර ජීවීන් වෙලා ක්‍රමයෙන් පහළටම යනවා. ඒ වෙනකල්ම ඒ අයට උඩට එන්න අමාරුයි.** එහෙම ගිහින් කල්ප විනාස වෙන කොට සතර අපා ආදී ලෝකත් විනාස වෙන නිසා, ඒ වගේ අවස්ථාවකදි තමයි නැවතත් ආභස්සර බ්‍රහ්ම ලෝකෙ ඉපදිලා සුගතිගාමී වෙන්න අවස්ථාව ලැබෙන්නෙ.

එතකොට අපේ තාත්ත මියගිහින් ඉස්සෙල්ලම මනුස්ස ගන්ධබ්බයෙක් වෙලා හිටියා. නමුත් ඒ මුල් අවස්ථාවෙදි ඇඳුම් නැතිව, කන්න බොන්න නැතිව තමයි හිටියෙ. එහෙම හිටපු මුල් අවස්ථාවෙදි මා ඉදිරියේ නිරුවත්ව පෙනී ඉඳල, කන්න බොන්නත් නෑ, අඳින්නත් නෑ, යන්න එන්න ලැජ්ජයි කියල විස්තරේ කිය කියා ඇඬුවා. (මේ සම්බන්ධ විග්‍රහයක් 14 වන කලාපයේ අභයරතනාලංකාරය යටතේ ඉදිරිපත් කර ඇත.) ඊට පස්සෙ මම, තාත්ත හිටපු මානසිකත්වයට ගැලපෙන විදියට දුගියෙකුට දානයක් දීල කරපු පුණ්‍යානුමෝදනාවකින් ඇඳුම් සහ කන්න ලැබිල, ටික කාලයක් ඒ ගන්ධබ්බ ලෝකෙ හිටියා. ඊට පස්සෙ එතනින් චුත වෙලා හරකෙක් විදියට උපත ලැබුවා. එහෙම කාලයක් ඉඳල නැවතත් එතනින් මැරිල චුත වෙලා ඊට පස්සෙ වඳුරෙක් වෙලා ඉපදුනා. එතකොට මම හිතුවා, දැන් ඉතින් ගියා ගියාමයි මොකක් වෙයිද දන්නෙ නෑ කියල. නමුත් ඊළඟට එතනිනුත් මැරිල චුත වෙලා නැවත වතාවක් මනුස්ස ගන්ධබ්බයෙක් වෙලා, අර කලින් මනුස්ස වෙලා හිටපු කාලෙ තිබිච්ච පැරණි චිත්තජ රූපයේ ගති ලක්‍ෂණත් එක්ක පෙනී හිටියා. මොකද පටිසන්ධියක් ලැබුවත් අර ආසන්න මනුස්ස අත්භවයෙ ස්වභාවය ඒ චිත්තජ රූපයට එනවා.

ඔය විදියට කාලයක් ඉඳල තමයි මේ සැරේ පෙරේත තටුව දෙන කොට ඒකට සම්බන්ධ වෙලා ඒකෙන් පෝෂණය වුණේ. ඊට පස්සෙ ඒකෙන් සුදු ඇඳුමක් එහෙම ලැබිල යම්කිසි හොඳ තත්ත්වයකට ආවා. ඊළඟට අර කලින් තිබිච්ච අමාරුකම් හුඟක් අඩු වෙලා ගියා. නමුත් එතනින් ඉහළට ගන්න හුඟක් අමාරුයි. මොකද ඒ හිටපු තත්ත්වයේ හැටියට තමයි ලැබෙන්නෙත්. ඒ කියන්නෙ තාත්ත ජීවත්වෙලා හිටපු පරිසරයෙ ගත කරපු ඒ ජීවන රටාව අනුව තමයි එහෙම වෙන්නෙ. මොකද කලින් ජීවත් වෙච්ච ජීවන රටාව බැලුවොත් තනිකර සල්ලාල ජීවිතයක් තමයි ගත කළේ. කිසිම දෙයක් ගැන සැලකිල්ලක් කළේ නැතිව, නිකං කාලකන්නි විදියට තමයි ජීවත් වුණේ. පිනකට දහමකට යොමු නොවී හිටපු ඒ ගති ලක්‍ෂණය නිසා, පිං ලැබිල සුද්ද වෙලා එතනින් තවත් ඉහළට ගන්න හරි අමාරුයි. අනිත් ගන්ධබ්බයො වගේ පිං අරගෙන පෝෂණය වෙලා වේගයෙන් ඉහළට එන්න පුළුවන් මට්ටමක් නෑ. ඒ නිසා හදිසියේ දේවත්වයක් වගේ තැනකට ගන්න විදියක් නෑ. ඉතින් තටුවෙන් ආහාර අරගෙන පෝෂණය වෙලා, පින් අනුමෝදන් වෙන්න පුළුවන් එක්තරා සැප පහසු මට්ටමකට මනුස්ස ගන්ධබ්බ තත්ත්වයෙන්ම ආවා. එහෙම ආවට පස්සෙ තමයි අර සුදු ඇඳුමක් එක්ක යම්කිසි සම්පත්තියක් පහළ වෙලා අර කලින් තිබිච්ච අපහසුතාවයන් තරමක් අඩු වෙලා ගියේ.

ඒත් එක්තරා සෙම් අමාරුවක් තිබුණා. දැන් අර සම්පත්තියත් ලැබිල කැහැ කැහැ ඒ ගන්ධබ්බ ලෝකෙ ඉඳගෙන තනිකර සෙම ගුලි ඇදල දානවා. ඊට පස්සෙ දවසක තවත් දානයක් එක්ක ඖෂධ පූජාවක් තිව්වම ඒ සෙම් අමාරුවත් නැති වුණා. ඒ කියන්නෙ විශේෂ පූජා දවසකදි ගිලන් පස දානයක් එක්ක ගොටුකොළ සම්බෝලයක් පූජ කරල පුණ්‍යානුමෝදනාවක් කළාම, ඒ පිනෙන් සෙමට ඖෂධයක් වෙලා සෙම් රෝගී තත්ත්වය පහ වෙන්න හේතු වුණා. මොකද ගොටුකොළ සෙම් අමාරුවලට හොඳයි. දැන් ඉතින් ගන්ධබ්බ ලෝකෙ හොඳට ඉන්නවා. ඒත් ඉතින් ඔච්චර දෙයක් කරල දීලත් එතනින් ඉහළට ගන්න හරි අමාරුයි. ඉතින් මම මගේ යුතුකම් කොටස ඉටු කළා මිසක් තාත්ත වුනත් ඇත්ත තත්වෙ ඕකයි. නැත්නම් මටත් තිබුන අපේ තාත්තනෙ කියල ලොකුවට වර්ණනා කරල උස්සල තියන්න. නමුත් දැක්ක ඇත්ත කියනව මිසක් අමුතු දෙයක් එකතු කරල වර්ණනා කරන්න මට කිසිම අවශ්‍යතාවයක් නෑ. තාත්ත හිටපු ඒ අපාගත අත්බැව් ගැන කිව්වත් කියන්න තියෙන්නෙ මම දැක්ක දේ. සමහර විට ඒ අත්බැව්වලටත් වඩා තවත් පහළ ඒවට ගිහින් හිටියද කියල මම දන්නෙ නෑ. මට පෙනුනෙ එච්චරයි. ඒ පෙනිච්ච ටික තමයි, මේ විදියට මේ ලෝකෙ ස්වභාවය මෙහෙමයි කියල හැමෝටම දැන ගන්න කිව්වෙ.

ඒ වගේම මේ පන්සලේ තියපු පෙරේත තටුවට ඒ අවස්ථාවෙදි අලි ගන්ධබ්බයෙකුත් ආවා. අපේ ආතට ඉස්සර අලි ඇත්තුත් හිටපු නිසා, ඒ හිමිකම ඔස්සේ ආපු ඒ වගේ මැරිච්ච අලියෙක් වෙන්නත් පුළුවන්. මේ අලි ගන්ධබ්බයා අනිත් අමනුස්ස කොටස් ආහාර ගන්න කල් පැත්තකට වෙලා බලාගෙන හිටියා. ඔහොම ඉඳල මුහුණ කට හෝදගන්න වෙනම ලොකු වතුර භාජනයකුත් තටුවට යටින් තියල තිබුන නිසා, ඒකට හොඬ දාල වතුර අරගෙන ඉහේ ඉඳන්ම වත් කරගෙන බොහොම සන්තෝසෙන් නෑවා. කොච්චර නෑවත් වතුර ඉවර වෙන්නෙ නෑ. නැවත නැවත වතුර මැවෙනවා. මොකද මේ තියන හැම දෙයක්ම මනෝමය වශයෙන් ඒ ගන්ධබ්බ ලෝකෙට ගැලපෙන්න මැවෙන ක්‍රමයක් තියෙනවා. ඉතින් මේ අලි ගන්ධබ්බයා හොඳට නාල, අර තටුවෙ තිබිච්ච කෑමත් කාල ඉවර වෙන කොට බඩ කොට්ට ගෙඩියක් වගේ වුණා. එහෙම ආහාර අරගෙන පුණ්‍යානුමෝදනාවටත් සම්බන්ධ වුණා. පුණ්‍යානුමෝදනාව ඉවර වෙන කොටම මේ අලි ගන්ධබ්බයා සුදු පාටට ආකාසෙ වළාකුළු අතරට ඇදිල ගිහින් දේවත්වයකට සම්බන්ධ වුණා. ඒ කියන්නෙ ගන්ධබ්බ ලෝකෙදිම අලි භවයෙන් චුත වෙලා දේවත්වයක පටිසන්ධි ලැබුවා. ඊට පස්සෙ අර අලි රූපය නැති වෙලා ගියා. ඒ වගේම අර කලින් කියපු අප්‍රධාන අමනුස්ස පිරිසත් දෙවනියට ඇවිත් ඒ භූමියේ හිටපු අර ප්‍රධාන අමනුස්සයන්ගෙ අවසරය පිට ඒ තටුවෙන් ආහාර ගත්තා.

ඒ වගේම මේ දන් දීම ගැන කතා කරන කොට, පසුගිය කලාපයේ සියතින් දන් දීමක් ගැනත් සඳහන් කළා. මේ කාරණය තවත් පැහැදිලි කරනව නම්, තමන් විසින්ම අතින්ම අරගෙන දන් දීම විශේෂයෙන් චිත්ත ප්‍රසාදයක් ☞

ඇතිවෙන්නත්, හිමිකම් ලබන්නත් බලපානවා. ඒ නිසා මේ කාරණය බුදුන් වහන්සේගෙ කාලෙ පටන්ම තිබ්බ දෙයක්. මේකට උදාහරණයක් විදියට එක අවස්ථාවක කොසොල් රජතුමා දීපු දානයක් ගැන සඳහන් වෙනවා. එතනදී භික්ෂූන් වහන්සේලා දානය අරගෙන එතනම වළඳන්නෙ නැතිව, තමන්ගෙ කැපකරු දායකයන්ගෙ ස්ථානවලට ගිහින් ඒ ස්ථානවල ඉඳගෙන දන් වැළඳුවා. මේ කාරණය රජතුමා දැනගෙන, මොකද මගේ ස්ථානයේ ඉඳගෙන වළඳන්නෙ නැත්තෙ කියල බුදුන් වහන්සේගෙන් විමසුවා. උන් වහන්සේ ඒ අවස්ථාවෙ කාරණය මේ විදියට පැහැදිලි කළා. යමෙකුට සියතින් දන් දෙනව නම්, ඒ විදියට කටයුතු කරනව නම්, ඒ චිත්ත ප්‍රසාදයෙන් දෙන දානය ඒ අය එතනම ඉඳන් වළඳනවා. මහ රජ ඔබ සේවක පිරිස්වලට දානුම් දීල තියෙනවා, දානය උයල බෙදන්න කියල. නමුත් ඔබ ඒවට සම්බන්ධ වෙන්නෙ නෑ. එතකොට ඒක සියතින්ම දන් දීමක් වෙන්නෙ නෑ. සේවකයො රාජ අණ නිසා ඒ කටයුතු සිද්ධ කරනවා. ඒ නිසා චිත්ත ප්‍රසාදය ඇති අය ළඟට තමයි බුද්ධ ශ්‍රාවකයො යන්නෙ. මේ අනුව ප්‍රිය මනාපයෙන් දන් දෙන කොට දෑතින්ම, සියතින්ම දෙන සිරිතක් ඒ කාලෙත් තිබුණා.

ඒ වගේම මේ සාංඝික දානෙ දීල ඉවර වුනාම, ඉතිරි කොටස ප්‍රයෝජනයට ගැනීම ගැනත් පසුගිය කලාපයේ යම් සඳහනක් කළා. දැන් මෙතනදී දානෙ සාංඝික කරල සංඝයා වහන්සේලාත් වැළඳුවට පස්සෙ ඉතිරිය (අතිරික්තය) ඒ ඉන්න පිරිසට දෙන අනුපිළිවෙලකුත් තියෙනවා. ඒ කියන්නෙ සිල් මාතාවො, මහණ වෙන්න බලාපොරොත්තුවෙන් ඉන්න අය, සිල් ගත්තු අය ඉන්නව නම් සංඝයා වහන්සේලාගෙන් පස්සෙ අනු පිළිවෙලින් ඒ වගේ අයට තමයි දානය පිළිගන්වන්න ඕන. ඊළඟට බණ අහන්න ආපු උපාසක, උපාසිකා පිරිස් ඉන්නව නම් ඒ අයටත් පිළිගන්වල, අන්තිමට පස්සෙන් එන හිඟන්නෙක් ඉන්නව නම් ඒ අයටත් ඒ දානයට අයිතියක් තියෙනවා. මොකද දානයක් සාංඝික කළාම ඒකෙ ඉතිරිය සාසනයේ බුද්ධ ශ්‍රාවකයෙකුට හෝ ශ්‍රාවක පරිණාමයක් තියෙන කෙනෙකුටත් අයිතියි කියල බුද්ධ දේශනාවෙ පෙන්වා තියෙනවා. මෙතනදී ශ්‍රාවක පරිණාමයක් කියන්නෙ ශ්‍රාවකත්වයට පරිවර්තනය වෙන අය. ඒ කියන්නෙ බුදුන් වහන්සේ කෙරෙහි ශ්‍රද්ධා මාත්‍රයක් හරි පිහිටපු කෙනෙක් ඉන්නව නම් ඒ අයටත් ඒ දානෙට අයිතියක් තියෙනවා. ඒ නිසා පස්සෙන් එන හිඟන්නටත් අයිතියි. අපිටත් ආහාරයක් හරි හම්බ වෙන්නෙ උන් වහන්සේ පසු යන නිසයි කියල, එහෙම යන අයෙක් ඉන්නව නම්, ඒ අයට කියනව ඉඳුල් කන්නත් කියල. ඒ අයත් පිටිපස්සෙන් ඇවිත් සාදුකාරයක් හරි දෙනවා, ගරු කරනවා. ඒ නිසා ඒ අයත් ශ්‍රාවක පරිණාමයට අයිතියි.

දැන් මේ කාරණය ගැන විග්‍රහ වෙන තැනක් ධර්මයේ සඳහන් වෙනවා. එක අවස්ථාවක බුදුන් වහන්සේට හකුරු දානයක් පූජා කරන්න එක්තරා දුගී මනුස්සයෙකුට අවශ්‍ය වුණා. ඒ අවස්ථාවෙදී මේ මනුස්සය බුදුන් වහන්සේට කියනවා, අනේ ස්වාමීනි මට හකුරු පූජාවක් කරන්න අවශ්‍යතාවයක් තියෙනවා, නමුත් මට එච්චර වත්කමක් නෑ කියල. එතකොට උන් වහන්සේ, ඔබට කොච්චර ගේන්න පුළුවන්ද කියල ඇහුවම, හකුරු කලයක් නම් ගේන්න පුළුවන් කියල කිව්වා. ඊට පස්සෙ ගෙනත් පූජ කරගන්න කියල උන් වහන්සේ අවසර දුන්නා. ඉතින් මේ මනුස්සය විගහට ගිහින් හකුරු කලයක් ගෙනත් බුදුන් වහන්සේට පූජ කළාම, කොතෙක් පූජා කළත් මදි නොවේවා කියල උන් වහන්සේ අධිෂ්ඨාන කරල, ඔබට ඕන තරම් පූජ කරගන්න කිව්වා.

ඉතින් එතන වැඩ හිටපු භික්ෂූන් වහන්සේලා සියල්ලටම පූජා කරල, අන්තිමට පාත්තර පිරෙන කල් පූජා කළත් හකුරු අඩු නොවී වැඩිවෙන්න පටන් ගත්තා. මොකද අර බුද්ධ අධිෂ්ඨානය නිසා. පස්සෙ මොකද කළේ, භික්ෂූන් වහන්සේලා සියල්ලටම පූජ කරල, වට පිටාවෙ සුදුවත් ඇඳගෙන හිටපු සියල්ලටමත් දුන්නා. අන්තිමට එතන හිටපු යාචකයින්ටත් බෙදල දුන්නා. දැන් මේ විදියට දුන්නෙත්, කාටද ඊළඟට බෙදන්නෙ කියල බුදුන් වහන්සේගෙන් විමසල බලල උන් වහන්සේගෙ අවසරය පිට. අන්තිමට යාචකයින්ටත් බෙදල ඒත් ඉතිරි වෙච්ච නිසා, මං මේක ගෙනිහින් ගමේ හැම තැනම බෙදන්නද කියල ඇහුවා. නමුත් ඒ අයට අයිතියක්, හිමිකමක් නෑ කියල බුදුන් වහන්සේ පෙන්වා දුන්නා. මොකද ඒ කාලෙ අද වගේ හැම තැනම බෞද්ධත්වයක් තිබුණෙ නෑ. බුදුන් වහන්සේ පහළ වෙලා බුදු දහම ප්‍රචලිත වෙන මුල් කාලෙ බෞද්ධ කියල නාම මාත්‍රයක්වත් සම්බන්ධ නැති අය ඒ වට පිටාවෙත් ඕන තරම් හිටියා. එතකොට ඒ වගේ අය ශ්‍රාවක පරිණාමයටවත් අයිති නෑ. ඒ නිසා තමයි ගමේ හැම තැනම ගිහින් බෙදන්නද කියල ඇහුවම එහෙම අයිතියක් නෑ කිව්වෙ. මගේ ශ්‍රාවකයෙකුට හෝ ශ්‍රාවක පරිණාමයක් ඇති කෙනෙකුට හැර වෙනත් කෙනෙකුට ඔය හකුරු දිරවන්නෙ නෑ කිව්වා. ඒ නිසා තවත් ඉතිරියක් තියේ නම් සත්තු නැති වතුරකට දාන්න, එහෙම නැත්නම් පොළවෙ යට කරල දාන්න කියල කිව්වා. මොකද ශ්‍රාවක පරිණාමයක්වත් නැති අයෙක් ඒක ගත්ත නම් දිරවන්නෙ නැතිව ලොකු අපහසුතාවයන්ට පත්වෙන්න පුළුවන්. ඒ නිසා ඒ ගැන හිතල අනුකම්පාවෙන්ම කිව්ව මිසක් වෙනත් හේතුවකට කිව්ව නෙවෙයි. මොකද නැත්නම් කෙනෙක් භෞතිකවාදීව ප්‍රශ්න කරන්න පුළුවන්, මේ ඉතිරි වෙන දානෙ, කන්න බොන්න නැති මිනිස්සුන්ට නොදී අපරාදෙ විසි කරන්නෙ ඇයි කියල. අපිට පිටින් එහෙම පෙනුනට ඒ කාරණය තුළ ගැබ් වෙච්ච ගැඹුරු ධර්මතාවයක් තියෙන බව මේ කාරණයෙන් තේරුම් ගන්න ඕන.

ඒ නිසා මේ වගේ පස්සෙන් එන හිඟන්නෙකුටත් අයිතියක් තිබුනට, ශාසනයට සම්බන්ධ නැති හිඟන්නෙකුට හෝ වෙනත් කෙනෙකුට ඒකට අයිතියක් නෑ. පූජනීය ස්ථානයක් නම් එතන අතුපතු ගාල දාන හිඟන මනුස්සයෙක් හරි ඉන්නව නම් ඒ මනුස්සයටත් ඒ දානෙට අයිතියක් තියෙනවා. ඒත් ශ්‍රාවක පරිණාමයක්. එහෙම නැතිව බුදු දහම ගැන ගණනකටවත් ගන්නෙ නැති, ශ්‍රද්ධා මාත්‍රයක්වත් නැති පවුලක් කොහේ හරි ඉන්නව නම් ඒ අයට අයිතියක් නෑ. කොච්චර නම්බුකාර විදියට හිටියත්, මොන තත්ත්ව තානාන්තර දැරුවත් ඒ අයට අයිති නෑ. බුදුන් වහන්සේ හෝ උන් වහන්සේගෙ ශ්‍රාවකයන් කෙරෙහි චිත්ත ප්‍රසාද මාත්‍රයක් හරි තියෙන්න ඕන. එහෙම නැති කෙනෙකුට ඒ දානයට හිමිකමක් නෑ.

දැන් කෙනෙකුට තවත් ප්‍රශ්නයක් එන්න පුළුවන්, එතකොට දානෙට උයල ගෙවල්වල ඉතිරි වෙන බත් ඉඳුල් ආදිය බල්ලන්ට, බළලුන්ට, කපුටන්ට ආදී සතුන්ට දුන්නට කමක් නැද්ද කියල. දැන් මෙතනදී දානය උයන්න ඉස්සෙල්ල සියල්ලම සාංඝික කළේ නැත්නම්, වළංවල ඉතිරිය සාංඝික වෙන්නෙ නෑ. ඒ කියන්නෙ සියල්ල සාංඝික කරල ඉව්වෙ නෑ. එතකොට ඉව්වට පස්සෙ කොටසක් වෙන් කරල ඒක සාංඝික කළොත්, අර වළංවල ඉතිරිය සාංඝික වෙන්නෙ නෑ. ඒ නිසා ඒ වළංවල ඉතිරියට ඕන දෙයක් කරන්න පුළුවන්. ඒක පැත්තක යන හිඟන්නෙකුට දුන්නත්, මිථ්‍යා දෘෂ්ටිකයෙකුට දුන්නත්, බල්ලෙකුට බළලෙකුට වගේ තිරිසන් සතෙකුට දුන්නත් ගැටළුවක් නෑ. හැබැයි සියල්ල සාංඝික කරල ඉව්වොත් එහෙම ඒ විදියට සාසනයට සම්බන්ධයක් නැති අයට දෙන්න බෑ. මොකද සමහර වෙලාවට, කෙනෙක් සංඝයා උදෙසා දානෙට කියල හාල්, පොල් ආදිය ලබා දෙන්න පුළුවන්. එතකොට ඒ සියල්ලම සාංඝිකයි. ඒවායින් උයන දානය ශ්‍රාවක පරිණාමයක්වත් නැති අයට අයිති නෑ.

ඒ වගේම සාංඝික කරපු කොටසින් ඉතිරි වෙන ඉඳුල් කොටසක් හරි තියේ නම් ඒත් එහෙම ආවට ගියාට දෙන්න බෑ. එතකොට ඒ ඉතිරිය පැත්තකින් අයින් කරනව මිසක් සතුන්ට දෙනව කියන සංඥාවෙන් දෙන එක ගැලපෙන්නෙ නෑ. නමුත් එහෙම අයින් කරන කොට සතෙක්වත් කන්න එපා කියල කියන්නත් බෑ. මොකද සමහර විට බුදු බව පතාගෙන, එහෙම නැත්නම් ශ්‍රාවක පාරමිතා පුරාගෙන එන අතර මග විවිධ තිරිසන් අත්බැව්වල ඉපදිලා ඉන්න අයත් ඔය අතර ඉන්න පුළුවන්. නමුත් ඒ කාරණය අපි දන්නෙ නෑ. එතකොට පාරමිතා පුරපු කෙනෙක් නම් සතෙක් වුනත් එහෙම හිමිකමක් තියෙන්න ඕන. නමුත් ඉතින් බොහෝ කොටම එහෙම නැති සත්තුත් ඉන්න නිසා, අපිට කියන්න පුළුවන්කමක් නෑ සතුන්ට දෙන්න කියල. අපි ඒ කාරණය දන්නෙ නෑ. ඒ නිසා ඒ වගේ අවස්ථාවකදි හොඳම ක්‍රමය තමයි, ඒ ඉතිරිය සතුන්ට දෙනවයි කියන සංඥාවෙන් දෙන්නෙ නැතිව සාංඝික දානය / බුද්ධ පූජාව ඉවත් කරන සංඥාවෙන් සාමාන්‍ය විදියට ගෙනිහින් පැත්තකට අයින් කරල දාන එක. එතකොට හිමිකමක් තියෙන සතෙක් හිටිය නම් ඒක කාල ගියාට ගැටළුවක් නෑ. මොකද සතුන්ට දෙන සංඥාවෙන් ඉවත් කළේ නැති නිසා.

හැබැයි බැරි වෙලාවත් හිමිකමක් නැති සතෙක් ඇවිත් කැවොත් ඒක ඒ සතාගෙ කර්ම විපාකය. ඒකට කරන්න දෙයක් නෑ. නමුත් මෙතනදි විශේෂ කාරණයකුත් තියෙනවා. සතුන්ට කියල කියන්නෙ නැතිව, බුද්ධ ප්‍රමුඛ සාංඝික දානය කියන ඒ සංඥාවෙන් අපි ඒක ගලක් උඩට හෝ නිකං ඉවතට හෝ විසි කළොත්, දවසක් ඇතුලතදි සිවුරක් පෙරෙව්ව වගේ එක්තරා කහ පාටට හුරු හතු ජාතියකින් ඒක වහ ගන්නවා. ඒක අපේ අත්දැකීමක්. මීට පෙර දෙතුන් අවස්ථාවකදිම ඒ කාරණය ප්‍රායෝගිකව ඔප්පු කරල පෙන්වල තියෙනවා. ඒක සතෙක් හොට ගහන්න එන්නෙ නෑ. ඊළඟට ඒක අවුස්සල බැලුවොත් අර ඉවත් කරපු දාන කොටස ඒක ඇතුලෙ එහෙම්ම තියෙනවා. පිටින් සිවියක් විදියට හතු වගේ ජාතියක් හැදිල තියෙනවා.

ඕක මම එක්තරා අවස්ථාවක බුද්ධ පූජාවට දොස් කියන විනය වර්ධන පක්ෂයේ කෙනෙකුටත් පෙන්වල තියෙනවා. එක වතාවක් මම කළගෙඩිහේනෙ මේ වැඩ කටයුතු කරගෙන ඉන්න කොට මාව හමුවෙන්න ඒ පක්ෂයේ කෙනෙක් ආවා. ඇවිත්, රුකඩවලට පූජා තියන්නෙ මොකද, ඕක පිනක්ද ... ආදී වශයෙන් මගෙනුත් ප්‍රශ්න කළා. මම ඉතින් මේ සිද්ධිය කියල හුඟක් ලොකු විග්‍රහයක් කරල දීල, ඔබට මේකෙ ඇත්ත නැත්ත දැනගන්න ඕන නම්, ඔය බුද්ධ පූජාව ඉවත් කළාම මෙහෙම දෙයක් සිද්ධ වෙනව කියල ඒ විස්තරේ කිව්වා. කියන කොටම ඒ මනුස්සයා, අන්න ඒක මට ලොකු දෙයක්, මට වෙන මුකුත් ඕන නෑ, ඒක ඇත්ත නම් මම ඔබ කියන සියල්ලම පිළිගන්නව කියල කිව්වා. මම ඉතින් ඔහුව අඬ ගහගෙන ගිහින් පෙන්නුවම මනුස්සයා ඔළුවෙ අත ගහගෙන වැඳගත්තා. ඒක මහ පුදුම සිද්ධියක්නෙ, මං කොහෙවත් දැකල නෑ මෙහෙම දෙයක් කියල මනුස්සයා පුදුම වෙලා ඒ කාරණය පිළිගත්තා. හැබැයි ඉතින් ඕක අර, ''ඔන්න බුදුනෙ මල් මෙන්න මෙහේ මං'' කියල පැරණි කතාවක කියනව වගේ, නිකං කරන්නං වාලෙ කරල හරි යන්නෙ නෑ. ඒ ජාතියෙ පූජාවක් කරල නම් ඔහොම දෙයක් බලාපොරොත්තු වෙන්න බෑ. ඒක හරියට අවංකව හද පතුලෙන් පූජා කෙරිච්ච දෙයක් නම් අර වගේ දෙයක් සිද්ධ වෙනවා. නමුත් සමහරු නිකං තියන්නං වාලෙ බුද්ධ පූජාවක් තියල යන්න යනවා. එහෙම කෙරුවට ඒ බුද්ධ පූජාව සම්පූර්ණ වෙන්නෙ නෑ. ඒක බුදුන් වහන්සේට පූජා කරමි කියල තුන් වතාවක් කියල ගෞරව හිතකින් බුදුන්ට පූජා කරනව කියන අදහස එන විදියට කරන්න ඕන.



බුද්ධ පූජාව ප්‍රමුඛ සාංඝික දානයේ ඉතිරිය ඉවත් කිරීමෙන් පසු ඇතිවන කහපාට හුරු දිලීර මේ ආකාරයි.

මොකද තුන් වතාවකින් තමයි යමක් තීන්දු වෙන්නෙ. තී + ඉන්දු - තීන්දු කියන්නෙ තුනක ඉන්දුවනවයි කියන එක. ඒකට තුන් පාරක් කියන්න ඕන. ඒ වගේම තේ + උරුම - තේරුම කියන්නෙ තුන් වතාවකින් උරුම වෙනවයි කියන එක. ඒ කියන්නෙ යමක් තීන්දු වෙලා උරුම වෙන්න නම් තුන් වතාවක් කියන්න ඕන. මේ තුන් වතාව කියන ක්‍රමය බුදුන් වහන්සේත් අනුගමනය කරල තියෙනවා. එක අවස්ථාවක පරිබ්‍රාජකයෙක් කර්ම වාදයද, ක්‍රියා වාදයද පළමු වැනි කියල උන් වහන්සේගෙන් තුන් වතාවක් අහනවා. බුදුන් වහන්සේත් ඒ පරිබ්‍රාජකයාගෙන් තුන් වතාවක් අහනවා. ඒ අහන්නෙ කාරණය තීන්දු කරගන්න. මොකද එතකොට කියපු දේ නැවත වෙනස් කරන්න බෑ. ඔබ මේක මෙහෙමද කියන්නෙ කියල තුන් වතාවක් අහල තහවුරු කර ගන්නවා. ඊළඟ පාර ඒක වෙනස් කරල කතා කළොත්, හොඳ සිහියෙන් කතා කරන්න, මොකක්ද ඉස්සෙල්ල කිව්වෙ කියල සිහි ගන්වනවා. ඒ වගේ තුන් වතාවක් අහල තමයි උන් වහන්සේ ඒ වගේ අවස්ථාවකදි ප්‍රශ්න විසඳුවෙ. එහෙනම් යමක් ස්ථිර කරන්න මේ තුන් වතාවක් කියන කාරණය බුදුන් වහන්සේත් අනුමත කරල තියෙනවා. එතකොට තමයි ඒක ස්ථිරව පිහිටන්නෙ. මේ විදියට තුන් වතාවක් කියල නියම විදියට කැප කරපු බුද්ධ පූජාවක් නම් සෙල්ලමක් නෙවෙයි.

මම පොල්ගහවෙල ගිජිඳාගම ඉන්න කාලෙ ඒ වගේ කරපු පූජාවක් අහකට දාපු තැනක් තිබුණා. කන්න එපා කියල පිරිස දැනුවත් කරලමයි මං ඒක අහකට දම්මෙ. නමුත් එක්තරා ළමයෙක් ඒ විසි කරපු කොටසින් අලුව කෑල්ලක් තිබිල අරගෙන ඒක කකා ගෙදර ගියා. හැබැයි ඒ ළමය කවදාවත් මේ පූජා කටයුතුවලට ඇවිත් වන්දනාමාන කරල ගිහින් නෑ. ඒ වගේ අරමුණකින් නෙවෙයි ආවෙ. නිකං ඔය කොහේ හරි යන ගමන් මොනව හරි කන්න ආපු ළමයෙක්. මොකද සමහර අය මේ වගේ පූජා අවස්ථාවල දැහැත් විට, දානෙ ආදිය කාල යන්නම එනව මිසක් වඳින්න පුදන්න එන්නෙ නෑ. වට පිට බලල ඔය මොනව හරි තියෙන දෙයක් අරන් යන්න එන අයත් ඉන්නවා. එහෙම කෙනෙක් ශ්‍රාවක පරිණාමයට අයිති වෙන්නෙ නෑ. අනිත් කාරණය තමයි එහෙම ගෞරවයෙන් පූජාවට ආපු කෙනෙක් නම් බුද්ධ ගෞරවය නිසා බුද්ධ පූජාවට හිමිකම් කියන්න යන්නෙ නෑ. ඒක බුද්ධ ශ්‍රාවකයින්ගෙ සිරිතක් වගේම ඒ සිරිත ශ්‍රේෂ්ටයි කියල බුදුන් වහන්සේත් අනුමත කරල තියෙනවා. බුදුන් උදෙසා දෙන දෙයක් අවශ්‍ය නම් ශ්‍රාවකයෙකුට, ශ්‍රාවක පරිණාමයක් තියෙන කෙනෙකුට ගන්න හිමිකමක් තිබුණත්, ශ්‍රාවකයෝ බුද්ධ ගරුත්වය නිසා ඒ වගේ දේවල් ගන්න බලාපොරොත්තු වෙන්නෙ නෑ. ඉතින් අර ළමය මේක කාල පැයක් යන්නත් කලින් කට ඉදිමිලා, තොල් පැලිල ඉස්ම වැක්කෙරෙන්න පටන් ගත්තා. ඊට පස්සෙ වෙනම සෙත් පැන් දීල, කමා කරවල නැවත එහෙම නොකරන බවට පොරොන්දු කරල තමයි ඒ දෝසෙන් ඒ ළමයව මුදව ගත්තෙ. ඊට පස්සෙ දවස් 2-3 ක් යන කොට ඒ තත්ත්වය සමනය වුණා. එතනින් පස්සෙ කවුරුවත් එහෙම කන්න ගියේ නෑ. දැන් මේ කාරණය සමහරු වරද්දගෙන තේරුම් ගන්න පුළුවන්, ☞

බුද්ධ පූජාවෙන් එහෙම සාප වෙන පැත්තක් තියෙන්න පුළුවන් ද කියල. නමුත් එහෙම වැරදියට අදහස් ගන්නෙ නැතුව, අහිමි දේ දිරවන්නෙ නෑ කියන බුද්ධ භාෂිතය අනුව මේ කාරණය තෝරගන්න ඕන. මොකද මම ඔය වගේ පූජා තියන කොට සියලු බුදුවරයන් වහන්සේලා ඇතුළු මහා සංඝරත්නයටම කැප කරල, පතිගණ්හාතු මුත්තමං කියල මිසක් පතිගණ්හාතු ගෝතමං කියල ගෞතම බුදුන් වහන්සේට විතරක් කැප කරල නෙවෙයි කරන්නෙ. එහෙම කළොත් ඒ බුද්ධ පූජාව සම්පූර්ණ වෙන්නෙ නෑ. බුද්ධ පූජාව කියන එක සියලු බුදුවරයන් වහන්සේලා උදෙසා වෙන්න ඕන. නමුත් දැන් මේ කාරණයත් වරද්ද ගෙන, සමහරු බුද්ධ පූජාව කියල ගෞතම බුදුන් වහන්සේට විතරක් වෙනම පූජ කරනවා. නමුත් ඒක බුද්ධ පූජාවක් වුනත් පූර්ණ වෙන්නෙ නෑ. බුදුන් ප්‍රමුඛ සංඝයාට පූජා කරපු සාංඝික දානයත් හරියට කළොත් සියලු බුදු පියාණන් වහන්සේලා ප්‍රමුඛ සංඝ රත්නයට කියල පූජා කරන්න ඕන. ඒක මහා සාංඝික පිනක්. එහෙම තියන බුද්ධ පූජාවක් සෙල්ලමක් නෙවෙයි. ඉතින් මම ඒ විදියට පූජා තියපු නිසා තමයි ඒව එච්චර බලවත් වුණේ, ඒකෙ විපාකත් එච්චර සැර වුණේ.

ඒ නිසා නියම විදියට කරපු පූජාවක් මේ විදියට අයින් කරල ඒ වටා හතු වගේ දෙයක් හැදුනොත් ඒක සතෙක් ලේසියෙන් කන්නෙ නෑ. සතෙක්ගෙ කර්ම විපාකයකට කැවුනොත් මිසක් එහෙම ලේසියෙන් කැවෙන්නෙත් නෑ. මොකද සතෙකුට තියෙන්නෙ විපාක භුක්තියක්. ඒ නිසා සතාට ඉවක් තියෙනවා. උගේ ඉවට ඒක ඉබේම දැනෙනවා. ඒ නිසා ඒක කන්නෙ නෑ. සතාට ගැලපෙනව නම් විතරයි ඌ ඒක කන්නෙ. සතුන්ට කොහොමත් වස මොකක්ද කියල දැන ගන්න මිනිස්සුන්ට වගේ උගන්වල නෑ. අර ජාතියෙ ඒවා වස, ඒක කන්න එපා, ඇඟට අගුණයි කියල එහෙම සතුන්ට කවුරුවත් උගන්වල නෑ. උන් ඉව ඇල්ලුවම සුදුසු නම් ඒක කනවා. නැත්නම් යන්න යනවා. ඒ විදියට තමයි සතෙක් තමන්ට ගැලපෙන ආහාරයක් අඳුන ගන්නෙ. ඒ නිසා කවදාවත් ස්වභාවිකව වස විස දෙයක් සතුන් කන්නෙ නෑ. නමුත් මිනිස්සු ප්‍රයෝග විපත්තිය යොදල උපක්‍රමශීලිව හදාගත්තු විසකින් සත්තු රවට්ටල දෙන විස තියෙනවා. ඒවට උන් අහුවෙනව මිසක් ඒ හැර ලෝකෙ ස්වභාවික වසක් තියේ නම් උන් ඉව කරල ඒ ස්වභාවික ගන්ධය නිසා යන්න යනවා. එතකොට බුදුන් වහන්සේට කැප කරපු දේ, සාංඝික දේ, සතුන්ට අහිමි දේ උන්ට කන්න බැරිවෙන්න අර විදියට පිටින් හැදෙන හතුවල තියෙන එක්තරා රසායනයක් උන්ගෙ ඉවට දැනෙනවා. ඒ වගේ දෙයක් කෑවොත් කන්නෙ ඒකට හිමි සතෙක් විතරයි. එහෙම කෑවට ගැටලුවක් නෑ. ඒ නිසා තමයි ඒ වගේ දෙයක් අපි අඬගහල දෙන්න හොඳ නැත්තෙ.

මොකද එහෙම අඬගහල දෙන්න ගියොත් අපි ඒ විදියට බුදුන්ට, සඟුන්ට පූජා කරපු දානෙ කැප ඇරෙව්ව වෙනවා. එතකොට ඒක ඒ සතාට කැප වෙලා අපිට විස වෙනවා. දන්නෙ නැතිව දුන්නත් කැප ඇරෙව්ව වෙනවා. එතකොට සතාට ප්‍රශ්නයක් නෑ. මොකද අපි තමයි කැප ඇරියෙ. නමුත් බුදුන්ට, සඟුන්ට පූජා කරපු දානෙ එහෙම කැප අරින්න අයිතියක් අපිට නෑ. කැප ඇරියයි කියන්නෙ සාංඝික දේ හොරකම් කර ගත්ත වගේ දෙයක්. සාංඝික දෙයක් හොරකම් කරගත්තොත් ඒක එතැන් පටන් ඒ හොරාට අයිතියි. උදාහරණයක් විදියට භික්ෂූන් වහන්සේ නමකගෙ පාත්තරය හෝ කුඩය, කෙනෙක් හොරකම් කළොත් හෝ බලෙන් ගත්තොත් ඒ මොහොතෙම ඒක ඒ හොරාට අයිතියි. ඒ නිසා ඒ භික්ෂූන් වහන්සේ ඒක ආපසු අර ගත්තොත් පාරාජිකාවට අහු වෙනවා, අනුන් සතු දේ ගත්ත වෙනවා. එතකොට ඒකෙන් පැහැදිලි වෙනව, හොරකම් කරල හරි යමක් ගත්තොත් ඒක ඒ හොරා සතු වෙන බව. ඉතින් හොරෙන් අරගෙන ඒ හොරාට ඕන දෙයක් කරගත්ත ගමන්ම ඒකෙ කැප ඇරිල ඒ හොරාට මහා පාපයක් වෙනවා. ඒ නිසා බුදුන්ට, සඟුන්ට පූජා කරපු දේ තමන්ට ඕන දෙයක් කරන්න ගියොත් එහෙම මහා පාපයක් සිද්ධ වෙනවා. ඒක සුළු දෙයක් නෙවෙයි. ඉතින් මේ විදියට මිනිස්සු නොදැන සාප කරගන්නවා. අද වෙන කොට භුග දෙනෙක් මේ කාරණය දන්නෙ නැතිව විසාල වශයෙන් අවැඩ සිද්ධ කර ගන්නවා. මේ ශාසනයයි, මිනිස්සුයි වැනසෙන්න ඒ කාරණයත් හේතු වෙනවා. නමුත් ඒකෙ බරපතලකම මිනිස්සු දන්නෙ නෑ. ඒ කාරණයෙන් වැනසෙනවයි කියන එක දන්නෙ නෑ.

ඒ නිසා බුද්ධ පූජාව වුනත් අහක් කළාම සත්තු කෑවම මොකද කියල අර ලෝක සම්මත භෞතික තර්කය ගේනවා. නමුත් ඒක භෞතික සිද්ධාන්තයක් මිසක් දහම් සිද්ධාන්තයක් නෙවෙයි. ඉතින් අහක දාපු බුද්ධ පූජාවක් සත්තු කෑවම මොකද කියන තර්කය ඇත්ත නම්, ඒක සතෙකුට දාන්න කියනව මිසක් බුදුන් වහන්සේ කවදාවත් දේශනා කරන්නෙ නෑ, ඒක සත්තු නැති වතුරකට හෝ පොළවෙ යට කරල දාන්න කියල. එතකොට බුදුන් වහන්සේටත් වඩා නුවණ තියෙන අයද අද ඉන්නෙ කියන ප්‍රශ්නය අහන්න වෙනවා. ඒ නිසා බුද්ධ භාෂිතය අනුව කටයුතු කරනව මිසක්, පිනක් කියල හිතාගෙන වැරදි දෘෂ්ටියක ඉඳගෙන, බුද්ධ ශාසනයට කැප කරපු දෙයක් එහෙම කැප ඇරවල සතුන්ට කන්න දෙන්න අපිට අයිතියක් නෑ. මේ කාරණය මෙච්චර දුරට විග්‍රහ කළේ, මේ ගැන නොදැන බොහොමයක් උදවිය බරපතල පාප කර්ම සිද්ධ කරගන්න නිසා. ඒවායෙ විපාක මේ අත් භවයෙ හරි මතු අත්භවයක හරි කොයි මොහොතක හරි එන්න පුළුවන්. නමුත් ඒ කාරණය නිසා එහෙම සිද්ධ වුනයි කියන එක ඒ උදවිය දන්නෙ නෑ. බුද්ධ ප්‍රමුඛ සාංඝික දානය ඉවත් කරනවයි කියන සංඥාවෙන් ඒ කොටස ඉවත් කළාම මේ කිසිම ගැටළුවක් එන්නෙ නෑ.

එතකොට බුදුන් වහන්සේ ඒක සත්තු නැති වතුරකට හෝ පොළවෙ යට කරල දාන්න කිව්වෙ, ඒක කොහොමත්ම ගැලපෙන්නෙ නැති බව පෙන්වන්න. මොකද එතකොට දැනුවත්ව කිසි කෙනෙකුට ඒක කන්න දෙන්න හොඳ නෑ කියන සිතිවිල්ල හිත තුළම සකස් වෙනවා. එහෙම කළාට පස්සෙ අපි හොඳටම දන්නව ඒක සතෙකුටවත් කන්න බැරි වෙන්න අහකට දැම්ම කියල. නමුත් පුරුදු වෙලා තියෙන්නෙ ගලක් උඩට දාන්න හෝ නිකං අහකට විසි කරන්න නිසා, මේ ගැන නොදන්න කෙනෙකුට කොච්චරවත් හරි හිතෙන්න පුළුවන් සතෙක්වත් ඇවිත් කන්නෙ නැතැයි කියල. එතකොට සතෙක් කෑවට කමක් නෑ කියල චේතනාවක් පහළ වෙන්න පුළුවන්. ඒ නිසාම තමයි වැඩි හොඳට, සත්තු නැති වතුරකට හෝ පොළවෙ යට කරල දාන්න කිව්වෙ. ඉතින් ඒ ක්‍රමය දැන් අනුගමනය කළත් හොඳයි. මොකද බුදුන් වහන්සේගෙ දේශනාවෙ තියෙන්නෙත් ඒ විදියට. ඒ වගේ පෙන්වපු අවස්ථා බොහොමයක් ත්‍රිපිටකයේ තියෙනවා. හැබැයි එහෙම සත්තු නැති වතුර තියෙන තැනක් හොයා ගන්න බැරි නම් හෝ පොළවෙ යට කරන්න බැරි නම්, අර කලින් පෙන්වා දීපු විදියට බුද්ධ පූජාව ප්‍රමුඛ සාංඝික දානය ඉවත් කරනව කියන සංඥාවෙන් ඒක කොහොට හරි විසි කළත් කමක් නෑ.

ඒ වගේම පෙරේත තටුව ඉවත් කරන කොටත් එදා දවස ඇතුලතම ඉවත් කරන්න ඕන කියල සඳහන් කළා. ඒකට හේතුව තමයි ඊට වඩා වැඩි කාලයක් ඒ පෙරේත තටුව ඒ ස්ථානයේ තිබුණොත් අමනුස්ස කොටස් ඇවිත් එතන පැළ පදියම් වෙන්න බලනවා. ඒක වළක්වන්න තමයි පොදුවේ ඒ අයට භුක්ති විඳින්න පුළුවන් විදියට තුංමං හන්දියක් වගේ තැනකට එදාම ගිහින් දාන්න කිව්වෙ.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සත්වයින්ගේ පරමායුස සහ උස මහත තීරණය වන හැටි

*(පසුගිය කලාපයෙන්: මස් ලේ කයේ ක්‍රියාකාරීත්වයට සහ සශ්‍රීකත්වයට සිතිවිලි බලපාන හැටි....)*

දැන් මේ ඉන්න මනුස්සයින්ගෙ පරමායුස අවුරුදු 120 ඉඳන් 80, 70... ආදී වශයෙන් ක්‍රමයෙන් අඩු වෙලා ගිහින් අවුරුදු 10 ට අඩු වෙන කාලයක් එන බව පසුගිය කලාපයේ අවසානයේ විග්‍රහ කළා. ඒ කාලෙට බොහොමයක් මිනිස්සුන්ගෙ හැසිරීම හරියට බල්ලො වගෙයි. ඒ කියන්නෙ බල්ලන්ගෙ ස්වභාවය තමයි කල්ලි ගැහිල උන් උන් හපා ගන්නවා. අනෙක් එවුන් දැක්ක ගමන් පන්නගෙන ගිහින් හපා කනවා. ඒ කාලෙට පහළ වෙන බොහොමයක් මිනිස්සුත් එහෙමයි. අම්ම අප්ප, සහෝදර සහෝදරියො අඳුනන්නෙ නෑ. තැනින් තැන කල්ලි ගැහිල තවත් මනුස්සයෙක් දැක්ක ගමන් පන්නගෙන ගිහින් කපනවා, කොටනවා, ගහනවා, මරනවා. බල්ලො නම් හපා කනව විතරයි, කපන්නෙ කොටන්නෙ නෑ. නමුත් ඒ කාලෙට ඉන්න බොහොමයක් මිනිස්සු බල්ලන්ටත් වඩා අන්තයි. හරි භයානකයි. හැබැයි මේ වෙනස්වීම ක්‍රමානුකූලව තවත් සෑහෙන කාලයක් ගත වෙන කොට සිද්ධ වෙන දෙයක් මිසක් එක පාරටම සිද්ධ වෙන දෙයක් නෙවෙයි. ඒත් එක්කම මනුස්සයින් ක්‍රමයෙන් උස මහතින් පුංචි වෙනවා.

ඊළඟට මෙහෙම ගිහින් මනුස්සය අන්තිම පුංචිම තත්ත්වයට ආවම, නැවතත් ඒ අඩු වුනා වගේම ක්‍රමයෙන් ලොකු වෙවී පරම්පරාවෙන් පරම්පරාවට විශාල ශරීර හැදෙනවා. ඒ හැදෙන්නෙත් අර කලින් ක්‍රමයටමයි. මිනිස්සු දස අකුසලයෙන් ඉවත් වෙන්න පටන් ගන්නකොට මිනිස්සුන්ගෙ සිත් ගුණධර්මවලින් පෝෂණය වෙනවා. එතකොට භෞතික වූ සතර මහා ධාතූන් පෝෂණය වෙන්න පටන් ගන්නවා. ඒ සතර මහා ධාතුවලින් හට ගන්න ආහාර නිසා මනුස්සයින්ගෙ මස් ලේ කයත් පෝෂණය වෙනවා. එතකොට නැවතත් විශාල ශරීර හැදෙන්න පටන් ගන්නවා. මස් ලේ කය ලොකු මහත් වෙනකොට චිත්තජ කයයි, කර්මජ කයයි දෙකත් ලොකු මහත් වෙනවා. මේවා එකිනෙකට සම්බන්ධයි. අද කාලෙ යම්කිසි දිවැසක් තියෙන කෙනෙක් භූත ලෝකෙට යොමු කරල බැලුවොත් විශාල මිනිස් ගන්ධබ්බයින් වගේම පොඩි මිනිස් ගන්ධබ්බයිනුත් දැක බලා ගන්න පුළුවන්. ඒ වගේ විවිධාකාරයෙන් ඉන්නවා. ඒ තමයි මැරෙන්න පෙර ඒ අයගෙ කය තිබ්බ්ච හැටි. මොකද ඒ කාලෙ යෝධයො වගේ හිටපු අය සමහර වෙලාවට තවම උප්පත්තියකට ගියේ නැතිව සුදුසු කාලය එනකල් කර්ම ශක්තියෙන්ම සැරිසරමින් ඉන්නවා. එතකොට එදා තිබ්බ්ච කය විශාල එකක් නම්, අදත් ඒ ගන්ධබ්බ



ලෝකෙදි ඒ විදියට බොහොම උස මහත චිත්තජ ශරීරවලින් තමයි ඉන්නෙ. ඒ වගේම කුරුමිට්ටො වගේ අයත් ඉන්නවා.

ඒ වගේ ඒ ඒ කාලවල හිටපු සමහර අය මනුස්සයො වශයෙන් ගැබක උප්පත්තියකට යන්නෙ නැතිව තවත් බොහෝ කලක් චිත්තජ කයෙන් ඉන්නවා. එහෙම ගැබකට ඇවිත් උප්පත්තියකට නොයන්නත් විවිධ හේතු තියෙනවා. සමහර විට මෙලොව ඉඳෙද්දි මිනිස්සුන්ගෙ ජීවිත නැති කරල, ජීවිත වනසන්න නියෝග දීල, අනුබල දීල කරගත්තු පාප කර්ම ඵල දෙන්නත් ඒ විදියට ඉන්න වෙනවා. එතකොට අනුන්ගෙ ජීවිත විනාශ කරපු කර්මයේ විපාක වශයෙන් ඒ වගේ පුද්ගලයන්ට එක පාරටම මනුස්ස ජීවිතයක්, මස් ලේ කයක් ලබන්න බෑ. ඒ වගේ සමහර අය ඒ කර්ම විපාක ගෙවෙන කල් චිත්තජ කයෙන් හෝ කර්මජ කයෙන් අවුරුදු සිය දහස් ගණන් ඉන්නවා. එතකොට දැනට අවුරුදු දහස් ගණනකට එහා හිටපු ඒ වගේ මනුස්සයින්ගෙ ශරීර කොහොමට තියෙන්න ඇත්ද? එදා තිබ්බ්ච ශරීරයේ ප්‍රමාණයම සහ ඒ ස්වභාවයම තමයි ඒ පුද්ගලයින්ට දැන් චිත්තජ සහ කර්මජ රූපයෙන් හැදිල තියෙන්නෙත්. එදා ඒ පුද්ගලයො මැරුන ස්වභාවයෙන්, ඒ ගතියෙන් අද වෙන තුරුත් ගන්ධබ්බ ලෝකවල ඉන්නවා.

දැන් එතකොට කෙනෙක් කර්මජ කයෙන් එක අත්බැවක ඉපදිලා, මස් ලේ කයෙන් කාලයක් මනුස්ස ලෝකෙ ජීවත් වෙලා ඉන්න කොට ඒ පුද්ගලය රැවුල කොණ්ඩෙ කපල, මොකක් හරි හුරුවෙච්ච ඇඳුමක් ඇඳගෙන හිටිය නම්, මස් ලේ කයින් මැරිල චුති-පටිසන්ධියක් නොවුන නම්, එතකොට ඒ ගන්ධබ්බය චිත්තජ කයෙන් ඒ ස්වරූපයෙන්මයි ඉන්නෙ. ඒ කියන්නෙ මස් ලේ කයින් මැරිල ගිහින් ඒ භවයෙන් චුත නොවී ගන්ධබ්බ ලෝකෙ ඉන්න කොට, අර කලින් මනුස්ස ලෝකෙ හිටපු විදියටම චිත්තජ කයෙන් තමයි දැන් ඉන්නෙ. එතකොට සූක්ෂම කර්මජ මනෝ කය රබර් බෝලයක් එබුව වගේ ඇකිලිලා චිත්තජ කයත් එක්ක සම්බන්ධ වෙලා, මනුස්ස වශයෙන් ජීවත් වෙලා හිටපු ස්වරූපයෙන්ම ඉන්නවා. එතනදි චිත්තජ කය මූලික වෙනවා. ඒ ලෝකෙ අලුතින්ම ආරම්භක පටිසන්ධියක් ඇවිත් තවමත් මස් ලේ කයකට නොගිය කෙනෙක් එදා තිබ්බ්ච රූපයෙන්ම නව පටිසන්ධියක් ලබන කල් අදත් ඉන්නවා. තමන්ගෙ වඩාත්ම ප්‍රියමනාප ඇඳුම ඒ අයට චිත්තජ රූපයෙන් මැවිල එනවා. ඒ වගේ විවිධාකාර උදවිය ගන්ධබ්බ ලෝකෙ ඕන තරම් දකින්න පුළුවන්.

එතකොට අර පසුගිය කලාපවලින් විස්තර කරපු විදියට භූතයෙක් වගේ කිව්වෙ කර්මජ කය. මස් ලේ කයින් මැරිල චුති-පටිසන්ධියක් ලබපු ගන්ධබ්බයෙක් මවු කුසක උපදින කල් කාලය තුල ඉන්නෙ අර භූතයෙක් වගේ කියපු සූක්ෂම කර්මජ කයෙන්. එතකොට ඒ කර්මජ කය සහිත ගන්ධබ්බය මවු කුසකට ගිහින් මස් ලේ කයක් සහිතව උපදින කොට අර භූතය වගේ කර්මජ කය හකුළල අලුතින් එකක් හදනවා. ඒක කරන්නෙ කර්ම ශක්තියෙන්. ඊට පස්සෙ ඒ භෞතික මස් ලේ කයේ ස්වරූපය තමයි හිතට එන්නෙ. එතකොට එහෙම මස් ලේ කයක් සහිතව ඉපදිලා අවුරුදු ගණන් ජීවත් වෙලා, චුති-පටිසන්ධියක් නැතිව මස් ලේ කයින් මැරුණොත්, ඊට පස්සෙ ගන්ධබ්බ ලෝකෙට ගියාම චිත්තජ කය තමයි දැන් නැවතත් ප්‍රධාන වෙන්නෙ. ඒ වගේම ඒ පුද්ගලය මනුස්සයෙක් විදියට ජීවත් වෙලා හිටපු කාලෙ රැවුල, කොණ්ඩෙ, නියපොතු ආදිය කපල යම්කිසි ප්‍රියමනාප ඇඳුමකින් සැරසිලා ආභරණ පැළඳගෙන හිටිය නම්, ඒ හිටපු හැටියට ඒ ඇඳුම් ආයිත්තම් පිටින්ම දැන් අර ගන්ධබ්බයත් චිත්තජ කයෙන් ඉන්නවා. ඒ අවස්ථාවෙදි කර්මජ කය යටපත් වෙනවා. හැබැයි ඒ වෙලාවෙ වුනත් ඒ යටපත් වෙච්ච කර්මජ කය දිහා බැලුවොත් භූතයෙක් වගේමයි. නමුත් ඒ කර්මජ කය එළියට එන්නෙ නෑ. ඒක ඒ අවස්ථාවෙදි චිත්තජ කයෙන් යටපත් වෙලා මැඩපවත්වල තියෙන්නෙ. දැන් එතකොට මනුස්ස ගන්ධබ්බයින් වර්ග 2 ක් ඉන්නවා. එක කොටසක් මස් ලේ කයින් මැරිල චුති-පටිසන්ධි නොවී ඉන්න චිත්තජ කය මූලික කර ගත් ගන්ධබ්බයා. අනෙක් කොටස මස් ලේ කයේ මරණයත් එක්ක චුති-පටිසන්ධියක් වෙලා කර්මජ කය මූලික කරගත් ගන්ධබ්බයා. ඒක තමයි භූතයෙක් වගේ අවස්ථාව.

එහෙනම් කර්මජ කයක් මූලික වෙන්නෙ චුතියක් වෙලා පටිසන්ධියක් ලබන මොහොතෙදි විතරයි. පටිසන්ධිය ලැබුවට පස්සෙ නැවතත් අලුත් සිතිවිලිත් එක්ක සම්බන්ධ වෙලා චිත්තජ කය මූලික වෙලා කර්මජ කය යටපත් වෙනවා. ඊළඟට කර්මජ කය චිත්තජ කයේ පාලනයට යටත් වෙනවා. නැවතත් පටිසන්ධියක් ලබන කල් චිත්තජ කය තමයි බලවත් වෙන්නෙ. නැවත පටිසන්ධියක් ලබන කොට පරණ චිත්තජ කය ගෙවිල අලුතින් සිතිවිලි සකස් කරල දෙනවා. ඒ නිසා පෙර තිබිච්ච චිත්තජ කය නැවත එන්නෙ නෑ. ඒක තිදි කෙරුව වගේ යටපත් කරල තමයි අලුතින් කර්මජ කයක් ගොඩ නැගෙන්නෙ. නැවත චිත්තජ කයක් හට ගන්න කල් ප්‍රධාන වෙන්නෙ කර්මජ කය. ඊළඟට කොතන හරි ඒ කර්මජ කයෙන් උපන්නට පස්සෙ ඒක අලුත් චිත්තජ කයත් එක්ක සම්බන්ධ වෙනවා. ඊට පස්සෙ චුති-පටිසන්ධියක් නැතිව මළොත්, එතකොට චිත්තජ කය නැවතත් ප්‍රධාන වෙලා කර්මජ කය යටපත් වෙනවා. මේ විදියට තමයි චිත්තජ කයේ සහ කර්මජ කයේ ක්‍රියාකාරීත්වය සිද්ධ වෙන්නෙ.

හැබැයි කෙනෙක් විශේෂ මනුස්ස අත්බැවක් වැඩි කාලයක් ලබල හිටිය නම්, චුති-පටිසන්ධියක් වෙලා භවය වෙනස් වුනත්, ඒ විශේෂ අත්බැවේ තිබිච්ච හැඩරුව සහ ගති ලක්ෂණ ඊළඟ අත්භවයටත් එන්න පුළුවන්. ඒ වගේ විශේෂ මනුස්ස අත්බැවක හිටපු කෙනෙක් මැරිල චුති-පටිසන්ධියක් වෙලා සතෙක් වෙලා ඉපදුනත්, ඒ සතා මැරිල ඊළඟට නැවත වරක් මනුස්සයෙක් වුනොත්, අර විශේෂ මනුස්ස අත්බැවේ තිබිච්ච ගති ලක්ෂණ හා සමානව චිත්තජ රූපයෙන් නැවතත් ගන්ධබ්බව ඉන්න පුළුවන්. මොකද ඒ විශේෂ අත්බැවේ මනසෙ තිබිච්ච ප්‍රබලත්වය නිසා. උදාහරණ විදියට ඒ වගේ විශේෂ මනුස්ස අත්බැවක හිටපු කෙනෙක් මැරිල චිත්තජ රූපයෙන් ගන්ධබ්බයෙක් විදියට ඉඳල, එතනින් චුත වෙලා බල්ලෙක් වෙලා ඉපදිලා අවුරුදු ගණනක් ඉඳල, නැවත වරක් චුති-පටිසන්ධි වෙලා මනුස්ස ගන්ධබ්බයෙක් වුනොත්, අර පෙර මනුස්ස වෙලා ඉඳෙද්දි තිබිච්ච චිත්තජ රූපය හා සමානව නැවතත් නැගෙනවා. එතකොට අලුතින් පටිසන්ධියක් ලැබුවත් කර්මජ කයින් භූතයෙක් වගේ ඉන්නෙ නෑ. අර පැරණි චිත්තජ රූපය හා සමාන ගති ලක්ෂණ ඇතිව ඉන්නවා. එහෙම අයත් මේ ගන්ධබ්බ ලෝකෙ ඉන්නවා.

ඒ වගේම මේ ගන්ධබ්බයො කිව්වමත් විවිධාකාරයි. විනිවිඳ පේන දුමාරයක් වගේ, තෙල් වගේ ගන්ධබ්බයො ඉන්නවා. නිකං ගුලි වගේ එවුනුත් ඉන්නවා. ඒ අයගෙ අතපය, ඇඟපත මුකුත් පේන්න නෑ. නිකං ගුලියක් විතරයි. පෙළක් අය වතුර බොන්න ඕන වුනාම තෙත ගතිය තියෙන තැනකට ඇදිල යනවා. ඇදල ගිහින් තෙත් වෙනවා. ඒ විදිහට තමයි වතුර ගන්නෙ. ඒ වගේම කන්න ඕන වුනාම කෑම තියෙන තැනකට ඇදල ගිහින් ඒකෙ ඕජස ගන්ධබ්බ ශරීරයට උරා ගන්නවා. ඊළඟට අතපය, අඟපසඟ හොඳට පැහැදිලිව පේන්න තියෙන තවත් කොටසක් ඉන්නවා. ඒ වගේම තිරිසන් ගන්ධබ්බයො වෙනම ඉන්නවා. මිනිස් ගන්ධබ්බයෙක් ඒ ලෝකෙදිම තිරිසන් බවට පරිවර්තනය වෙන්න එනවනම්, මිනිස් තිරිසන් කොටස් දෙකෙන්ම මිශ්‍ර වෙච්ච ගන්ධබ්බ කයක් තමයි තියෙන්නෙ.

උදාහරණ විදියට මිනිස් ගන්ධබ්බයෙක් බල්ලෙක් වෙන්න ඒ ලෝකෙදි පරිවර්තනය පටන් ගත්තොත්, ඒ ගන්ධබ්බ ලෝකෙදි බල්ල විදියට පරිවර්තනය වෙන්න ආසන්න කාලයක් එනකොට, අර සූක්ෂම කර්මජ කයේ කොටසක් බලු වෙලා කොටසක් මිනිස් වශයෙන් පිහිටනවා. ඒ කියන්නෙ මිනිස් ඇඟ, බලු ඔළුව. ඒ වගේම කපුටෙක් වෙන්න ඉන්න කෙනෙක් නම් ඔළුව කපුටු විදියටත්, ඇඟ මිනිස් විදියටත් පිහිටනවා. මේ විදියෙ විවිධාකාර කොටස් ඉන්නවා. ඒ කියන්නෙ පරිවර්තනය වේගෙන ගිහින් අවසානයේ ඒ මට්ටමින් ඒ රූපය දරන්න බැරි වෙන කොට, එක පාරටම නින්ද ගිහින් ඇහැරුනා වගේ පරිවර්තනය වෙලා අලුත් තත්ත්වයකට පත් වෙනවා. ඒ ටිකට බලු ශරීරයක් හැදිල. ඊළඟට ඒ හිටපු මිනිස් භවයෙන් චුත වෙලා බලු පටිසන්ධියක් ඇති වෙනවා. අන්තිම මොහොතෙ විශාල පරිවර්තනයක් සිද්ධ වෙනවා. එතකොට බලු ගතියක් එනවා.

මේ විදියට හරක් ඔළුව තියෙන මිනිස් ගන්ධබ්බයොත් ඉන්නවා. ඒ කියන්නෙ තවම පරිවර්තනය වෙලා නෑ. පරිවර්තනය වෙන්න ඔන්න මෙන්න. ගන්ධබ්බ ලෝකෙ එහෙම ඉඳල අන්තිමට කොයි මොහොතක හරි චුත වෙලා පටිසන්ධි වෙන වෙලාවට එකපාරටම ඇදගෙන වැටිල නැගිටල බලන කොට හරක් ගන්ධබ්බයෙක් විදියට ඒ ලෝකෙදිම පරිවර්තනය වෙලා ඉවරයි. චුත වෙන අවස්ථාවෙදි නිකං එක පාරටම ඇද ගෙන වැටුණ වගෙයි. එතකොට හරක් ඇඟත් එක්කම සම්පූර්ණයෙන් පරිවර්තනය වෙලා හරක් ගන්ධබ්බය නැගිටිනවා. ඒ හරක් ගන්ධබ්බයගෙ සුදු කළු තිබුණ නම්, පුල්ලි තිබුණ නම් හරක් පැටියෙක් විදියට වැස්සියගෙ බඩෙන් උපදින කොටත් ඒ විදියටම තමයි කයේ ස්වරූපය තියෙන්නෙ. බඩට ගිහින් උපදින එකා පොඩි එකා වගු පැටිය වෙලා උපදිනවා. නමුත් අර ගන්ධබ්බ කයේ තියෙන විදියටම හැඩ රුව අරගෙන ලොකු මහත් වෙනවා. මේ විදියට මිනිස් ගන්ධබ්බයො බලු, කපුටු, හරක් වගේ තත්ත්වයන්ට පරිවර්තනය වුනාට, ඒ වගේ සත්ව ගන්ධබ්බ අවස්ථාවන් මිනිස් ගන්ධබ්බයො බවට පරිවර්තනය වෙන අවස්ථා බොහොම අඩුයි. **වැඩිපුරම තියෙන්නෙ මිනිස් ගන්ධබ්බයො තිරිසන් බවට පරිවර්තනය වෙන අවස්ථා.** බල්ලො, බළල්ලු, කුකුල්ලු වෙන අවස්ථා බොහෝ කොටම තියෙනවා.

කුකුල් වෙන්න ඉන්න මිනිස් ගන්ධබ්බයින්ගෙ කුකුල් ඔළුවයි, කරමලෙයි තියෙනවා. එතකොට බෙල්ලෙන් උඩ තනිකරම කරමලෙත් එක්ක කුකුල් රුව, ඇඟ කොටස මිනිස්. ඔහොම ඉඳල එක පාරටම ගැස්සීමක් වගේ ඇවිත් ☞

අහකට දුවන කොට තටුත් එක්ක කුකුල් ගන්ධබ්බය විදියට පිට වෙලා මිනිස් කය කොටස අතුරුදන් වෙනවා. ඊළඟට ඒ ගන්ධබ්බය කර්ම ශක්තියෙන්ම කුකුල් කොටුවක් දිහාවට ඇදිල යනවා. ඊට පස්සෙ තමයි බිත්තරයකට සම්බන්ධ වෙන්නෙ.

ඒ වගේම මෙතනදි මේ පරිවර්තන සිද්ධ වෙන තවත් ක්‍රමයක් තියෙනවා. ඒක මනුස්සය ජීවත් වෙලා ඉඳෙද්දි මැරිල චුත වෙන්න කිට්ටුව සිද්ධ වෙන දෙයක්. ඒ කියන්නෙ මනුස්සය මැරිල චුත වෙන්න ආසන්න වෙන කොට කුකුල් ගතිරුව එනවා. ජීවත් වෙලා ඉඳෙද්දි මිනිස් මස් ලේ කයට ඒ ගති රුව ආවෙ නැති වුණාට කුකුල් සංඛාර වඩන කොට සූක්ෂම කයට ඒ ගතිරුව එනවා. සංඛාර වඩන කොට ඒ කුකුල් ගති රුව චිත්තජ කය විදියට තමයි ඉස්සෙල්ලම හැදෙන්නෙ. ඒ කියන්නෙ කුකුල් ගති රුව මනුස්සයගෙ හිතට ඇදිල එනවා. චුත වෙලා පටිසන්ධියේදි තමයි ඒක කර්මජ කය බවට පත් වෙන්නෙ. ඊළඟට මනුස්සය මැරෙන කොටම චුති පටිසන්ධි වෙලා කුකුල් ගන්ධබ්බයෙක් විදිහට පිට වෙනවා. එතකොට අර කලින් කිව්ව විදියට මනුස්සය මළාට පස්සෙ ගන්ධබ්බ ලෝකෙ ඉඳගෙනම සිද්ධ වෙන පරිවර්තනයි, මැරෙන්න ඉස්සෙල්ල මනුස්සයගෙ කර්මජ කය තිරිසන් බවට පත් වෙලා තිරිසන් ගන්ධබ්බයෙක් විදියට පිට වෙලා යන ක්‍රමයයි මේ දෙවිදිහටම සිද්ධ වෙනවා.

ඉතින් අනිත් සත්තුත් ඔය විදියටම තමයි චුති-පටිසන්ධිය අරන් උපදින්නෙ. ඒක හරි විචිත්‍ර දෙයක්. මේ සත්ව විෂය කියන එක අචින්ත්‍යයි. බලල කියල නිම කරන්න බෑ. විචිත්‍ර කිව්වෙ ඒකයි. ඒ වගේම මේ තිරිසන් ඇතුළු මුළු සත්ව සංහතියෙම ගන්ධබ්බ ලෝකෙ මහ පුදුමාකාර දෙයක්. පරලොව කියන්නෙ ඔීකට තමයි. එහෙම නැතිව ගිහින් උපදින අත්බැව නෙවෙයි. උපදින අත්බැව කියන්නෙ මෙලොව. මෙලොවින් පරලොවට යනවා, පරලොවින් මෙලොවට එනවා කියන්නෙ ඔීකට තමයි. විවිධාකාර ස්වරූපයේ සත්ව කොටස්, අපේ මස් ලේ ඇහැට නොපෙනෙන ගන්ධබ්බ ලෝකෙදි ඒ ඒ අයගෙ කර්ම ශක්තියෙන්ම බල ගැන්වෙනවා. මේ ගන්ධබ්බ ලෝකෙ තමයි අන්තරාභවික කියල පටලගෙන තියෙන්නෙ. මේ ගැන පූර්ණ විස්තරයක් 24 වන කලාපයෙන් ඉදිරිපත් කළා.

ඒ වගේම කෙනෙකුට තවත් ගැටළුවක් එන්න පුළුවන්, පසුගිය කලාපයෙන් විස්තර කරපු විදියට මිනිස්සුන්ගෙ ශරීර උස මහත, ආයුස ආදී ලක්ෂණ වැඩි වෙන්න ගුණ ධර්ම බලපානව නම්, ඇයි ගෞතම බුදුන් වහන්සේ පහළ වුනාට පස්සෙ ඒ ගුණ ධර්ම තිබිලත් එහෙම වුනේ නැත්තෙ, ඇයි මෛත්‍රී බුදුන්ගෙ කාලෙදි විතරක් නැවත ඒ විදියට ආයුස, ශරීර උස මහත වැඩිවෙන්නෙ කියල. මෙතනදි මේ මනුස්සයින්ගෙ පරමායුස සහ ශරීර උස මහත කියන කාරණා රැල්ලක් වගේ ක්‍රමයකට තමයි ක්‍රියාත්මක වෙන්නෙ. ඒ කියන්නෙ මනුස්සයගෙ ආයුස අවුරුදු 10 ඉඳන් අසංඛයට යනකල් වැඩිවෙනවා. ශරීර උස මහතත් ඒත් එක්කම වැඩි වෙනවා. නැවතත් 10 දක්වා අඩු වෙනවා. ශරීර උස මහතත් ඒත් එක්කම අඩු වෙනවා. ඒ කියන්නෙ උපරිම ආයුස අසංඛයයි, අවමය අවුරුදු 10 යි. මේ කාලය තුළදි පරමායුස අවුරුදු 80,000 ත් 120 ත් අතර කාලවල තමයි ලොව්තුරා බුදුවරු පහළ වෙන්නෙ. පරමායුස ඊට වැඩි හෝ



අඩු කාලවලදි ලොව්තුරා බුදුවරු පහළ වෙන්නෙ නෑ. කාලය රැල්ලක් වගේ ඉස්සිලා නැවතත් පහත් වෙලා යන කොට අවුරුදු 80,000 ක් පරමායුස තියෙන කාලයක් එනවා. එතනින් අඩු වෙවී යන කාලයේ තමයි බුද්ධෝත්පාද කාලය එන්නෙ. එහෙම අඩු වෙවී පරමායුස 120 ට එනකල් කලින් කල ලෝකෙ බුදුවරු පහළ වෙනවා.

එතකොට බුදුවරයන් වහන්සේ නමක් පහළ වුනයි කියල මේ ක්‍රම රටාව, චක්‍රය වෙනස් වෙන්නෙ නෑ. ලොව්තුරා බුදු කෙනෙක් පහළ වුනාම ධර්මය අවබෝධ කරගන්න හේතු වාසනා තියෙන උදවිය ඒ වැඩේ කර ගන්නව මිසක් ලෝක චක්‍රය පරිවර්තනයට ඒක බලපාන්නෙ නෑ. ඒ ලෝක පරිවර්තනය තවත් ධර්මතාවයක්. ආයුස වැඩිවීගෙන යාමත්, අඩු වීගෙන යාමත්, ශරීර උස් මහත් වීමත්, කුඩා වීමත් කියන මේ කාරණා බුදුවරු පහළ වුනත් නැතත් සිද්ධ වෙනවා. මහා ප්‍රඥාවක් පහළ කරල නිවන් මග මතු කරල දෙන්න, අප්‍රමාණ සත්වයින් අතරින් හේතු වාසනා තියෙන සුළු පිරිසකට යහපත උදා කරල දෙන්න විතරයි බුදුවරු ලෝකෙට පහළ වෙන්නෙ. ඒක අති දුර්ලභ දෙයක්. ඒ හැර ස්වභාවික ලෝක පැවැත්මට බුදුවරුන්ගෙ පහළ වීම බලපාන්නෙ නෑ. බුදුවරු පහළ නොවන කල්පවලත් ඒ ලෝක පැවැත්ම ඒ විදියට තියෙනවා. උදාහරණ විදිහට පසුගිය මහා කල්ප 91 න් මහා කල්ප 3 ක් ඇතුලත තමයි අවසාන බුදුවරයන් වහන්සේලා 7 නමම පහළ වුනේ. ඉතිරි මහා කල්ප 88 ම බුද්ධ ශූන්‍ය කල්ප විදියට තමයි තිබිල තියෙන්නෙ. නමුත් ඒ බුද්ධ ශූන්‍ය කල්පවලත් මේ ලෝක ක්‍රම රටාවම තිබුණා. ඒකට බලපාන්නෙ ලෝක ධර්මතාවය.

ඒ කියන්නෙ යම්කිසි ආකාරයකින් ජනගහනය අධික ලෙස වැඩිවෙලා, කුඹී වගේ සත්ව කොටස් ගානට මනුස්සයො අසීමිතව වැඩි වෙන කාලයක් ආවොත්, පරිසරයෙ සම්පත් සීමිත වෙලා මිනිස්සු කුඩා වෙන්න පටන් ගන්නවා. ඒ වගේම මිනිස්සු සම්පත්වලට පොරකන්න ගිහින් දූෂ්‍ය වෙන කොට අර ගුණ ධර්ම හීන වෙලා ශරීරත්, ආයුසත් කුඩා වෙන්න පටන් ගන්නවා. එතකොට ජනගහනයත් වැඩියි. උදාහරණ විදියට බලු පැටවු, බළල් පැටවු පොඩි වුනාට උන් විශාල ප්‍රමාණයෙන් බිහි වෙනවා. ඒ වගේ ඒ කාලෙට මිනිස්සු පොඩි වුනාට ළමයි ගොඩක් වදනවා. එතකොට ජන ගහනය වැඩි වෙන කොට ලෝකෙ ඉඩ මදි වෙනවා. ඒ අතර සම්පත් හිඟ වෙනවා. අන්තිමට සම්පත්වලට ගහ මරා ගන්නවා. ක්‍රමයෙන් දූෂ්‍ය වෙන කොට මහා විනාශයක් සිද්ධ වෙනවා.

මේ විදියට ලෝකයේ සම්පත් හිඟ වෙලා විනාශයට බලපාන්නෙ මිනිස්සුන්ගෙ ක්‍රියා කලාපයමයි. මොකද සතෙකුට තියෙන්නෙ විපාක කයක් නිසා උන්ගෙ ආහාරය ලැබිච්ච හැටියට තමයි ගන්නෙ. ඒක සතාට කර්ම විපාකයෙන්ම ලැබෙනවා. ඒ නිසා සතුන්ට මිනිස්සුන්ට වගේ ලෝකයේ තියෙන ආහාර හිඟ වෙනවයි කියන්න අමාරුයි. නමුත් මනුස්සය එහෙම නෙවෙයි. උපක්‍රමශීලීත්වය නිසා ප්‍රයෝග යොදල අනුන්ගෙ ජීවත් කඩා වඩාගෙන ගසාගෙන කාල, අර බාගෙන කන වල ඉහගෙන කනව වගේ වැඩක් සිද්ධ කරනවා. ඒ

නිසා ආහාර හිඟ වෙනවා. ඒ හිඟවීම නිසා සතුන්ට වඩා මනුස්සයින්ට ආහාර අහේනියක් ඇති වෙනවා. මොකද සත්තු වගේ නෙවෙයි, මනුස්සයො තියෙන දෙයක් කාල ඉන්න සූදානම් නෑ. පංචකාමයට ලොල් වෙලා සුඛෝපභෝගී ආහාරම හොයනවා. නමුත් සතෙක් කර්ම විපාක ඉක්මවන්නෙ නැති නිසා, මනුස්සයින්ට වගේ උපක්‍රම නැති නිසා උන්ගෙ ආහාරය කොහෙන් හරි ලැබෙන විදියට ගන්නවා. එතකොට අර මුලින් සඳහන් කළ විදියට එක්තරා කාලෙක **ගුණමහන් තත්ත්වයෙන් මිනිස්සු බල්ලො ගානට වැටෙන කොට ආහාරවල රස ධාතුව උපරිමයෙන්ම පිරිහෙනවා. මිනිස්සු මිනිස්සු මරා ගන්නවා. එතකොට උපක්‍රමශීලීත්වයෙන් අනෙකා වනසල එකිනෙකා කා කොටා ගෙන සම්පත් ඩැහැගන්නවා. ඊළඟට ඒක පාපයක් බවට පත් වෙලා ආහාර හිඟ වෙන්න පටන් ගන්නවා.** එතකොට ආහාර අහේනියට බලපාන මූලිකයා මනුස්සයො මිසක් සත්තු නෙවෙයි. සශ්‍රීකත්වයටයි, විපත්තියටයි දෙකටම බලපාන්නෙ ප්‍රයෝග සම්පත්තිය හෝ ප්‍රයෝග විපත්තිය නිසා එන මනුස්සයින්ගෙ කල් ක්‍රියාව. ඒ කාරණය සතුන්ගෙ ආහාර හිඟ වෙන්නත් හේතු වෙනවා. දැන් මේ ක්‍රියාවලියට බුදුවරුන්ගෙ පහළ වීම සම්බන්ධයක් නෑ. හැබැයි ඔය අතර කාලෙම තමයි බුදුවරු පහළ වෙන්නෙත්. ධර්මය අවබෝධ කරගන්න සුදුසු පිරිසක් ඉන්නෙත් ඒ අතර කාලයේමයි.



ඒ කියන්නෙ ඉපදුනාට පස්සෙ පරමායුස අධික ලෙස වැඩිවෙලා, මරණය පේන්නෙ නැති තරම් කාලයකට ආයුස දික් වුනොත්, ජරා මරණවල ස්වභාවය පෙන්වන්න විදියක් නෑ. ඒක කිව්වට අවබෝධ කරගන්න බෑ, ඇත් දකින්න බෑ. ඒ වගේම පරමායුස අවුරුදු 120 ට වඩා අඩු කාලයක් ආවොත්, ජරා මරණ ගැන විග්‍රහ කරල දෙන්න, ඒ ගැන දැනුවත් වෙන්න, අවබෝධ කරගන්න කාලය මදි. මොකද මිනිස්සු ලෞකික කටයුතුවලට කාලය යෙදෙව්වම දහම් අවබෝධයකට හිත යොදවන්න තරම් කාලයක්, මානසිකත්වයක් නෑ. ඒ නිසා පරමායුස 120 න් පහළ කාලවල ලොව්තුරා බුදුවරු පහළ වෙන්නෙත් නෑ.

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, එතකොට දැනටමත් මනුස්සයින්ගෙ ආයුස අවුරුදු 80 - 70 කට විතර බැහැල තියෙන නිසා, දැන් එහෙනම් නිවන් දකින්නෙ කොහොමද කියල. නමුත් දැන් තියෙන්නෙ බුද්ධ ශාසනයක් පවතින බුද්ධෝත්පාද කාලයක් නිසා ඒ ගැටළුව මතු වෙන්නෙ නෑ. ඒ කියන්නෙ බුදුන් වහන්සේ බිහි වෙන කොට පරමායුස 120 ක් තිබිල ඒ බුද්ධ ශාසනයම තවම පවතිනවා. බුදු දහම තවමත් පවතිනවා. ඒ වගේම දැන් මේ මිනිස්සුන්ගෙ ආයුස සාමාන්‍යයෙන් අවුරුදු 80 - 70 කට විතර බොහෝ කොටම අඩු වෙලා තියෙන්නෙ අර කියපු ලෝක පරිණාමික ක්‍රියාවලියත් එක්ක සිද්ධ වෙන පාරම්පරික අඩුවීම නිසාම නෙවෙයි, ඒක මේ ආහාරයට ගන්න සිද්ධ වෙලා තියෙන වස විස ආදී ප්‍රවෘත්ති විපත්තියන් නිසා සිද්ධ වෙච්ච දෙයක්. නමුත් ඒ වස විසවලින් ඈත් වෙලා, පැරණි ක්‍රමයට ජීවත් වෙලා අදත් අවුරුදු 120 ක පරමායුස විඳින අය ඉන්නවා. ඒ කියන්නෙ තවමත් පරමායුස කියන එක අවුරුදු 120 සීමාවෙ පවතිනවා. එතකොට පරමායුස 120 ක් තියෙන එක්කෙනෙක් හරි ඉන්නවයි කියන්නෙ, මේ කාල සීමාව තවමත් පරමායුස 120 කාල සීමාව.

දැන් මේ විදියට ශරීර පොඩි වෙන්නෙත් ඒ පරමායුස අනුව. ධර්මතාවයෙන්ම මිනිස්සුන්ගෙ දූෂ්‍ය ගති වැඩි වෙලා දස අකුසල් වැඩිවෙන කොට ශරීරත් පුංචි වෙනවා. බුදුවරු පහළ වුනත් නැතත් ධර්මතාවය ඒකයි. ඔය සිද්ධිය වෙන අතරෙම තමයි දහම් අවබෝධයට හේතු වාසනා තියෙන පිරිස් පහළ වෙන්නෙත්. ඒ නිසා මේ සිද්ධිය වෙන අතරෙම බුදුවරුත් පහළ වෙනවා. ඉතින් මේ ක්‍රියාවලිය රැල්ලක් වගේ ඉස්සෙනවා, පහත් වෙනවා.

එතකොට මේ ඊර්ෂ්‍යා, ක්‍රෝධ, මාන, වෛරය ආදී දස අකුසල්වලට ගෝචර වෙච්ච පරපුරක් බිහි වෙන කොට ඒ පරම්පරාවට සම්බන්ධ අනෙක් පිරිසටත් ක්‍රමයෙන් ආයුස අඩු වෙලා ශරීර පුංචි වෙන්න සිද්ධ වෙනවා. හැබැයි ඒ අතරෙම බෝසත්වරු වගේ ගුණධර්ම වඩන අයත් උපදිනවා. නමුත් කරන්න දෙයක් නෑ. ඒ වගේ බෝසත්වරු ගුණධර්ම පුරාගෙන පුද්ගලිකව හොඳට හිටිය කියල, ඒ එක්කෙනෙක්ගෙ දෙන්නෙක්ගෙ හොඳ ගති ගුණවලට ශරීර උස් මහත් කරන්න, පරමායුස වැඩි කරන්න බෑ. මොකද පරපුරෙන්ම ආපු පොදු ක්‍රමයක් තියෙනවා. ඒ පොදු ක්‍රමය එතනදිත් බලපානවා. ඒ නිසා අනික් පැත්තෙන් කෙනෙක්ගෙ ශරීර පුංචි වෙච්ච පළියට ඒ පුද්ගලයා ඊර්ෂ්‍යා, ක්‍රෝධ, මාන ආදී දස අකුසල්වලින් පිරිච්ච කෙනෙක් කියල එහෙම මනින්න බෑ. හැබැයි ඒ මුළු පරපුරටම ශරීර පුංචි වෙලා පරමායුස අඩු වෙන්නත් සිද්ධ වෙනවා. මොකද දස අකුසලයට පත් වෙලා පාරම්පරිකව ආපු ක්‍රමය නිසා. එක ගොනෙක් වැට කැඩුවම ගොන්නු ඔක්කොටම ගුටි කන්න වෙනව වගේ දෙයක් මෙතනදිත් සිද්ධ වෙනවා. ඒ නිසා එදා තිබ්ච්ච විශාල ශරීර ස්වභාවයන් අද නෑ. ඉතින් ඔය අතරෙ පෙරුම් පුරන, ගුණ වඩන බෝසත්වරුත් 1 - 2% ක් ඉන්න පුළුවන්. නමුත් අර ඉතිරි 98 - 99% ක් මිනිස්සුන්ට තියෙන වෙනස ඒකෙන් නැති කරන්න බෑ. ඒ තත්ත්වයට වහල් වෙලා යන්න සිද්ධ වෙනවා. ඒ ගති ලක්ෂණවලට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. ඒ නිසා 99% ක් නරක පැත්තට හිටියොත් 1% ක හොඳ පැත්තෙ ඉඳල ඒ වෙනස නැති කරන්න බෑ. ඒ නරක ප්‍රතිඵලයට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. ඒ වගේම තමයි 99% ක් හොඳ පැත්තෙ හිටියොත් ඉතිරි 1% පිරිසටත් හොඳ ප්‍රතිඵල බුක්ති විඳින්න ලැබෙනවා. ඒ 99% ක හොඳ අයගෙ බලය, අර 1% ක නරක අයගෙන් යට කරන්න බෑ. නරක අයටත් ඒ කාලෙට ප්‍රයෝග සම්පත්තිය, ගති සම්පත්තිය, කාල සම්පත්තිය, උපධි සම්පත්තිය කියන මේ සම්පත්ති 4 ලබන්න හේතු වෙනවා. විපත්තියත් ඒ වගේමයි.

එතකොට දැන් මේ වර්තමානයේ යන විදියට මෙහෙම ගිහින් පරමායුස අවුරුදු 10 ට අඩු වෙලා, ශරීර උස මහතින් අඩු වෙලා දින 7 ක මුරුගසන් වරුසාවක් වහින කාලයක් එනව කියල ධර්මයේ සඳහන් වෙනවා. මේ මුරුගසන් ☞

වරුසාවක් කියන්නෙත් සතුන් එකිනෙකා මරාගෙන කන, සැඩ පරුෂ ගති ලක්ෂණ ඇති කරන වරුසාවක් කියල තමයි කියන්නෙ. ඒ කාරණය වැස්සට උපමා කරල තියෙනවා. ඒ කියන්නෙ ඒ වැස්සට තෙමිච්ච මිනිස්සු එකිනෙකාට එකිනෙකා මුරුගයො වගේ පේන්න පටන් ගන්නවලු. එක්කෙනෙකුට තමන් කොටියෙක් වගේ පේනවලු, අනෙකව මුවෙක් වගේ පේනවලු. ඒ වගේම ඒ කෙනාට තමන් කොටියෙක් වගේ පේන කොට අනෙකව මුවෙක් වගේ පේනවලු. කොටියෙන් කියනව නම්, තමන්ට තමන් කොටියෙක් වගේ පේනවා, අනෙකා මුවෙක් වගේ පේනවා. එතකොට දෙන්නට දෙන්න මරාගන්න පනිනවා. ඊට පස්සෙ පෙති ගහගෙන කපා කොට ගෙන දෙන්නම මැරෙනවා. මේ විදියට ඒ වැස්සට තෙමිච්ච අය ඔක්කොම මරා ගන්නවා.

පැරණි කතාවක තියෙන විදියට මේ මුරුගසන් වරුසාව ගැන සඳහන් වෙන්නෙ මෙහෙමයි. ඒ වගේ මුරුගසන් වරුසාවක් වහින්න පෙර, දේවතාවො කෙස් කඩාගෙන අඬාගෙන මේ විදියට කියාගෙන යනවා. මෙන්න මෙහෙම විනාසයක් වෙනව ඉක්මන් කරල ගල් ගෙවල්වලට යන්න, නොතෙමෙන තැන්වලට යන්න, තෙමෙන්න එපා පොඩ්ඩක් හරි තෙමුනොත් එහෙම එකිනෙකාට මුරුගයො වගේ පෙනිල ඔක්කොම කා කොටා ගෙන මැරෙනවා. දැන් මෙහෙම කියාගෙන යන කොට ඕක විශ්වාස කරන්නෙ කලාතුරකින් කෙනෙක්. අපි ඒක විශ්වාස කරමු කියල ඒ ස්වල්ප දෙනා බොහොම ආරක්ෂා සහිත තැන්වලට යනවා. ගිහින් එළියට බහින්නෙ නැතිව ඒ මුරුගසන් වරුසාව වහින දින 7 ම, ඇතුලට වෙලා ඉන්නවා. ඒ දින 7 ගණන් ගන්නෙ නැතිව තෙමිච්ච සියලු දෙනාම අර විදියට විකෘති වෙලා එකිනෙකාට එකිනෙකා කපා කොටා ගෙන මරාගන්නවා. ඊට පස්සෙ ඒ දින 7 ඉවර වෙලා, මොකද වෙලා තියෙන්නෙ කියල බලන්න අර සැඟවිලා ඉතිරි වෙච්ච පිරිස එළියට එනවා. බොහොම කලාතුරකින් කෙනෙක් තමයි ඒ විදියට ඉතිරි වෙනව කියන්නෙ. ඇවිත් බලන කොට අර සියලු දෙනාම වැනසිලා. අනේ මේ අපේ විනාසය අපිම අපරාධ කරගත්ත නිසානෙ කියල විශාල වික්ෂෝපයකට පත් වෙලා, දැන් ඉතින් අපිට කවුද ඉන්නෙ කියල හොයන කොට ගමකට එක්කෙනෙක්වත් ඉතිරි වෙලා නෑ.

ඊට පස්සෙ කොහොම හරි හොයා ගෙන මේ ඉතිරි වෙච්ච සුළු පිරිස එක රොත්තක් විදියට එකතු වෙනවා. ඒ අය ආරක්ෂා වෙලා කතා කරගෙන, අපි මෙච්චර කල් ඇති කරගත්තු දූෂිත තත්ත්වය නිසයි මෙහෙම විනාශයක් වුනේ, මීට පස්සෙ අපි අවැඩ අසාධාරණ නොකර සමගියෙන් සමාදානයෙන් ජීවත් වෙමු කියල, ඒ ඉතිරි වෙච්ච පුංචි පිරිස සමගි වෙනවා. ඊට පස්සෙ දස අකුසල් නොකර ඉමු කියල ඒ දූෂිත වැඩ පිළිවෙල එකින් එක අත් හරිනවා. එහෙම අත් හරින කොට නැවතත් අවුරුදු 10 ට බැහැල තිබිච්ච පරමායුස අවුරුදු 20 - 30 - 50 ... ආදී වශයෙන් වැඩි වෙන්න පටන් ගන්නවා. ඒත් එක්කම ශරීරත් උස මහතින් වැඩි වෙන්න පටන් ගන්නවා. මුරුගසන් වරුසාවක් එක්ක ආපසු පරිවර්තනය වෙනවයි කියන්නෙ ඒ විදියට තමයි. එතකොට නැවතත් පරමායුස, ශරීර උස මහත ක්‍රමයෙන් වැඩි වෙන්නෙ බුදුවරු පහළ වෙන කාලෙක නෙවෙයි. අබුද්ධෝත්පාද කාලයක් තුලමයි ඒ වැඩිවීම සිද්ධ වෙන්නෙත්. එහෙම වැඩිවේගෙන ගිහින් පරමායුස අවුරුදු 80,000 කට වැඩි වෙලා තියෙන කොටත් අබුද්ධෝත්පාද කාලයක්. ඒ කාලෙ ආවට පස්සෙ තමයි ජම්බුද්වීපයේ මධ්‍ය දේශයේ කේතුමතී කියන රාජධානියේ මෛත්‍රී බෝසතාණන් වහන්සේ පහළ වෙලා ලොවුතුරා බුද්ධත්වයට පත්වෙනවා කියන්නෙ.

දැන් මේ වගේ වැස්සකින් එහෙම බලපෑමක් වෙන්න පුළුවන් කියන කාරණය තේරුම් ගන්න අදත් උදාහරණ තියෙනවා. ඒ වගේ අම්ල වැසි, රතු වැසි, නිල් වැසි ... ආදී වශයෙන් විවිධ වැසි වර්ග අදත් වහිනවා. විශේෂයෙන් අම්ල වැසි වැස්සම වගා කටයුතු විනාශ වෙලා, ජලය දූෂිත වෙලා මිනිස්සුන්ට නොයෙක් ලෙඩ රෝග ඇති වෙනවා. ඒ වගේ වස විස සහිත වැසි විවිධ කාලවලදි ඇති වෙන්න පුළුවන්. ඒ වගේම සමහර විට මත් වෙන වැස්සක් වැටුනොත්, ඒකට තෙමුනම ශරීරවලට ඒ මත් ගතිය උරාගෙන, මිනිස්සුන්ගෙ මනස විකෘති වෙලා එකිනෙකා කා කොටා ගන්න තත්ත්වයක් ඇති වෙන්න පුළුවන්. සමහර විට එහෙම වුනොත් අර එක්තරා මත් පෙත්තක් බිව්වම ඇගේ ලේ බලන්න හිතෙනව වගේ, එකිනෙකා මරා ගන්න පුළුවන්. ඒක බොරුවක් වෙන්න බෑ. ඒ වගේම ඒ මුරුගසන් වරුසාව වැස්සක් නෙවෙයි කියල කියන්නත් අපිට බෑ. මොකද දහමෙ සඳහන් වෙන්නෙත් මුරුගසන් වරුසාව කියල එකක් ගැන. අදටත් සිද්ධ වෙන සිදුවීම්වලින් අපිට ඒ කාරණය පිළිගන්න පුළුවන්. යම්කිසි විදියකින් එන විස කිරණ එහෙම වැදුනොත්, මිනිස්සුන්ගෙ මනස විකෘති වෙලා එකිනෙකා මරාගන්න පුළුවන්. ඒ වගේම ඒව නොවැදිච්ච අය අර විදියට බේරෙන්නත් පුළුවන්.

ඉතින් මේ වගේ දේවල් සිද්ධ වෙන්නෙත් නිකං නෙවෙයි. මනුස්සයින්ගෙ ක්‍රියා කලාපවල ප්‍රතිඵලයක් විදියට ඒ දූෂිත තත්ත්වයන් මේ විශ්වයට, සොබා දහමට දරාගන්න බැරි වුනාම, පටිච්ච සමුප්පාදය අනුව ඒක ක්‍රියාත්මක වෙලා ඒ හේතුවේ ඵලයක් විදියට, භුමරංගයක් වගේ කැරකිලා නැවතත් මනුස්සයින් ඇතුලු සත්ව සංහතියටම ඒ වගේ විනාශකාරී දේවල් එන්න පුළුවන්.

ඒ වගේම මේ විදියට පරමායුස 10 දක්වා අඩු වෙලා නැවතත් 80,000 දක්වා වැඩි වේගෙන ගිහින්, මෛත්‍රී බුදුන් වහන්සේ පහළ වෙන කාලය සම්බන්ධයෙන් දළ අදහසක් ලබා ගන්න පුළුවන් ක්‍රමයකුත් තියෙනවා. මෛත්‍රී බෝසතාණන් වහන්සේ දැන් ඉන්න තුසිත දෙව්ලොව ඉපදුනේ මේ ගෞතම බුද්ධ ශාසනයෙදි ගෞතම බුදුන් වහන්සේගෙන් විවරණ ගත්තට පස්සෙ. ඊළඟට උන් වහන්සේ නැවතත් මනුස්ස ලෝකෙ අවසන් අත්බැව වශයෙන් උපදින්නෙ ලොව්තුරා බුදුවෙන්න. එතකල් අතර මග උපතක් නෑ. මොකද බුදුවරයන් වහන්සේලාට හිමි ධර්මතාවයක් තියෙනවා. ඒ අනුව බුදු වෙන්න පෙර තුසිත දෙව්ලොව අත් බැවට හිමි සම්පූර්ණ ආයුසම ගෙවල මිසක් එයින් මෙහා අඩු වයසින් චුත වෙන්නෙ නෑ. එතකොට තුසිත දෙව්ලොව ආයුස කියන්නෙ අවුරුදු පනස් හත් කෝටි හැට ලක්ෂයක්. අර කලින් සඳහන් කරපු විදියට පරමායුස 10 ට අඩු වෙලා නැවත 80,000 ට වැඩි වුනාට පස්සෙ තමයි මෛත්‍රී බුදුන් වහන්සේ පහළ වෙන්නෙ. එහෙනම් තවත් අවුරුදු පනස් හත් කෝටි හැට ලක්ෂයක් ගෙවුනම තමයි ඒ කාලය එන්නෙ. ඔය කියන පරිවර්තනයට එච්චර කාලයක් ගත වෙනවා. මෛත්‍රී බුදුන් වහන්සේ පහළ වෙනකල් නිවන් දකින්න බලාගෙන ඉන්න උදවියට, සංසාරයේ තියෙන භයානකත්වය තේරුම් ගන්න මේ කාරණයත් දැනගැනීම වැදගත්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්...

**18 වන කොටස**

මේ ලිපි පෙළ යටතේ අද විග්‍රහ කරන්නෙ අනවතප්ත විල ගැන. මේකත් අද වෙන කොට නිකං සාහිත්‍ය කතාවක් විදියට කියනව මිසක් විස්තර කිසිවක් කතා වෙන්නෙ නෑ. අනුවත ආප්ත කියන එක තමයි අනවතප්ත කියල කිව්වෙ. ආප්ත කිව්වෙ ජල කඳ. ආපෝ, තේජෝ ... ආදී වශයෙන් කියන කොට ආපෝ කියන්නෙ ජලයට. අනුවතක් කියන්නෙ ජලයේ සේයා රුව පෙන්වනවයි කියන එක. හරියට කණ්ණාඩියක් ඉස්සරහට ගියාම අපේ සේයාව වැටෙනව වගේ. ඒ කියන්නෙ හිමාල කන්ද ගත්තොත් ඒකෙ එක්තරා පැත්තක මුදුනෙ ඉඳන් පහළට කණ්ණාඩියක් වගේ තනි ගල් පතුරක් පිහිටල තියෙනවා. ඒකට අර පසුගිය කලාපයේ විස්තර කරපු නිල් මුහුදෙ හිම වළාකුළුවලින් දියවෙලා එන ජල වාෂ්පය වැදිල ටික ටික පහළට ගලාගෙන එනවා. ඒක බොහොම හිමින් දිය සීරාවක් වගේ මේ ගල් පතුර දිගේ පහළට ගලාගෙන ඇවිත්, පහළ මට්ටමේදි එකතු වෙන එක්තරා ජල ප්‍රමාණයක් තියෙනවා. ඒ ජලය අති පිරිසිදුයි. කිසිම දෙයක් කවලම් වෙලා නෑ. උෂ්ණත්වය නිසා වළාකුළෙන් ඉස්සෙල්ලම දියවෙලා එන ජලය. අපේ මේ සාමාන්‍ය වැව්, පොකුණු, ළිං වගේ වටින් පිටින් එන දූවිලි විෂබීජ ආදිය මගින් අපවිත්‍ර වීමක් සිද්ධ වෙන්නෙ නෑ. ඒ නිසා ඒකෙ කිසිම වසක් විසක් නෑ. ඒ වගේම මේ කියන තැනට සතෙකුටවත් ළඟා වෙන්න බෑ. ඒ නිසා සතෙක් හොට ගහල ඉඳුල් කරලත් නෑ. දැන් මේ විදියට එන ජල ප්‍රමාණය විලකට එකතු වෙනවා. ඒක හරියට කණ්ණාඩියක් වගේ දිලිසෙනවා. මේ එකතු වෙන ජලයේ ඡායාව තමයි අර බෑවුම් ගල් පතුරෙ වැදිල දිලිසි දිලිසි තියෙන්නෙ. ඒ විල ළඟට ගියාම විලේ තියෙන ජල සටහන කණ්ණාඩියක් අල්ලපු වගේ අර ගල් පතුරෙන් පේන්න පටන් ගන්නවා. අනුවතක් කිව්වෙ ඒකයි. ඒ කියන්නෙ ජලයට අනුකූල වත. අනවත + ආප්ත - අනවතප්ත. ජලයේ වත අනුකූලව පෙන්නුම් කරනවා.

දැන් මේ වතුර පාර ගලාගෙන ඇවිත් ඉස්සෙල්ලම එකතු වෙන තැන තමයි ප්‍රධාන විල තියෙන්නෙ. ඊට පස්සෙ ඒකෙන් තව තවත් පහළට ගලාගෙන ඇවිත් තවත් විල් හැදෙනවා. ඒ විදියට හැදිච්ච තවත් පරිවාර විල් 6 ක් තියෙනවා. එතකොට මේ ඉස්සෙල්ලම එන වතුර එකතු වෙන තැන තමයි බුදු, පසේ බුදුවරයන් වහන්සේලාට හිමි ස්ථානය. සියලු බුදුවරයන් වහන්සේලා ඒ ස්ථානයෙන් ජලය පරිහරණය කරනවා. අභිඥලාභී රහතන් වහන්සේලාටත් එතනට යන්න පුළුවන්. නමුත් උන් වහන්සේලා එතන ජලය පරිහරණය කරන්නෙ නෑ.

බුදුන් වහන්සේට පා දෝවනය කරන්න පැන් ටිකක් ඉල්ලා හිටපු වෙලාවෙ, සුමන සාමණේරයන් වහන්සේ තමයි අනවතප්ත විලේ ඔය කියන ස්ථානයෙන් ජලය ගෙනත් දුන්නෙ. ඒ තමයි අති පිරිසිදු අනවතප්ත විලේ පළමු ජල කඳ. ඊළඟට තවත් ටිකක් පහළට යන කොට රහතන් වහන්සේලාට, ඍෂිවරුන්ට, සිද්ධ විද්‍යාධරයන්ට ආදී වශයෙන් අනුපූර්ව ක්‍රමයකට කට්ටෙන් කට්ට වෙන් වෙච්ච විල් ප්‍රදේශ තියෙනවා. ඍද්ධි, අභිඥා බල තියෙන විදියට ඒ ඒ අයට ඒ ඒ ආකාරයෙන් ඒ විල් ප්‍රදේශ වෙන් වෙනවා. ඒ අය ඒ විදියට වෙන් වෙච්ච ස්ථාන පරිහරණය කරනවා. වතාවක් අනුරුද්ධ මහරහතන් වහන්සේට බඩේ අමාරුවක් හැදිච්ච වෙලාවක ඒකට ඖෂධයක් විදියට සුමන සාමණේරයන් වහන්සේ තමයි අභිඥා බලයෙන් ගිහින් මේ අනවතප්ත විලෙන් ජලය ගෙනත් දුන්නෙ.

මහාමේරු පර්වතය පාමුල තියෙන නාග ලෝකයේ පතුලත් මේ ස්ථානයට සම්බන්ධ නිසා නාගයො හැම වෙලේම මේ ස්ථානයට අරක් ගෙන ඉන්නවා. ඒ නිසා තමයි අර සුමන සාමණේරයන් වහන්සේ මුල් අවස්ථාවෙ ජලය ගන්න ඍද්ධි බලෙන් වැඩියම එතන හිටපු විසාල නාග රාජයෙක් ඒ අනවතප්ත විල වහගත්තයි කියන්නෙ. නමුත් දෙවනි අවස්ථාවෙ වැඩිය වෙලාවෙ උන් වහන්සේගෙ ශක්තිය ගැන, ගුණය ගැන පැහැදිලා ඇප උපස්ථාන කරල ජලය ගන්න ඉඩ ප්‍රස්ථාව ලබා දුන්නා. හැබැයි නාගයො එතන ඉඳන් ඒක පාලනය කළාට ඉඳුල් කරන්නෙ, පරිහරණය කරන්නෙ නෑ. එතකොට අර කලින්, සතෙකුටවත් ළඟා වෙන්න බෑ කිව්වෙ, අපි මේ ලෝකෙ දකින සාමාන්‍ය තිරිසන් සතුන්ට ළඟා වෙන්න බෑ කියන එක.

දැන් මේ ''අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්'' ලිපි පෙළ යටතේ මෙතෙක් කලක් මේ සක්වලේ පිහිටල තියෙන දිව්‍ය, බ්‍රහ්ම, මනුස්ස, සතර අපා ආදී ලෝක තල තිස් එකේ ස්වභාවය සහ පිහිටීම ගැනත්, ලෝකාන්තරික නරකය ගැනත්, සක්වල එළිය කරන ඉරහඳ තාරකා ආදිය ගැනත්, ඒ වගේම මනුස්සයින්ගෙ වාසස්ථාන වූ සතර මහා දිවයින් ගැනත්, ඒ වටා පොදුවේ පිහිටල තියෙන සතර මහා සාගර, සප්ත මහා සාගර, සප්ත මහා කඳු ආදිය ගැනත්, තවත් විවිධ සත්ව කොටස් හා ඒ සම්බන්ධ විවිධ විෂයන් ගැනත් විශාල විග්‍රහයක් ඉදිරිපත් කළා. ඉතින් මේව ගැන තවත් විග්‍රහ කරනව නම්, ඒ වගේ දේවල් කියල නිම කරන්න බෑ. මොකද මේ ලෝක විෂය, සත්ව විෂය කියන මේවා අචින්ත්‍යයි. ඒ නිසාම ඒ සියල්ලම ගෝචර වෙන්නෙ ලොව්තුරා බුදුන් වහන්සේ නමකට පමණයි. ඊට මෙහා ඉන්න අයට වුනත් ඒ ඒ අයගෙ මට්ටම්වලින් ගෝචර වෙන ප්‍රමාණය එකින් එක විග්‍රහ කරල කියන්න ගියොත් ඒත් කියල නිම කරන්න බෑ. නිකං කාලය නාස්ති වෙන එක විතරයි වෙන්නෙ. ඉතින් මේ පොදුවේ එක සක්වලක පිහිටීම සහ ස්වභාවය මෙහෙම කෙටියෙන් විග්‍රහ කළාට මේ වගේ සක්වල දස දහස් ගණනින්, කෝටි සංඛ්‍යාතයෙන්, අනන්ත අප්‍රමාණයෙන් තියෙනවා. ඒ නිසා මේ අනන්ත අප්‍රමාණ සක්වල ස්වභාවය කවද කොහොම හොයල ඉවර කරන්නද ? කියල නිම කරන්නද ? ඒක නිකං නිශ්ඵල වෙහෙසක්, නිශ්ඵල කාර්යක් විතරයි. නමුත් මේ විග්‍රහ කරපු එක සක්වලක තියෙන පොදු ස්වභාවයම තමයි අනික් සක්වලවල්වලත් තියෙන්නෙ.

අපි මේ ඉන්න මගුල් සක්වලටම තවත් සක්වල 9999 ක් අයිති වෙනවා. ඒ කියන්නෙ මේ දස දහසක් සක්වලම පොදුවේ මගුල් සක්වලක්. අපි මේ ඉන්නෙ ඒ මගුල් සක්වල මධ්‍යයේ තියෙන සක්වලේ. මොකද **මගුල් සක්වලක් කියන්නෙ නිවන කියන මංගල්‍යය ලැබෙනවා කියන අර්ථයෙන්**. එතකොට මේ මගුල් සක්වලට අයිති දස දහසක් සක්වලම ඉන්න බ්‍රහ්මයො, දේවතාවො බුදුන් වහන්සේගෙන් බණ අහනවා. එහෙම බණ අහල අනාගාමී වෙලා යන අය ඒ ඒ සක්වලට හිමි පංච සුද්ධාවාසවල ගිහින් උපදිනවා. එතකොට මේ පංචසුද්ධාවාස කියන ඒවා අපි ඉන්න සක්වලේ විතරක් නෙවෙයි, මේ දස දහසක් සක්වලේම පිහිටිනවා. ඒ වගේම මේ හැම දස දහසක් සක්වලකටම උතුරු කුරු දිවයින් 10000 ක්, අපර ගෝයාන 10000 ක්, පූර්වවිදේහ 10000 ක්, ජම්බුද්වීප 10000 ක් වශයෙන් මනුස්සයො ඉන්න දිවයින් හතර බැගින් අනිත් හැම සක්වලකමත් පිහිටනවා. ඒ වගේම ඒ හැම එකකටම මහ මෙරක් බැගින් පිහිටනවා. ඒ කියන්නෙ දස දහසක් සක්වලට මහ මෙර දස දහසක්. හැබැයි ඒවා හඳුන්වන නම් වෙනස් වෙන්න පුළුවන්. නමුත් පොදුවේ ස්වභාවය එකයි. ඊට අමතරව මේ මගුල් සක්වලට අයිති දස දහසෙන් අපි ඉන්න මේ සක්වලේ තමයි ලොව්තුරා බුදුවරු පහළ වෙන්නෙ.
ඒක මේ අනන්ත අප්‍රමාණ ☞

සක්වලවලින් මගුල් සක්වලකට විතරක් විශේෂයි. ඒ මගුල් සක්වලිනුත් අපි මේ ඉන්න ජම්බුද්වීපය තවත් විශේෂයි. මොකද ලොව්තුරා බුදුන් වහන්සේලා පහළ වෙන්නෙ මේ කියන ජම්බුද්වීපය මුල් කරගෙන.

දැන් මේ වගේ සක්වල දස දහසෙ පොදි වශයෙන් තමයි පිහිටල තියෙන්නෙ. එතකොට මේ වගේ දස දහසක් සක්වල කියන ඒවත් අප්‍රමාණයි. එබඳු කෝටි ලක්‍ෂයක් සක්වලක තවත් මගුල් සක්වලක් පිහිටන්නෙ නෑ. මගුල් සක්වලක් කියන එක ඒ තරම් දුර්ලභයි. මෙතනදි දස දහසක් සක්වල විදියට තියෙන ලෝක ධාතු හැදිච්ච ක්‍රමයක් තියෙනවා. චූලනී ලෝක ධාතු, මධ්‍යම ලෝක ධාතු සහ මහා ලෝක ධාතු කියන්නෙ ඒ ක්‍රමය. චූලනී ලෝක ධාතුවක් කියන්නෙ ඉර හඳෙන් එළිය ලබන දසදහසක් සක්වලක්. ඒ වගේ චූලනී ලෝක ධාතු දස දහසක් මධ්‍යම ලෝක ධාතුවකට අයිති වෙනවා. මධ්‍යම ලෝක ධාතු දස දහසක් මහා ලෝක ධාතුවකට අයිති වෙනවා. ඉතින් කෙළවරක් කියල කොහෙ හොයන්නද? එතකොට ඒ වගේ කෝටි ලක්‍ෂයක් සක්වල හෙවත් මහා ලෝක ධාතුවක් තමයි එක බුද්ධ ක්ෂේත්‍රයක් කියන්නෙ. අන්න ඒ වගේ මහා ලෝක ධාතුවක් තුල එක විට තවත් බුදුවරයන් වහන්සේ නමක් පහළ වෙන්නෙ නෑ.

ඉතින් එතකොට අපි මේ ඉන්න මගුල් සක්වලේ තියෙන දේවල් විතරක් පටිච්ච සමුප්පන්නව ගොඩ නැගිල තියෙන විදිය ඔක්කොම එකින් එක විග්‍රහ කරන්න ගියොත් ඒක කෙළවරක් නැති, හරයක් නැති නිශ්ඵල වෙහෙසක්. ඒව ගැන තවත් එහාට හොයන්න යෑමත් මේ කෙටි ජීවිත කාලය නිකරුණේ අපතේ යෑමක්. අන්තිමට ඒකෙන් ලැබෙන හරයක් නෑ. ඒව හෙව්වයි කියල, දැනගත්තයි කියල ලැබෙන නිවනක් නෑ. දැන් එතකොට කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, ඇයි එහෙනම් ඔය වගේ හරයක් නැති දේවල් ගැන මෙච්චර කලක් විග්‍රහ කළේ කියල. ඒකටත් හේතුවක් තියෙනවා. උදාහරණ විදියට කන්න බොන්න නැතිව හාමතේ බඩගින්නෙ අසහනයෙන් ඉන්න කෙනෙකුට, මොනව හරි වැඩක් පළක් කරන්න දුන්නට හරි යන්නෙ නෑ. ඒ බඩගින්න පිපාසාව නිවා ගන්න කල් ඒ මනුස්සයට වැඩක් පළක් කර ගන්න බෑ. එහෙම කරන්න තරම් මානසිකත්වයක් නෑ. හැබැයි ඒ මනුස්සයට පොල් සම්බෝලයි බතුයි හරි කන්න දීල කහට එකක් දුන්නත් වැඩක් පළක් කරගන්න පුළුවන් මානසික ශක්තිය ලැබෙනවා. ඊට එහා අධි සුඛෝපභෝගී ආහාර පාන නුදුන්නයි කියල ඒ මනුස්සයට වැඩක් පළක් කරගන්න බැරි කමක් නෑ.

මෙන්න මේ වගේ මේ නවීන විද්‍යා පර්යේෂණ ඔස්සේ අසීමිතව ලෝකය ගැන තොරතුරු හොයාගන්න දඟලන යුගයක, ඒ ගැන දැඩි උනන්දුවක් දක්වන මිනිස්සුන්ට එක පාරටම, ඕව හොයල වැඩක් නෑ, හරයක් නෑ කියල කිව්වට ඒක පිළිගන්නෙ නෑ, ඒ ගැන වටහා ගන්න පුළුවන් මානසිකත්වයක් නෑ. මොකද නවීන විද්‍යා පර්යේෂණවලිනුත් මේ ලෝකය ගැන යම් යම් දේවල් හොයාගෙන තියෙන නිසා, ඒ ගැන සැක හැරල දැන ගන්න මහත් කුතුහලයක් පිපාසාවක් මේ වෙන කොට බොහෝ පිරිස් අතර ඇති වෙලා තියෙනවා. හැබැයි ඒ දැන ගැනීමත් එක්තරා මට්ටමකට දැන ගත්තම නුවණැත්තන්ට සෑහීමකට පත් වෙන්න පුළුවන් මට්ටමක් එනවා. විශේෂයෙන් මේ වෙන කොට නවීන විද්‍යාව හමුවේ ප්‍රශ්නාර්ථයන්ට ලක් වෙලා තියෙන යම් යම් කරුණු කාරණා ගැන සත්‍යතාවය මොන ක්‍රමයකින් හරි දැනගන්න පුළුවන් නම් ඒ පිළිබඳ උනන්දුවක් දක්වන උදවිය එක්තරා මට්ටමක සෑහීමක්, තෘප්තියක් ලබනවා. අන්න ඒ සෑහීමේ මට්ටම ඊළඟ පියවරට යන්න හොඳටම ප්‍රමාණවත්. ඒ කියන්නෙ මේ කෙළවරක් නැති ලෝකයේ තොරතුරු, පර්යේෂණ කරල දැනගෙන අන්තිමට ලැබෙන හරයක් නෑ කියල අවබෝධ කර ගන්න, නුවණ වැඩිච්ච අයට ඒ ටික හොඳටම ප්‍රමාණවත්. එයින් එහාට තව තවත් දැන ගන්න දැඩි ආසාවක් කුතුහලයක් ආවත්, දැන් ඒ කාරණය එතනින් නවත්ව ගන්න පුළුවන් මානසිකත්වයකුත් ලැබෙනවා. ඒ කාරණය නුවණ තියෙන අයට තෝර ගන්න පුළුවන්. අන්න ඒ නිසා තමයි මෙච්චර කලක් මේ නවීන විද්‍යාවෙන් පවා හරියට කරුණු කාරණා හෙළි නොවෙච්ච, ඒත් බොහොමයක් උදවිය උනන්දුවෙන් කුතුහලයෙන් හොයන මේ නොපෙනෙන ලෝකයේ තොරතුරු එක්තරා ප්‍රමාණයකට ඉදිරිපත් කළේ.

ඒ නිසා මෙතනින් එහාට ඒ ගැන තවදුරටත් හාරා අවුස්සන එක කෙළවරක් නැති නිශ්ඵල වෙහෙසක්, කාලය අපතේ යාමක්. ඒ නිසා විශේෂයෙන් මේ බුද්ධෝත්පාද කාලයක දුර්ලභව ලැබුණ මනුස්ස අත් භවයෙන් අවුරුදු 70 ක් 80 ක් විතර ජීවත් වෙලා, වටිනා දහමක් අවබෝධ කරගන්න තියෙන ඒ කෙටි ජීවිත කාලය නිකරුණේ නිශ්ඵල දේවල්වලට යොදවන්නෙ නැතිව, මේ වටිනා දහම් මග අවබෝධ කර ගන්න උත්සාහ කරන්න ඕන. ඒ සඳහා මේ වගේ නොපෙනෙන ලෝකවල ස්වභාවය ගැන එක්තරා මට්ටමකට දැනගන්නත් ඕන. විශේෂයෙන් එහෙම දැනගන්න අවශ්‍ය කරන පිරිසක් ඉන්නවා. ඒ ඕන ටික තමයි මෙච්චර කල් ඉදිරිපත් කළේ. මේ නිසා මෙච්චර කලක් හෙළි කරපු මේ නොපෙනෙන ලෝකයන්ගේ ස්වභාවය දැන ගෙන නිකං ඉන්නෙ නැතිව ඒවායේ තියෙන පෙළෙන ස්වභාවය, අනිච්ච - දුක්ඛ - අනත්ත ස්වභාවය වටහා ගන්න උත්සාහ කරන්න ඕන.

මොකද මේ මොන ලෝකෙ වුනත් මේ ස්වභාවයන්ගෙන් අහක් වෙච්ච, කිසිම තැනක් නෑ. පැවැත්මක් තියෙන මේ හැම තැනකම දුක අනිවාර්යයි. ඉතින් ඕව ගැන මෙච්චර කලක් පර්යේෂණ කර කර හිටපු ආදි විද්‍යාධරයන් කොච්චර නම් හිටියද? ඒ අය ඒ දත්ත හොයාගෙන අන්තිමට එයිනුත් සෑහීමකට පත් නොවී තවත් හොයන අතර මගදි මැරුණ මිසක් ලැබිච්ච දෙයක් නෑ. දැන් ඉන්න අයට වුනත් ඕව ගැන අසීමිතව හෙව්වයි කියල අන්තිමට ලැබෙන දෙයක් නෑ. නිකං හිස් අතින් තමයි මැරෙන්න වෙන්නෙ. නමුත් එහෙම වෙන්න නොදී ඒ පර්යේෂණ කරල හොයාගත්ත තොරතුරු ලෞකික දියුණුවක් උදා කරගන්න යොදවන ගමන් මේ ලෝකවල සත්‍ය ස්වභාවය පෙන්වන්න, දුකෙන් මිදෙන්න උපනිශ්‍රය කරගන්න පුළුවන් නම්, එහෙම උපනිශ්‍රය වෙන විදියට ලෝකයට හඳුන්වා දෙන්න පුළුවන් නම්, ඒක කවුරු කළත් බොහොම වැදගත් දෙයක්. එහෙම කළොත් ඒ උත්සාහය ගඟට කැපුව ඉනි වගේ නොවී මතු යහපතට හේතු වෙනවා.

ඒ නිසා මෙච්චර කලක් ''අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්'' මාතෘකාව යටතේ ඉදිරිපත් කරපු ලිපි මාලාව මෙතෙකින් අවසන් වෙනවා. නමුත් මේ සඟරාවෙ පළවන වෙනත් විවිධ ලිපි ඔස්සේ යම් යම් කරුණු කාරණා පැහැදිලි කරන්න අවශ්‍ය වුනාම, තවත් ඒ වගේ නොපෙනෙන ලෝකවල විවිධ ස්වභාවයන් වගේම සැඟවිච්ච කරුණු කාරණාත් ඉදිරිපත් කෙරෙනවා. එහෙම ඉදිරිපත් කරන්නෙත් මේ ජීවත් වෙන ටිකට ලෞකික අභිවෘද්ධිය සලසා ගෙන, අවසානයේ මේ තුන් ලෝකයේම යථා ස්වභාවය වටහ ගෙන නිවන් මාර්ගයට උපනිශ්‍රයක් වෙන්න කියන අදහසින් මිසක්, දැනුම ගොඩ ගහගෙන මාන්නයෙන් වැජඹෙන්න නෙවෙයි. ඒ නිසා මෙතෙක් මේ ලිපි මාලාව කියවපු පිංවතුන් ඒ ලිපි සියල්ල ඔස්සේ ඉදිරිපත් කරපු කරුණු කාරණා සම්පිණ්ඩනය කරල නුවණින් මෙනෙහි කරල බලනව නම්, මේ හැම තැනකම තියෙන පෙළෙන ස්වභාවය, අනිච්ච - දුක්ඛ - අනත්ත ස්වභාවය, ඒත් එක්කම එන බිය, අසාර හිස් බව වටහා ගන්න පුළුවන්. එතකොට මේ කෙළවරක් නැති ලෝකවල තතු තව දුරටත් හොයල දැනගෙන පළක් නොවන බව වටහා ගෙන, මේ තුන් ලෝකයෙන්ම මිදීමේ නිවන් මගට පිවිසෙන්න පුළුවන්. ඒ සඳහා සියලු දෙනාටම මේ ලිපි මාලාවෙන් ඉදිරිපත් කරපු කරුණු කාරණා උපනිශ්‍රයක් වේවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ශබ්ද විද්‍යාවේ මූලධර්ම ගැන තවදුරටත්...

(පසුගිය කලාපයෙන් - පිරිත්, ගාථා, සෙත් කවි ආදියට සම්බන්ධ ශබ්ද විද්‍යාවේ ඇතුල් පැත්ත....)

මේ ශබ්ද විද්‍යාව ගැන කතා කරන කොට මේකට මුල පුරපු පැරණි සෘෂිවරුන් හඳුන්වා දීපු සිද්ධි, සාධ්‍ය, සුසිද්ධි, අරි වශයෙන් එන තවත් චක්‍රයක් තියෙනවා. සිද්ධි කියල කියන්නෙ ජයග්‍රහණය, යහපත, සමෘද්ධිය උදා වෙනවා කියන එක. සාධ්‍ය කියන්නෙ යම්කිසි රෝගාබාධ, දුක් කරදර ගෙන දෙනව කියන එක. සුසිද්ධි කියන්නෙ සිද්ධියේ ඉහළම තත්ත්වය හෙවත් යහපතේ උපරිම තත්ත්වය. අරි කියන්නෙ විනාශය. දැන් මේවායින් කියන්නෙ අකුරු පිහිටුවීමේ චක්‍රයක්. මෙතනදි මේවා මිශ්‍ර කරල ගන්න තවත් චක්‍රයක් තියෙනවා. සිද්ධි - සිද්ධි, සිද්ධි - සාධ්‍ය, සිද්ධි - සුසිද්ධි, සිද්ධි - අරි කියන්නෙ මේ එක ක්‍රමයක්. ඒ වගේම සාධ්‍ය - සිද්ධි, සාධ්‍ය - සාධ්‍ය, සාධ්‍ය - සුසිද්ධි, සාධ්‍ය - අරි කියන්නෙ තවත් ක්‍රමයක්. ඊළඟට සුසිද්ධි - සිද්ධි, සුසිද්ධි - සාධ්‍ය, සුසිද්ධි - සුසිද්ධි, සුසිද්ධි - අරි කියල තවත් ක්‍රමයක් තියෙනවා. ඒ විදියටම අරි - සිද්ධි, අරි - සාධ්‍ය, අරි - සුසිද්ධි, අරි - අරි කියල තවත් ක්‍රමයක් තියෙනවා.

දැන් මේ ක්‍රමයට වැටෙන අකුරු ක්‍රමයක් තියෙනවා. ඒ කියන්නෙ මන්තරයක් හරි සෙත් කවියක් හරි හදනව නම්, තමන්ගෙ නමේ මුලට තියෙන නැකතෙ ඉඳල, එහෙම නැත්නම් ඒ මන්තරයෙ හෝ සෙත් කවියෙ මුල් අකුරෙ ඉඳන් තමන්ගෙ නමේ මුල් අකුරට එන විදියට මේ දෙපැත්තටම ගණින ක්‍රමයක් තියෙනවා. ඒ ක්‍රමයෙදි ඒ මන්තරේ හෝ සෙත් කවියෙ මුලට තමන්ගෙ නමේ මුල් අකුරට හිමි නැකත ආවොත් ඒ අනුව තමයි හැදෙන ගණය අනුව එන මන්තරේ හෝ සෙත් කවිය ඒ පුද්ගලයට සුදුසුද නැද්ද කියල බලන්නෙ. මෙතනදි මන්තර ගන්න කොට ඒක හරි විශේෂයි. මොකද ඒවා එක දිගට දහස් ගණනින් ජප කරන කොට බල පිහිටනව වැඩියි. එතකොට ඒකෙ බලපෑමත් වැඩියි.

දැන් මේ කලින් කියපු චක්‍රයෙන් සිද්ධි, සුසිද්ධි කියන ඒවා සුභයි. ඒ වගේම සිද්ධි - සිද්ධි තවත් හොඳයි. සිද්ධි - සුසිද්ධි ඊටත් හොඳයි. සුසිද්ධි - සුසිද්ධි ආවොත් උපරිම හොඳයි. ඒ වගේම සාධ්‍ය, අරි කියන ඒවා අසුභයි. ඒවා ආවොත් මොනව හරි දෝසයක් එනවා. අරි - අරි කියල ආවොත් මරණය. මේ විදියට නරකට හිටින කොටත් හැමෝටම නරක වෙන්නෙ නෑ. උදාහරණ විදියට අරි - අරි ආවොත් තමන්ට විනාසය. හැබැයි ඒකෙන් තමන්ගෙ ඥාති පිරිසට විනාශයක් වෙන්නෙ නෑ. අරි - සාධ්‍ය හෝ සාධ්‍ය - අරි කියල ආවොත් තමන්ට විනාශයක් නොවුනට තමන්ගෙ ඥාති පිරිසට විනාශයක් වෙනවා. මේ මිශ්‍රවීම අනුව අවස්ථානුකූලව තමන්ට විනාශයක් වෙන දෙයක් ඥාති පිරිසට විනාශයක් ගෙන නොදෙන්න පුළුවන්. ඒ වගේම ඥාති පිරිසට විනාශයක් ගෙන දෙන දෙයක් තමන්ට විනාශයක් නොවෙන්න පුළුවන්. මේ විදියට පොදුවේ රටක වැසියන්ටත් බලපාන අවස්ථා තියෙනවා.

මේ දෝසත් බලපාන හැටි හොයන්න ශබ්ද විද්‍යාවේ හඳුන්වා දීපු විවිධ චක්‍ර තියෙනවා. **හැබැයි මේ කාරණය බුදු ගුණ ඇතුළු තෙරුවන් ගුණවලට බලපාන්නෙ නෑ.** උදාහරණ විදියට ඉතිපි සෝ භගවා, ඒවං මේ සුතං... ආදී වශයෙන් එන ගාථා, පිරිත් කවුරු භාවිතා කළත් තමන්ගෙ නම අනුව ඒවායින් බලපෑමක්, කරදරයක් වෙන්නෙ නෑ. මොකද වීත රාගී, වීත දෝසී, වීත මෝහී ගුණ තමයි මේ ගාථාවල, පිරිත්වල තියෙන්නෙ. ඒ නිසා ඒවා අප්‍රමාණ ශාන්තියටම හැඳිල තියෙන නිසා මේ සිද්ධි, සාධ්‍ය... ආදී වශයෙන් එන ක්‍රමය ඒවට බලපාන්නෙ නෑ. නමුත් ලෝකෙ ලෞකික කටයුතුවලට හදන මන්තර, සෙත් කවි ආදියට මේ ශාස්ත්‍රය බලපානවා. මොකද ලෝභ, ද්වේශ, මෝහවලින් කරන කටයුතුවලට අදාල ගුණ ඒවායේ තියෙන නිසා. මේ ශබ්ද විද්‍යාව වැරදිලා නරක අවස්ථාවක් යෙදුනොත්, ඒවායින් සමහර විට අනිටු ප්‍රතිඵල එන්න පුළුවන්.

ඊළඟට අකුරුවලට හිමි නැකැත් තියෙනවා. ඒ ඒ අකුරු මොන නැකතටද හිමි කියල බලාගන්න පුළුවන් චක්‍රයක් තියෙනවා. අකුරු කිව්වම මෙතනදි ඇත්තටම අකුරුවලින් එන ශබ්ද තමයි වැදගත් වෙන්නෙ. ඒ විදියට තමන්ගෙ නැකතෙ ඉඳල නැකත් ගණින ක්‍රමයක් තියෙනවා. ජන්ම හෙවත් උපන් නැකත, සම්පත් නැකත, විපත් නැකත, ක්ෂේම නැකත, ප්‍රත්‍යාරී නැකත, සාධක නැකත, වද නැකත, මෛත්‍රී නැකත සහ පරම මෛත්‍රී නැකත වශයෙන් 9 ක් තියෙනවා. දැන් මේ 9 ගණින කොට, තමන්ගෙ නමේ ඉඳල ඒ අකුරු එන්නෙ මොන නැකතටද කියල චක්‍රානුසාරයෙන් බලන්න ඕන. මෙහෙම ගණින කොට අස්විද, බෙරණ, කැති, රෙහෙණ ..... ආදී වශයෙන් එන නැකැත් 27 ම මේ කියපු ප්‍රධාන නැකැත් 9 ට අයිති වෙනවා. අස්විද නැකත ජන්ම නැකත විදිහට ආවොත් අස්විද, බෙරණ ... ආදී වශයෙන් ගණින කොට නැකත් 9 ක් ගිහින් ඊළඟට මා, පුවපල්...... ආදී වශයෙන් තවත් 9 ක් එනවා. ඊළඟට මුල, පුවසල... ආදී වශයෙන් නැවත වතාවක් අර නැකත් 9 එනවා. මේ විදියට මේ නැකත් 27 ගත්තම ජන්ම නැකත් 3 ක්, සම්පත් නැකත් 3 ක්, විපත් නැකත් 3 ක් ආදී වශයෙන් අර නැකත් 9 ටම මේ 27 න් 3 බැගින් අයිති වෙනවා. මේක තමයි චක්‍රයක් විදියට ගණින්නෙ. එතකොට මෙතනදි 9 බැගින් යන චක්‍ර 3 ක් තියෙනවා. මෙතනින් විපත්, ප්‍රත්‍යාරී, වද කියන නැකැත්වලට වැටෙන කොට ඒවා විසයි. ජන්ම, සම්පත්, ක්ෂේම, සාදක, මෛත්‍රී සහ පරම මෛත්‍රී කියන නැකැත් හොඳයි, සුභ ඵල ගෙන දෙනවා. මේ චක්‍රානුසාරයෙන් ගලපල බලන කොට තමන්ට වැටිල තියෙන්නෙ මොන ජාතියෙ විනාශයක් වෙන එකක්ද, එහෙම නැත්නම් ඒක යහපත් එකක්ද කියල බලන්න ඕන. ඒක හරි ගැඹුරු ශාස්ත්‍රයක්. ඔය විදියට බලන කොට වද හෝ විපත් එකක් එහෙම ආවොත් ඒවා මුලට ගන්නෙ නෑ.

මෙතනදි හැම කෙනෙක්ගෙම උපන් වෙලාවට නැකතක් තියෙනවා. ඒ වගේම ඒ නැකතට හිමි අක්ෂර මාලාවක් තියෙනවා. ජන්ම අක්ෂර, සම්පත් අක්ෂර, විපත් අක්ෂර.... ආදී වශයෙන් කියන්නෙ ඒ අක්ෂර මාලාව. මේ අනුව හොඳ එකක් තමයි තෝර ගන්න ඕන. එතනදි ජන්ම, සම්පත්, ක්ෂේම, සාදක, මෛත්‍රී සහ පරම මෛත්‍රී කියන මේ අක්ෂර හොඳයි. ප්‍රත්‍යාරී සහ වද කියන ඒව ගන්නෙ නෑ. ඒව දොස් සහිතයි. මේ ගන්න චක්‍රයත් හරි ගැඹුරුයි. කෙනෙකුට නමක් තියන කොටත් ඒ අක්ෂර, ගණ බැලුව වගේම ඒ නමට ගැලපෙන නැකතත් බලන්න ඕන. තවත් සියුම්ව බලනව නම් පාද ගනින්නත් ඕන. පාදයක් කියන්නෙ නැකතකට හිමි කාලය 4 ට බෙදල එක කොටසක්. ඒකෙ පළමු කොටස පළමු පාදය ලෙසත්, 2 - 3 - 4 වන කොටස් දෙවන, තුන්වන, හතරවන පාද ලෙසත් හඳුන්වනවා. එතකොට පාද 4 ට අකුරු 4 ක් වැටෙනවා. ඒ කියන්නෙ ඒ පුද්ගලය උපදින කොට පායල තියෙන නැකතෙ කී වෙනි පාදයද කියල. උදාහරණ විදියට අස්විද නැකතේ 2 වන පාදය කිව්වම ඒ පුද්ගලය උපදින කොට යෙදිච්ච නැකත තමයි අස්විද. ඒකෙ ☞

දෙවන පාදයෙන් තමයි ඉපදිලා තියෙන්නෙ. එතකොට ඒකට ගැලපෙන යම්කිසි අකුරු තියෙනවා. ඒ පුද්ගලයට ගැලපෙන හොඳම අකුරු ටික හොයාගන්න ඕන. එතන ඉඳල ජන්ම, සම්පත්, විපත් ... ආදී වශයෙන් ඒ නැකත් 9 රවුමට ගැනගෙන යන්න ඕන. එහෙම පෙරාගෙන ගිහින් හොඳම අකුරු හොයාගන්න මේ ක්‍රමයට පුළුවන්. ඒ චක්‍රය පොත්වල තිබුණට ඒක තෝරගන්න හොඳ ගණිත නුවණක් අවශ්‍යයි. එහෙම නැති අයට ඒක වටහ ගන්න අමාරුයි. හැබැයි ක්‍රමය අල්ල ගත්තට පස්සෙ හරි පහසුයි.

දැන් මේ විදියට අක්ෂර, ගණ, මාත්‍රා, නැකත් ආදී සියල්ලම ගැනල බලල තමන්ට ගැලපෙන නම් ගම්, ඒ වගේම තමන්ගෙ ව්‍යාපාර, නිර්මාණයන්ට ගැලපෙන නම් ආදිය හොයාගන්න පුළුවන් ගැඹුරු විද්‍යාවක් තමයි මේ ශබ්ද ශාස්ත්‍රය කියන්නෙ. මේ හැම එකකම සුභ අසුභ කියල දෙපැත්තක් තියෙනවා. වචන ගත්තත් සෙත් වචන, දොස් වචන කියල වර්ග 2 ක් තියෙනවා. හරියට පින් පව් වගේම තමයි. මේ ඔක්කොම ඉතින් පටිච්ච සමුප්පාද චක්‍රයෙන් ගොඩ නැගිච්ච මනුස්සයින්ගෙ ක්‍රියා කලාපවල ප්‍රතිඵල මිසක් අහඹු ලෙස හට ගත්ත ඒව නෙවෙයි. මේ වගේ චක්‍රානුසාරයෙන් තමන්ට ගැලපෙන අකුරු, නම් ආදිය තෝරා ගැනීමෙන් මෙලොව ජීවත් වෙන කොට කරදර බාධක අවම කරගෙන ලෞකික අභිවෘද්ධිය උදා කරගන්න ක්‍රමයක් තමයි මේකෙන් පෙන්වන්නෙ. එතකොට ශබ්ද ශාස්ත්‍රය ගැඹුරින් විමසා බලන තරමට තමයි ඒකෙන් උපරිම ප්‍රතිඵල ලබාගන්න පුළුවන් වෙන්නෙ. මේවා මුකුත්ම බලන්නෙ නැතිව, කොටින්ම කියනව නම් මේ ශබ්ද ශාස්ත්‍රයේ මූලික මූලධර්මවත් නොසලකා කටයුතු කිරීමෙන් නොයෙක් කරදර, විනාශයන් වෙන්න පුළුවන්.

උදාහරණයක් විදියට ශබ්ද ශාස්ත්‍රය පොඩ්ඩක්වත් ගණන් නොගෙන හදපු, ජනතාව අතරට පොදුවේ දෙන යම්කිසි ගීතයක් ගත්තොත් ඒක හදපු අයට, කියන අයට මේ වගේ අවස්ථා ආවොත් දෝස එන්න පුළුවන්. නමුත් මේ ශබ්ද සාස්තරේ වැරදුනු නිසා එහෙම වුනයි කියල ඒ අය නොදැන ඉන්න පුළුවන්. සමහර ගීතවලට එහෙම බලපෑම් තියෙනවා. සමහරවිට මර ගණයකින් පටන් ගත්තොත් ඒ පුද්ගලයට මරණය සිද්ධ වෙන්නත් පුළුවන්. එහෙම නැත්නම් හිටි ගමන් නොයෙක් විපත් කරදර එන්න පුළුවන්. හැබැයි මූලික ගණය මර වුනයි කියල ඒකෙන්ම නරකක් නොවෙන්නත් පුළුවන්. තවත් ගැඹුරට බලාගෙන යන කොට ඒ දෝසය කැපෙන අවස්ථාත් යෙදෙන්න පුළුවන්. එතකොට එහෙම මරණයක් යෙදෙන්න නම් මුල් ගණය මර ගණ වෙන්නත් ඕන. ඒ වගේම අරි - අරි වෙන්නත් ඕන. ඒ පුද්ගලයගෙ නමට බැලුවොත් එහෙම, විස නැකතක් යෙදිල තියෙන්නත් ඕන. මේක තවත් එහාට බලාගෙන යන කොට, ගීතයක් නම් ඒකෙ අකුරු ගණන සියල්ලම හොයා ගෙන ඒ අකුරු ගණන අදාල චක්‍රයෙන් බෙදල බලන තවත් ක්‍රමයක් තියෙනවා. ඒකෙනුත් හොයන්න පුළුවන් තමන්ට විනාශයක්ද, යහපතක්ද වෙන්නෙ කියල. ඒකත් අර සිද්ධි ශාස්ත්‍රය ආදිය වගේ මනින ක්‍රමයක්. ඒ වගේම එහෙම බෙදුවට පස්සෙ ඉතිරි වන අකුරු ගණන අනුව ඒ පුද්ගලයට ඒකෙන් වෙන බලපෑම කියන්නත් පුළුවන්. එතකොට අයහපතක් නම් ඒ අකුරු වෙනස් කරල හදල ගලපල ගන්නත්



පුළුවන්. මේ ආදී වශයෙන් මේ සියල්ලම නරකට ගැලපිලා තිබුණොත් ඒ පුද්ගලයගෙ මරණය ඉක්මන් වෙන්න පුළුවන්. සමහර විට කිසිම අසනීපයක් නැතිව හිටිගමන් මැරෙන්න පුළුවන්. අන්න ඒ වගේ දෙයක් මේ වගේ දෝසයක් නිසා එන්න පුළුවන්. ඒවත් ඉතින් කර්ම විපාක අනුවම තමයි එහෙම ගැලපිලා එන්නෙ.

දැන් මේ පසුගිය කලාපයෙන් විස්තර කරපු ගණ වගේම මේ ලිපියෙන් විග්‍රහ කරපු සිද්ධි, සාධ්‍ය, සුසිද්ධි, අරි ආදියත් ගණන් ගැනෙන්නෙ තැනට ඔබින විදියට. ඒවා හැම තිස්සෙම සුභ, අසුභ නෑ. අසුභ සුභ වෙන අවස්ථාත් තියෙනවා. ඒ වගේම නොගැලපෙන විදිහට කළොත් සුභ අසුභ වෙන අවස්ථාත් තියෙනවා. ඒක ගැඹුරු විද්‍යාවක්. ඒ වගේම අකුරු ගත්තමත් යම්කිසි විදියකට දුක් කරදර බාධක ඇති කරන අකුරු තියෙනවා. ඒ වගේම ජයග්‍රහණය, ශාන්තිය උදා කරන අකුරු තියෙනවා. උදාහරණ විදියට දේව අක්ෂර ගුණ ධර්ම ඇති කරන්න හේතු වෙනවා. ගිනි අක්ෂර ගිනි හටගන්වන්න හේතු වෙනවා. වායු අක්ෂර වායු හටගන්වන්න හේතු වෙනවා. සූර්ය අක්ෂර ප්‍රසිද්ධිය ඇති කරන්න හේතු වෙනවා. චන්ද්‍ර අක්ෂර ශාන්තිය හට ගන්වන්න හේතු වෙනවා. භූමි අක්ෂර පොළොවෙ යමක් ස්ථිරව පිහිටවන්න, එහෙම නැත්නම් වගා කටයුතු ආදියට යොදා ගන්නවා. ජල අක්ෂර යම්කිසි දෙයක් දිය කර හරින්න, සිසිල් කරන්න යොදා ගන්නවා.

ඊළඟට මේ ශබ්ද විද්‍යාවත් එක්කම යෙදෙන යන්ත්‍ර, මන්ත්‍ර, තන්ත්‍ර, ස්තෝත්‍ර කියල කොටසක් තියෙනවා. ඒවා ගැනත් කෙටියෙන් දැන ගත්තම ප්‍රමාණවත්. යන්ත්‍ර කියන්නෙ තහඩුවක ශාස්ත්‍රානුකූලව ඇඳල යම්කිසි විදියට ශබ්ද ශක්තිය ගැබ් කරන ක්‍රමයක්. යහන් තර කරනවා කියන එක තමයි යන්තර කියන්නෙ. යහන කියන්නෙ යමක් පිහිටවනවා කියන එක. මන්තර කියන්නෙ තැනට ගැලපෙන අක්ෂර, ගණ, බල, මාත්‍රා පිහිටුවල ජප කරන දෙයක්. මන් කියන්නෙ මනස. මනස තර කරන එක තමයි මන්තර කියන්නෙ. ඒ කියන්නෙ මනසෙ බලය වර්ධනය කරනවා. තන්ත්‍ර කියන්නෙ යම්කිසි ස්ථානයක් ක්ෂණයකින් තර කරල, බලවත් කරල දෙන එක. ඒක ඉතාම සුළු වචන හෝ අකුරු කිහිපයකින් මහා බලයක් නගන ක්‍රමයක්. අත්‍යවශ්‍ය අකුරු කිහිපයක් අරගෙන එක පාරටම හඬ නගනවා. හරියට මිසයිල ප්‍රහාරයක් වගේ. ඒව තදබල අකුරුවලින් හදන්නෙ. එතකොට නිකං වෙඩිල්ලක් පත්තු වුනා වගේ මහා බලයක් නැගෙනවා. මේවත් කටින් කියන මන්ත්‍ර වගේම ජාතියක්. එතකොට ඕං නමෝ කියල පටන් ගන්නෙ මන්තර. තන්ත්‍ර (තන්තර) කියන ඒවා එහෙම නෙවෙයි, එක පාරටම හිටි ගමන් කියනවා. උදාහරණ විදියට දිව් දහ් !... කියල කියන කොට විශාල ශක්තියක් පිට වෙනවා. හැබැයි වචන කෙටියි. මන්තර වගේ හෙමිහිටි කිය කියා ඉන්නෙ නෑ. මේවා කාලම්වලට යොදා ගන්නවා. ඒ කියන්නෙ යම්කිසි කෙනෙක් ගහන්න, කරදර කරන්න එනව නම්, මේ ශක්තිය නගපු කෙනෙක් දිව් දහ් !... කියල අත දික් කළාම, ඒ පුද්ගලයට කරදර කරන්න, පහර දෙන්න තියෙන ශක්තිය නැතිව ඇදගෙන වැටෙනවා. ඒ වගේම යම් කිසි අමනුස්සයෙක් පහර දෙන්න එනකොටත් ඒ ශක්තිය තියෙන කෙනෙක් දිව් දහ් !.. කිව්වම ඒ අමනුස්සය ඉබේම වැටෙනවා. ධෛර්යය බිම දානවයි කියන එක තමයි ☞

දිව් දහ් !... කියන්නෙ. ඒ වගේම යම් කිසි කෙනෙක් ගහන්න එන කොට ඒ වගේ ශක්තිය තියෙන කෙනෙක් හජ් !... කියල එක පාරටම අත දික් කළොත්, ඒ ගහන්න එන පුද්ගලයා ගල් ගැහෙනවා. එතකොට ගහන්න හෙල්ලෙන්න බැරි වෙනවා.

ඊළඟට ස්තෝත්‍ර කියන්නෙ තමන්ගෙ ඉෂ්ට වූ දේවත්වය තර කරල දෙන එක. ඒ නිසා තමයි ඒවා දෙවියන්ට කන්නලව් කරන්න යොදා ගන්නෙ. එහෙම කන්නලව් කරල, දෙවියන්ගෙ හිත සන්තෝස කරල පිහිට ඉල්ලනවා. ඉතින් මේ කියන හැම එකක්ම ශබ්ද විද්‍යාව මුල් කරගෙන තමයි හැදිල තියෙන්නෙ. මෙලොව ජීවත් වෙන කොට මිනිස්සුන්ට ලෞකික අභිවෘද්ධිය උදා කර ගෙන, කරදර බාධක අවම කර ගන්න තමයි මේ වගේ දේවල් පෙර හිටපු ඍෂිවරු මුලින්ම හඳුන්වා දීල තියෙන්නෙ. නමුත් පසු කාලෙක මිනිස්සු තණ්හාවෙන් බරිත වෙලා දූෂිත වෙන කොට ඒවා නරකට යොදා ගන්නත් පුරුදු වුණා.

ඉතින් මේ ශබ්ද විද්‍යාවෙ එන කාරණාවලින් පවා තේරුම් ගන්න ඕන වැදගත් දෙයක් තියෙනවා. **අපි අපිට ඕන විදියට ශබ්ද, වචන යොදා ගෙන මොන මොන දේ කළත් ඒවා අපට ඕන විදියට, අපි බලාපොරොත්තු වෙන විදියට ප්‍රතිඵල උදා කරල දෙන්නෙ නෑ. මොකද මේ ශබ්ද විද්‍යාව කියල එකක් තියෙන නිසා. ඒකත් අපි කැමති විදියට නෑ.** සමහර විට යහපතක් වෙන්න කියන බලාපොරොත්තුවෙන් කරපු දෙයක් ශබ්ද විද්‍යාව වැරදීම නිසා නරකට හිටල විනාශය අත් කරල දෙන්නත් පුළුවන්. නමුත් ඒකෙන් ඒ විනාශය සිද්ධ වුනයි කියන කාරණය ඒ අය දන්නෙත් නෑ. මොකද මේ ශබ්ද විද්‍යාව ගැන පැහැදිලි කිරීමක් අද වෙන කොට විද්‍යානුකූලව කෙරෙනව බොහොම අඩුයි. ඉතින් මේ ලෝකෙ අපි අද මනුස්සයො වශයෙන් ඉපදිලා ජීවිතය ගැට ගහ ගන්න නොයෙක් දේවල් කියනවා, කරනවා. විවිධාකාර විදියෙ නම් තියනවා, සෙත් කවි කියනවා, කන්නලව් කරනවා, මන්තර කියනවා, යම්කිසි රසාස්වාදයක් ලබන්න නොයෙක් සින්දු, කවි කියනවා. මේ වගේ විවිධාකාර කටයුතු කළත් අපි ඒ පාවිච්චි කරන වචන ආදිය මේ ශබ්ද විද්‍යාවට අනුකූල නොවුනොත් අපි බලාපොරොත්තු වෙන විදියට ඒ කටයුතු සිද්ධ වෙන්නෙ නෑ. මේ කාරණය දැන ගන්න වෙනම නුවණක්, ඥානයක් තියෙන්න ඕන. එහෙම නැත්නම් වෙනම මහන්සියෙන් ශබ්ද විද්‍යාව හදාරල තියෙන්න ඕන. ඉතින් මේ වගේ කටයුතුවලට මිනිස්සු කාලය, ශ්‍රමය, මුදල් වියදම් කරගෙන මේ පොළොවෙ පය ගහල ජීවත් වෙන්න කොච්චර නම් සටනක් දෙනවද? අන්තිමට ඒ එකක්වත් කැමති විදියට සිද්ධ වෙන්නෙ නැතිව දුකෙන් දාහයෙන් මිය පරලොව යනවා.

**එතකොට මේ කියන වචනවත් අපට ඕන විදියට පළ දෙන්නෙ නැත්නම්, අපට ඕන විදියට පාවිච්චි කරන්නත් බැරි නම්, එතනත් තියෙන අනිච්චතාවය තේරුම් ගන්න ඕන. මොන වැඩේ කරන්න ගියත් අන්තිමට මේ අනිච්චතාවයෙන් අපිව වෙලා ගන්නවා.** අපේම ක්‍රියාකාරීත්වයෙන් පටිච්ච සමුප්පන්නව ගොඩ නැගිච්ච මේ ලෝකෙ තියෙන ඒ පටිච්ච සමුප්පාද සිද්ධාන්තය තේරුම් ගන්න කල් අපට මේවට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. ඒ නිසා මේ ශබ්ද විද්‍යාව ගැන ඉදිරිපත් කෙරෙන කරුණු කාරණාවලින් වුනත්, ජීවත් වෙන්න මෙච්චර සටනක් දෙන්න වෙන මේ ලෝකයේ යථා ස්වභාවය දැන ගෙන, මේ දුකින් පිරිච්ච ලෝකයෙන් නිදහස් වෙලා අමා මහ නිවන් සුවය උදා කර ගන්න හැමෝම උත්සාහ කරන්න ඕන. එතෙක් ජීවත් වෙන ටික කාලෙට හෝ කරදර බාධක අවම කරගෙන යහපතින් ඉන්න පුළුවන් විදියට වැඩ කටයුතු සිද්ධ කරගන්නත්, අවසානයේ ලෝකයේ යථා ස්වභාවය දැන ගන්නත් තමයි මේ ශබ්ද විද්‍යාව ගැන යම් පමණකට හෝ මේ විදියට කරුණු ඉදිරිපත් කරන්නෙ. නමුත් ඒකත් මහ ගැඹුරු විද්‍යාවක් නිසා ඒ සියලු කරුණු කාරණා මේ විදියට කියන්න පුළුවන්කමක් නෑ. ඒවායේ මූලධර්මවත් හේතුඵල අනුව ඉදිරිපත් කරන්නෙ නැති නිසා අද වෙන කොට හුඟ දෙනෙක් මේ ගැන සැක හිතල ගණන් නොගන්න තත්ත්වයට පත් වෙලා තියෙනවා. අන්න ඒ කාරණය යම් පමණකට හරි සැක හැරල දැන ගන්න තමයි, මේ ශබ්ද විද්‍යාවේ භාවිතා වන මූලධර්ම ගැන හේතු ඵල සහිත කෙටි විග්‍රහයක් මේ විදියට ඉදිරිපත් කරන්නෙ. ඉතින් ඒ මූලධර්ම ගැන වැඩිපුර විස්තර අවශ්‍ය පිංවතුන්ට ඒ සම්බන්ධ පොත් පත් හදාරල, දන්න කියන අයගෙන් තවත් කරුණු කාරණා දැන ගන්න පුළුවන්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 29 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** ♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ රික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ ප්‍රසාද් සිල්වා මහතා - දෙල්ගොඩ ♦ නිමල් කරුණාරත්න මහතා - යසත ස්ටුඩියෝ, ගංගොඩවිල ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායකවූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** ♦සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව -ගල්කිස්ස - රු. 10,000/- ♦ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු.5,000/- ♦ කැළුම් ලංකේශ්වර මහතා ඇතුළු පවුලේ සැම - නෙළුව- රු. 5,000/- ♦ චරිත් ඉන්දික මහතා - ඉතාලිය - රු. 5,000/- ♦ සිසිර සිරිවර්ධන මහතා සහ ඔස්ටින් ප්‍රනාන්දු මහතා - පොල්ගහවෙල - රු. 5,000/- ♦ එල්.ඩී. මධුරප්පෙරුම මහතා ඇතුළු පවුලේ සැම - මහනුවර - රු. 5,000/- ♦ එමිල් ප්‍රියශාන්ත මහතා - ඉතාලිය - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/-♦ පුෂ්පික ගයාන් ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා - ගල්කිස්ස - රු. 3,000/- ♦ පද්මාවතී සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500 ♦ මානෙල් කටුගම්පොළ මහත්මිය - මහරගම - රු. 2,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ♦ කේ.එච්. රණසිංහ මහතා සහ එච්.එම්. කුසුමාවතී මහත්මිය - පොල්ගහවෙල - රු. 2,000/- ♦ දැඩිමුණි නිසල් කුමාර මහතා සහ නිවන්ති වීරතුංග මහත්මිය - මහරගම - රු. 2,000/- ♦ සුරේෂ් හේවාමාන්න මහතා - නුගේගොඩ - රු. 2,000/- ♦ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල - රු. 1,500/- ♦ මධුභානි කළුවැව මහත්මිය - මාලබේ - රු. 1,500/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ තිරෝෂ් සපරමාදු මහතා - කොච්චිකඩේ - රු. 1,400/- ♦ ගුවන් හමුදාවේ රජයේ විගණකවරුන්ගේ සංගමය - රු. 1,200/- ♦ එම්. ජේ. එන්. මල්කාන්ති ප්‍රනාන්දු මහත්මිය - අලුත්ගම - රු. 1,100/- ♦ ඩබ්. විලියම් මහතා - දෙහිඅත්තකණ්ඩිය - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාකා ජයසිංහ මහත්මිය- බොරලැස්ගමුව - රු. 1,000/- ♦ එච්.කේ. තිලකලතා මහත්මිය - කිරුළපන - රු. 1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා-කුරුණෑගල - රු. 1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා

හර්ෂනී ලියනගේ මෙනෙවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ කේ. අමරතිලක මහත්මිය - මහරගම - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ අනුරුද්ධ ඉද්දවෙල මහතා - කඩවත - රු. 1,000/- ♦ චන්ද්‍රිකා අබේසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නෙළුව - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ අසිත දේවින්ද මහතා - ගිජිදාගම - රු. 1,000/- ♦ සී. එම්. පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ සෝමා කස්තුරිආරච්චි මහත්මිය - අල්ගම - රු. 1,000/- ♦ අසංක ප්‍රේමතිලක මහතා - මරදගහමුල්ල - රු. 1,000/- ♦ ලාල් ජීවන්ත මහතා - වලස්මුල්ල - රු. 1,000/- ♦ එම්. තිලකරත්න බණ්ඩාර මහතා සහ ඩී. ඒ. රේණුකා කුමාරි මහත්මිය - පඬුවස්නුවර - රු. 1,000/- ♦ කරුණා මහවත්ත මහත්මිය - පාදුක්ක රු. 1,000/- ♦ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - පහළ බෝමිරිය - රු. 1,000/- ♦ සමින්ද ජයවර්ධන මහතා - මාකොල උතුර - රු. 1,000/- ♦ ස්වර්ණා සෝමරත්න මහත්මිය - දඹුටුව රු. 1,000/- ♦ කේ. ලියනාරච්චි මහත්මිය - රදාවෙල - රු. 1,000/- ♦ පී. ඩී. නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ රු. 1,000/- ♦ දයා ගමඇතිගේ මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 1,000/- ♦ ජයනාත් සුභසිංහ මහතා - මාකුඹුර - රු. 1,000/- ♦ ශමීන් බණ්ඩාර මහතා - උඩුබැද්දාව - රු. 1,000/- ♦ පුබුදු කමල් දසනායක මහතා සහ කණිෂ්කා නුවන්ජිනි මහත්මිය - හොරණ - රු. 1,000/- ♦ වීණා අතුකෝරාළ මහත්මිය සහ ජනිඳු බිම්සර පුතා - මීරිගම - රු. 1,000/- ♦ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, නදිනි වික්‍රමසිංහ මෙනවිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, පතිරණ විජේතිලක මහතා - හෝකන්දර, චතුර මල්වාන මහතා - කෑගල්ල, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, ශාන්ත මාරසිංහ මහතා - මහනුවර, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, ඩී.එම්. එල්. පුෂ්පකුමාර මහතා - වාරියපොල, ශ්‍රී රංජිත්සිංහ මහතා - කැළණිය, අජිත් ප්‍රියන්ත මහතා - කෑගල්ල, ඒ.ඩබ්. විජේසිංහ මහතා - මීගොඩ, එච්.එම්.පී. විමලසිරි මහතා - ඇරැපොළ, වෛද්‍ය අබේකෝන් එම්. ජයරත්න මහතා - හෝමාගම - රු.8,000/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 117,700/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 10,140/- ♦ සම්පූර්ණ වියදම - රු. 242,640/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල.
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
14. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල)

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# අපමණ සසරේ...

අපමණ සසරේ ආ දුර වැඩි බව දැනුණා සිතිවිලි බර දැනුණා
සැඟවුණු දම් කඳ සවනත වැකුණා පෙර නොඇසූ දම් හඬ ඇසුණා
ගිනියම් වූ සිත සිසිල් ජලාසෙක නහවා දම් වතුරේ ගිලුණා
රිසි සේ නැති ලොව දුකින් පිරී බැවින් අසාර වූ දෙයකැයි හැඟුණා.....

තිබුනට ලස්සන පෙන බුබුලක සොබ අසුරු සැණින් වැනසෙනු පෙනුණා
මායා බුබුලේ ආස්වාදයට රැවටුණු බව නුවණට දැනුණා
කැඩෙන බිඳෙන ලොව ලස්සන වෙන්නේ කෙලෙසද යන පැනයක් නැඟුණා
සැප පෙන්වා දුක් ගිනි දෙන ලෝකය සුන්ව ගියත් මොකදෝ හැඟුණා.....

උපන් දා පටන් කළ කී දෑ සැම කෙමෙන් අතීතෙට ගොස් ගෙවුණා
හොඳයි සැපයි කියමින් සිටි ලෝකයෙ මතකය පමණක් ඉතිරි වුණා
සැමදා සැම ලෝ පවතී නම්, මේ ලෙස සිදුවන බව හැඟුණා
බුදු හිමි වැඩියා සදහම් දෙසුවා සසර දුකින් මිදුණයි දැනුණා.....



# රිසි සේ නොතිබෙන ලෝකය...







රිසි සේ නොතිබෙන ලෝකය හමුවේ
ඉකි බිඳිනා තුන් ලොවේ සතුන්
ඒ බව නොදැනම සෝ සන්තාපෙන්
අනාත ගමනක දුවයි නිතින්
අනන්ත සසරේ මැරී මැරී ඉපදී
නිමා නොවී ගිනි දැවෙන සිතින්
වෙහෙස වෙවී ගොඩ නගනා පැතුමන්
කවදා ඉටු වෙද කෙලෙස ඉතින්
සෝ සුසුම්.....







දෙව් බඹ මනු ලෝ සතර අපා ලෝ
තිස් එක් තලයේ සුවය පතා
කිව් දේ කළ දේ සිතූ දේ නොම වේ
කිසිදු හරයක් ලැබුනෙ නැතා
භවයක් හැර තව භවයක් තනමින්
නොසිඳෙන අස්වැසුමකට සිතා
ජලයක් යැයි මිරිඟුව පසු පස යන
මුව රැල මෙනි ලෝ සියලු සතා
පෑ බොඳ වූ පැතුම්.....







ලොව්තුරු බුදුවරු පෙන්වන තෙක් ලොව
කිසිවෙක් නොදුටුව සැපෙහි දුකා
ගව් ගණනින් මරු කතර ගෙවා ගෙන
තවමත් දුව ඇවිදිනව කකා
දුකෙහි ගිලුණු සැප සැපයක් ලෙස නොව
බොරුවක්මයි නුවණින්ම දැකා
මිදුණු දාට මේ වන් ලෝකෙන් තව
කුමන දෙයක් කුමකටද රැකා
ඒ නිවනයි උතුම්.....



ගී පද රචනය : නීතිඥ චන්දන සිරිවර්ධන
තනු නිමැවුම සහ සංගීතය : නවරත්න ගමගේ
ගායනය : ටී. එම්. ජයරත්න





නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී